# බුද්ධ ධර්මය

## 7 ශ්‍රේණිය

අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුව



සියලු ම පෙළපොත් ඉලෙක්ට්‍රොනික් මාධ්‍යයෙන් ලබා ගැනීමට
www.edupub.gov.lk වෙබ් අඩවියට පිවිසෙන්න.

# ශ්‍රී ලංකා ජාතික ගීය

ශ්‍රී ලංකා මාතා
අප ශ්‍රී ලංකා, නමෝ නමෝ නමෝ නමෝ මාතා
සුන්දර සිරිබරිනී, සුරැඳි අති සෝබමාන ලංකා
ධාන්‍ය ධනය නෙක මල් පලතුරු පිරි ජය භූමිය රම්‍යා
අපහට සැප සිරි සෙත සදනා ජීවනයේ මාතා
පිළිගනු මැන අප භක්ති පූජා
නමෝ නමෝ මාතා
අප ශ්‍රී ලංකා, නමෝ නමෝ නමෝ නමෝ මාතා
ඔබ වේ අප විද්‍යා - ඔබ ම ය අප සත්‍යා
ඔබ වේ අප ශක්ති - අප හද තුළ භක්ති
ඔබ අප ආලෝකේ - අපගේ අනුප්‍රාණේ
ඔබ අප ජීවන වේ - අප මුක්තිය ඔබ වේ
නව ජීවන දෙමිනේ නිතින අප පුබුදු කරන් මාතා
ඥාන වීර්ය වඩවමින රැගෙන යනු මැන ජය භූමි කරා
එක මවකගෙ දරු කැල බැවිනා
යමු යමු වී නොපමා
ප්‍රේම වඩා සැම භේද දුරැර ද නමෝ නමෝ මාතා
අප ශ්‍රී ලංකා, නමෝ නමෝ නමෝ නමෝ මාතා

## අධ්‍යාපන අමාත්‍යාංශයේ බෞද්ධ උපදේශක මණ්ඩලය විසින් අනුමත කරන ලද ගුරු වන්දනා ගාථාව සහ අධිෂ්ඨාන පද්‍යය

### ගුරු වන්දනා ගාථාව

ඕවාද සිප්ප දානේන
සික්ඛාපේති මමං ගරු
සගාරවේන චිත්තේන
අහං වන්දාමි තං ගරුං

ඔවා සිප් දීමෙන
මා හික්මවන පේමෙන
ඇදුරු හද බැතියෙන
වඳිමි ගරු සිත පෙරටු කරමින

### පාසල් උදෑසන රැස්වීම අවසානයේ කෙරෙන අධිෂ්ඨානය

තෙරුවන පුදා සිහිකර මාපිය දෙදෙන
ගුරු සිත දිනා ඔප කර ගෙන ගුණ නුවණ
කරමින සබා විදුහල් මැණිගෙ සිහින
සුරකිමි සදා මගෙ රට ජාතිය සසුන

රචක: පූජ්‍ය ගන්තුනේ අස්සජී හිමි

**අපි වෙමු එක මවකගෙ දරුවෝ**
**එක නිවසෙහි වෙසෙනා**
**එක පාටැති එක රුධිරය වේ**
**අප කය තුළ දුවනා**

**එබැවිනි අපි වෙමු සොයුරු සොයුරියෝ**
**එක ලෙස එහි වැඩෙනා**
**ජීවත් වන අප මෙම නිවසේ**
**සොඳින සිටිය යුතු වේ**

**සැමට ම මෙත් කරුණා ගුණෙනී**
**වෙළී සමගි දමිනී**
**රන් මිණි මුතු නො ව එය ම ය සැපතා**
**කිසි කල නොම දිරනා**

**ආනන්ද සමරකෝන්**

# පෙරවදන

ලෝකය දිනෙන් දින සංවර්ධනය කරා පියමනින විට අධ්‍යාපන ක්ෂේත්‍රය ද සැමවිටම අලුත් වෙයි. එබැවින් අනාගත අභියෝග සඳහා සාර්ථක ලෙස මුහුණ දිය හැකි ශිෂ්‍ය ප්‍රජාවක් බිහිකරලීමට නම් අපගේ ඉගෙනුම් ඉගැන්වීම් ක්‍රියාවලිය ද නිරතුරුව සාධනීය ප්‍රවේශ වෙත ළඟාවිය යුතු ය. එයට සවියක් වෙමින් නවලොව දැනුම සමීප කරන අතරම, යහගුණයෙන් පිරිපුන් විශ්වීය පුරවැසියන් නිර්මාණය කිරීමට සහයවීම අපගේ වගකීම වේ. ඉගෙනුම් ආධාරක සම්පාදන කාර්යයෙහි සක්‍රිය ලෙස ව්‍යාවෘත වෙමින් අප දෙපාර්තමේන්තුව ඒ සඳහා දායක වනුයේ දූයේ දරුවන්ගේ නැණ පහන් දල්වාලීමේ උතුම් අදිටනෙනි.

පෙළපොතක් යනු දැනුම පිරි ගබඩාවකි. එය විටෙක අප වින්දනාත්මක ලොවකට කැඳවාගෙන යන අතරම තර්ක බුද්ධිය ද වඩවාලයි. සැඟවුණු විභව්‍යතා විකසිත කරවයි. අනාගතයේ දිනෙක, මේ පෙළපොත් හා සබැඳි ඇතැම් මතක, ඔබට සුවයක් ගෙන දෙනු ඇත. මේ අනගි ඉගෙනුම් උපකරණයෙන් ඔබ නිසි පල ලබාගන්නා අතරම තව තවත් යහපත් දැනුම් අවකාශ වෙත සමීප වීම ද අනිවාර්යයෙන් සිදු කළ යුතු ය. නිදහස් අධ්‍යාපනයේ මහරු තිළිණයක් ලෙස නොමිලේ මේ පොත ඔබේ දෝතට පිරිනැමේ. පාඨ ග්‍රන්ථ වෙනුවෙන් රජය වැය කර ඇති සුවිසල් ධනස්කන්ධයට අගයක් ලබා දිය හැක්කේ ඔබට පමණි. මෙම පෙළපොත හොඳින් පරිශීලනය කර නැණ ගුණ පිරි පුරවැසියන් වී හෙට ලොව එළිය කරන්නට ඔබ සැමට දිරිය සවිය ලැබෙන්නැයි සුබ පතමි.

මෙම පෙළපොත් සම්පාදන සත්කාර්යය වෙනුවෙන් අප්‍රමාණ වූ දායකත්වයක් සැපයූ ලේඛක, සංස්කාරක හා ඇගයුම් මණ්ඩල සාමාජික පිරිවරටත් අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුවේ කාර්ය මණ්ඩලයටත් මාගේ ප්‍රණාමය පළකරමි.

**ඩබ්ලිව්. එම්. ජයන්ත වික්‍රමනායක,**
අධ්‍යාපන ප්‍රකාශන කොමසාරිස් ජනරාල්,
අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුව,
ඉසුරුපාය,
බත්තරමුල්ල.
2020. 05. 26

**නියාමනය හා අධීක්ෂණය :**

**ඩබ්ලිව්. එම්. ජයන්ත වික්‍රමනායක**
අධ්‍යාපන ප්‍රකාශන කොමසාරිස් ජනරාල්
අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුව

**මෙහෙයවීම :**

**ඩබ්ලිව්.ඒ. නිර්මලා පියසීලි**
අධ්‍යාපන ප්‍රකාශන කොමසාරිස් (සංවර්ධන)
අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුව

**සම්බන්ධීකරණය :**

**ඩී.එම්. ජයන්ත පුෂ්පකුමාර**
නියෝජ්‍ය කොමසාරිස් (පාලන)
අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුව

**සංස්කාරක මණ්ඩලය :**

1. **පූජ්‍ය දේවාලේගම මේධානන්ද ස්වාමීන් වහන්සේ**
   විශ්‍රාමික මහාචාර්ය, කැලණිය විශ්වවිද්‍යාලය

2. **අති පූජ්‍ය ගන්තුනේ අස්සජි මහානායක ස්වාමීන් වහන්සේ**
   විශ්‍රාමික කථිකාචාර්ය, ශ්‍රී ජයවර්ධනපුර විශ්වවිද්‍යාලය

3. **ආචාර්ය පූජ්‍ය මාඹුල්ගොඩ සුමනරතන ස්වාමීන් වහන්සේ**
   නියෝජ්‍ය අධ්‍යක්ෂ ජනරාල්, ජාතික අධ්‍යාපන ආයතනය

**සිංහල භාෂා සංස්කරණය :**

**මහාචාර්ය නිමල් මල්ලවආරච්චි**

අංශාධිපති, සිංහල අධ්‍යයන අංශය, කැලණිය විශ්වවිද්‍යාලය

**ලේඛක මණ්ඩලය :**

1. **පූජ්‍ය ඇලිකේවෙල සීලානන්ද ස්වාමීන් වහන්සේ**
   ගුරු සේවය I, නාලන්ද විද්‍යාලය, කොළඹ
2. **පූජ්‍ය කොටනෙළුවේ පුඤ්ඤානන්ද ස්වාමීන් වහන්සේ**
   පරිවේනාධිපති, ශ්‍රී ගංගාතිලක මූලික පිරිවෙන
3. **පූජ්‍ය ඌරුගමුවේ අස්සජි ස්වාමීන් වහන්සේ**
   උපගුරු, ශ්‍රී ගංගාතිලක මූලික පිරිවෙන
4. **අධ්‍යාපනපති, ඩබ්.ඒ.සී. වේරගොඩ**
   ගුරු උපදේශිකා, කොට්ඨාස අධ්‍යාපන කාර්යාලය, වරකාපොළ
5. **දර්ශනපති, උදයරුවන් මල්ලිකාරච්චි**
   විදුහල්පති, ඉහළ බෝමිරිය කනිෂ්ඨ විද්‍යාලය, කඩුවෙල
6. **ශාස්ත්‍රපති, ආර්.ඒ. ගුණවර්ධන**
   ගුරුසේවය I, ගිරි/රුවන්ගිරි මධ්‍ය මහා විද්‍යාලය, බෝගමුල්ල
7. **කේ.කේ.එස්.එන්. වික්‍රමාරච්චි**
   ගුරුසේවය I, බප/කැල/කිරිල්ලවල මධ්‍ය මහා විද්‍යාලය, කඩවත

**සෝදුපත් කියවීම :**

**එස්.බී.එම්. නිමල් ධර්මසිරි**
අධ්‍යාපන අධ්‍යක්ෂ,
ආගමික හා සාරධර්ම අංශය, අධ්‍යාපන අමාත්‍යාංශය

**අවසාන ඇගයීම :**
**මහාචාර්ය උදිත ගරුසිංහ**
**ජ්‍යෙෂ්ඨ කථිකාචාර්ය කේ.ඒ. වීරසේන**

**චිත්‍ර, රූප සටහන් හා පිට කවරය සැකසීම :**

**අමිතා ඉන්දිරානි**
සහකාර අධ්‍යාපන අධ්‍යක්ෂ
කලාප අධ්‍යාපන කාර්යාලය, ගම්පොළ

**පරිගණක ගත කිරීම, පිටු නිර්මාණය :**
**පී.ඒ. ශයිනි ඉමල්ෂා**
අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුව

# පටුන




# බුදු සිරිතේ පළමු වසර

අපේ පංතියේ බුද්ධ ධර්මය විෂයය උගන්වන්නේ ධම්මිකා ගුරුතුමියයි. පාඩම ඇරැඹීමට පෙර ළමුන් සමග සුහද ව වචන කිහිපයක් කතා කිරීම ඇගේ සිරිතයි. එක් දිනක් එලෙස පාඩම අරඹද්දී සුලෝචනා ප්‍රශ්නයක් ඇසුවා ය. "ගුරුතුමියනි, අපි පොහොය දවසේ අත්තම්මාගේ ගෙදර ගියා. අත්තම්මා අපිව ළඟ පන්සලට එකතුකරගෙන ගියා. ගිහින් බෝධීන් වහන්සේට වඳිනකොට අපි නොකියන ගාථාවක් කියා අත්තම්මා වැන්දා. මම ඒ ගාථාව මොකක් ද කියලා ඇහුවා ම සත්සති වන්දනා ගාථාව බව කියාදුන්නා. ඒ ගාථාව මම කියන්න ද" යි ඇය ඇසූ විට, ගුරුතුමිය සුලෝචනා ඉදිරියට කැඳවා පන්තියට ම ඇසෙන සේ එම ගාථාව කියන්නැයි පැවසුවා ය. ඇය ගායනා කළ ගාථාව මෙයයි:

පඨමං බෝධි පල්ලංකං - දුතියං ච අනිම්මිසං
තතියං චංකමණං සෙට්ඨං - චතුත්ථං රතනාඝරං
පංචමං අජපාලංච - මුචලින්දේන ඡට්ඨමං
සත්තමං රාජායතනං - වන්දේතං මුනි සේවිතං

මෙම ගාථාව අසා සිටි ගුරුතුමිය බොහොම හොඳයි කියා අගය කළා ය. "එහෙනම් අද මම මේ ගාථාවෙන් කියවෙන්නේ මොකක් ද කියලා පහදා දෙන්නම්" කියා බුදුරජාණන් වහන්සේ සත්සතිය ගත කළ ආකාරයත් ඉන් පසු සිදුවීම් ආදියත් පිළිබඳ ඉතා දීර්ඝ විස්තරයක් කළා ය; සත් සතිය හා සත් සතියේ සිදුවීම් වගුවකට ද ඇතුළත් කොට දක්වූවා ය; එම වගුව හා විස්තරය ලිපියක් ලෙස සකස් කරගෙන එන ලෙස සුලෝචනාට ම පැවරුවා ය. ඇය පිළියෙල කළ එම වගුව හා පසු සිදුවීම් මෙසේ ය.

අප බෝධිසත්ත්වයන් වහන්සේ වෙසක් පුර පසළොස්වක පොහෝ දින සම්මා සම්බුද්ධත්වයට පත්වූ සේක. ඉන් පසු සති හතක් ජය ශ්‍රී මහා බෝධීන් වහන්සේ ඇසුරු කරමින් ගත කළ සේක. එම සත් සතිය තුළ වැඩ සිටි ස්ථාන හා එම කාලය තුළ සිදු වූ අසිරිමත් සිදුවීම් මෙසේ දැක්විය හැකි ය.

| සතිය | වැඩ සිටි ස්ථානය | සිදු වූ වැදගත් කාරණා |
|---|---|---|
| පළමු වන සතිය | ජය ශ්‍රී මහා බෝධීන් වහන්සේ මුල | මෙම සතියේ දී පටිච්ච සමුප්පාදය අනුලෝම පටිලෝම වශයෙන් හා පටිලෝම අනුලෝම වශයෙන් මෙනෙහි කිරීම.<br>දෙවියන්ගේ සැක දුරු කිරීම පිණිස යමක මහා ප්‍රාතිහාර්යය පෑම. |
| දෙවන සතිය | ජය ශ්‍රී මහා බෝධීන් වහන්සේට ඊසාන දිගින් | අනිමිස ලෝචන පූජාව පැවැත්වීම හෙවත් සතියක් ඇස්පිය නොහෙළා බෝධීන් වහන්සේ දෙස බලා සිටීම. |
| තෙවන සතිය | බෝධි මූලය හා අනිමිස ලෝචන පූජාව කළ ස්ථානය අතර | සක්මන් කිරීම (රුවන් සක්මන) |
| සිව් වන සතිය | බෝධීන් වහන්සේට වයඹ දිගින් රුවන්ගෙහි | අභිධර්මය මෙනෙහි කිරීම. මෙහි දී බුද්ධ ශරීරයෙන් බුදුරැස් විහිදෙන්නට පටන් ගත්තේ ය. |
| පස් වන සතිය | අජපාල නුගරුක මුල | හුහුංක ජාතික බමුණකු පැමිණීම සහ ඔහුට සැබෑ බමුණකුගේ ලක්ෂණ කියා දීම.<br>මාර දිව්‍ය පුත්‍රයාගේ පැමිණීම.<br>තණ්හා, අරතී, රගා යන මාර දූවරුන් පැමිණීම.<br>තමන් වහන්සේට ගුරුවරයකු නොමැති නිසා ධර්මය ගුරු තන්හි තබා ගැනීමට තීරණය කිරීම. |
| හය වන සතිය | මිදෙල්ල ගස මුල | මහා සුළඟක් සමග වර්ෂාවක් ඇතිවීම හා එම වර්ෂාවෙන් බුදුරදුන් ආරක්ෂා කිරීමට මුචලින්ද නා රජු ඉදිරිපත් වීම. |
| සත් වන සතිය | කිරිපලු රුක මුල (රාජායතනය) | සමාපත්ති සුවයෙන් වැඩ සිටීම. |

ඉහත සඳහන් පරිදි සත් සතිය ගත කළ බුදුරජාණන් වහන්සේ මුව ධෝවනය කර කිරිපලු රැක මුල වැඩ සිටි අතර තපස්සු භල්ලුක නම් වෙළෙඳ දෙබෑයෝ පැමිණ අත්සුණු හා මීපිඬු පූජා කළහ. ඔවුන්ට පූජා පැවැත්වීමට සුදුසු පූජනීය වස්තුවක් ඉල්ලූ විට බුදුරජාණන් වහන්සේ කේශ ධාතු ස්වල්පයක් දුන් සේක. බුදුන් හා දහම් සරණ ගිය පළමු (ද්වේවාචික) උපාසකවරුන් ලෙස හැඳින්වෙන්නේ ද මේ තපස්සු භල්ලුක දෙදෙනායි.



ඉක්බිති බුදුරජාණන් වහන්සේ වෙත පැමිණි සහම්පතී මහා බ්‍රහ්මයා ලෝකයාට ධර්මය දේශනා කරන ලෙස ආරාධනා කළේ ය. ඒ අනුව පළමු ධර්ම දේශනය කළ යුත්තේ කවරෙකුට ද යි කියා විමසා බැලීමේ දී ආළාර කාලාම හා උද්දකරාමපුත්ත සිහිපත් වුණි. එහෙත් ඒ වන විට ඔවුන් මියගොස් තිබුණි. එනිසා තමන් වහන්සේ දුෂ්කර ක්‍රියා කරන කාලයේ උපස්ථාන කළ පස්වග තවුසන්ට දහම් දෙසීමට සිතා බරණැස ඉසිපතනය කරා වැඩම කිරීමට පිටත් වූහ. මේ වඩින අතරමග දී උපක නම් ආජීවකයා හමුවිය. ඔහු බුදුරජාණන් වහන්සේගෙන් "ඔබේ ශාස්තෘවරයා කවරෙක් ද? ඔබ රුචි කරන ධර්මය කුමක් ද?" යි විමසී ය. "සියලු දුක් ඉක්මවා ගිය, සියල්ල අවබෝධ කළ, සියල්ලේ නොඇලුණ, නිවන් පසක් කළ මම, මගේ ආචාර්යවරයා ලෙස,

කවරකු දක්වන්නෙම් ද? මට ගුරුවරයකු නැත. සමානයකු ද නැත. මම රහත් වෙමි. නිරුත්තර වූ ශාස්තෘවරයා වෙමි. සම්මා සම්බුදු වෙමි. දම්සක් පැවැත්වීමට කසීරට බරණැස් නුවරට යමි,"යි බුදුරජාණන් වහන්සේ පිළිතුරු දුන්හ. ඉන් පසු උපක තෙමේ "ඔබ අනන්ත ජිනද?"යි බුදුරදුන්ගෙන් විමසී ය. සියලු කෙලෙස් පරදවා නිවන් පසක් කළ තමා ජින යැයි හැඳින්විය හැකි බවට බුදුරදුන්ගෙන් උපකට පිළිතුරු ලැබිණ. උපක "එය එසේත් විය හැකියැ,"යි හිස සලා පිටත් විය.

බරණැස ඉසිපතනයට වැඩම කළ බුදුරජාණන් වහන්සේ කොණ්ඩඤ්ඤ, වප්ප, භද්දිය, මහානාම, අස්සජි යන පස්වග තවුසන්ට දම්සක් පැවතුම් සූත්‍රය දේශනා කළහ. ඒ ඇසළ පුර පසළොස්වක පොහෝ දිනකයි. එම දේශනාව අසා පළමු ව කොණ්ඩඤ්ඤ තාපසතුමා ද පසු ව අනෙක් සිව් දෙනා ද සෝවන් වූ අතර බුදුරජාණන් වහන්සේ ඔවුන් **ඒහි භික්ඛු** භාවයෙන් පැවිදි කළ සේක. පසු ව දේශනා කළ **අනත්ත ලක්ඛන** සූත්‍ර දේශනාව අසා උන් වහන්සේලා රහත් වූහ.

බරණැස් සිටුතුමා මහා ධනවතෙකි; සුඛෝපභෝගී ජීවිතයක් ගෙවූ කෙනෙකි. එතුමාට යස නම් තරුණ පුතෙක් සිටියේ ය. හෙතෙම සැප සම්පත් පිළිබඳ කළකිරී ජීවිතයේ සැනසිල්ල සොයමින් දිනක් උදෑසන නිවසින් පිටත් විය. බුදුරජාණන් වහන්සේ වෙත පැමිණි ඔහුට උන් වහන්සේ විසින් ධර්මය දේශනා කරන ලදි. හෙතෙම සෝවන් විය. නිවසෙහි නොසිටි තම පුතු සොයමින් යස කුල පුත්‍රයාගේ පියා පැමිණියේ ද බුදුරදුන් වෙතයි. බුදුරජාණන් වහන්සේ බරණැස් සිටුතුමාට පුතු නොපෙනීමට අධිෂ්ඨාන කළහ. පසු ව පියාට ධර්මය දේශනා කළ සේක. හෙතෙම තෙරුවන ම සරණ ගිය පළමු උපාසකයා බවට පත්විය. ධර්ම දේශනාව අවසානයේ පියා සෝවන් වූ අතර ඒ අසල සිටි යස කුල පුත්‍රයා ද රහත් ඵලයට පත්විය. ඉන් පසු බුදුරජාණන් වහන්සේ යස කුල පුත්‍රයා පෙනී සිටීමට සලස්වා ඒහි භික්ඛු භාවයෙන් පැවිදි කළ සේක. බරණැස් සිටුතුමා තම පුතුට හා බුදුරජාණන් වහන්සේට දහවල් දානය සඳහා ආරාධනා කොට පිටත් විය.

දහවල් දානය සඳහා යස මහරහතන් වහන්සේ ද සමග බුදුරජාණන් වහන්සේ සිටු නිවසට වැඩම කළ සේක. බුදුරජාණන් වහන්සේ ඔහුගේ ගිහි කල බිරියටත්, මවටත් ධර්මය දේශනා කළ සේක. එම දේශනාව අසා මව වූ සුජාතාව හා බිරිය තෙරුවන් සරණ ගියහ; එසේ ම සෝවන් ඵලයෙහි ද පිහිටියහ. මේ නිසා තෙරුවන් සරණ ගිය පළමු උපාසිකාවන් වීමේ ගෞරවය ද ඔවුන්ට හිමි වෙයි.

යස කුල පුත් පැවිදි වීමේ ආරංචිය අසා ඔහුගේ හොඳ ම මිතුරන් වූ විමල, සුබාහු, පුණ්ණජි, ගවම්පති යන සතර දෙනා ද එහි පැමිණියහ. ඔවුහු ද බණ අසා සෝවන් වූ අතර ඒහි භික්බු භාවයෙන් පැවිදි උපසම්පදාව ද ලබාගත්හ. පසු ව තවත් යහළුවන් පනස්දෙනෙක් ද පැමිණ බණ අසා රහත් වීම හා පැවිදි වීම විශේෂත්වයකි. මේ වන විට බරණැස ඉසිපතනාරාමයේ වැඩසිටි රහත් භික්ෂූන් වහන්සේලාගේ පිරිස හැට නමකි. බුදුරජාණන් වහන්සේ වැසි කාලය අවසානයේ ඉල් පුර පසළොස්වක පොහෝ දින එම ශ්‍රාවක පිරිස රැස්කොට ධර්ම චාරිකාවේ වඩින ලෙස අනුශාසනා කළ සේක. **එහි දී වැඩි දෙනකුට සේවය සලසනු වස් දෙනමක් එක මග නොවඩින ලෙසත් මුල මැද අග යහපත් වූ ධර්මය ම දේශනා කරන ලෙසත්, දෙවියන් සහිත වූ මිනිසුන්ට හිත පිණිස කටයුතු කරන ලෙසත්** අනුශාසනා කර ධර්ම දූත සේවයට පිටත් කළහ.

මෙම සිදුවීම්වලින් පසු බුදුරජාණන් වහන්සේ ද උරුවෙල් දනව්ව බලා වැඩම කළ අතර කාන්තාවක සොයමින් පැමිණි භද්දවග්ගිය කුමාරවරු බුදුරදුන් හමුවූහ. ඔවුනට ද කරුණු පැහැදිලි කොට දහම් දෙසා පැවිදි කළහ. මෙසේ බුදු සසුනේ ශ්‍රාවක පිරිස තවත් තිස් නමකින් වර්ධනය විය. පිළිවෙත් පිරූ ඔවුහු ද සෝවන් ආදි මාර්ග ඵලවලට පත්වූහ. එම භද්දවග්ගිය භික්ෂූන් වහන්සේලාට ද ධර්ම චාරිකාවේ වඩින ලෙස අනුශාසනා කර බුදුරජාණන් වහන්සේ උරුවෙල් දනව්ව බලා වැඩම කළ සේක.

උරුවෙල් දනව්වෙහි ජටිල සහෝදරයෝ තිදෙනෙක් වාසය කළහ. උරුවේල කාශ්‍යප, නදී කාශ්‍යප, ගයා කාශ්‍යප යනු ඒ තිදෙනායි. ඔවුන්ට පිළිවෙළින් පන්සියයක, තුන්සියයක හා දෙසියයක අනුගාමී පිරිසක් සිටියහ. උරුවේල කාශ්‍යප සිය පිරිස සමග ගඟේ ඉහළ කොටසේ වාසය කළ අතර සෙසු පිරිස ගඟේ පහළ කොටසේ වාසය කළහ. මොවුහු ජටාධර තවුසෝ ය. එබැවින් ඔවුහු ජටිලයන් යනුවෙන් හඳුන්වනු ලැබෙති. ඉතා මානාධික තැනැත්තකු වූ උරුවේල කාශ්‍යපට බුදුරජාණන් වහන්සේ බොහෝ ප්‍රාතිහාර්ය දක්වා ඔහුගේ මානය නැතිකොට ඔහු ඇතුළු පිරිස පැවිදි කළහ. ඔවුහු පැවිදි වීමේ දී තම ජටා ආදිය ගලවා ගඟට දැමූහ. එවා වතුරේ පාවී එනවා දුටු අනිත් සහෝදරයෝ දෙදෙනා ද තම සහෝදරයාට කරදරයක් වී ඇද්ද යි බැලීමට ගඟ දිගේ ඉහළට ගමන් කළහ. එහි දී උරුවේල කාශ්‍යප ඇතුළු පිරිස පැවිදි වී සිටිනවා දැක ඔහුගේ බාල සොහොයුරෝ ද පිරිස් සමග පැවිදි වූහ. ඒ අනුව එකතු වූ භික්ෂු පිරිස එක්දහස් තුනක් විය. ඔවුහු සියලු දෙනා ම ධර්මාවබෝධය ලබා ගත්හ.

දුරුතු පසළොස්වක පොහෝ දා උදාවිය. ලෝක සත්ත්වයා වෙත පතළ වූ මහා කරුණාවෙන් යුක්ත ව ලොව බලන බුදුරජාණන් වහන්සේ ලක්වැසියන්ට තමන් වහන්සේගෙන් වන ශාන්තිය දැක දුරුතු පොහෝ දින ලංකාවේ අද මහියංගණ චෛත්‍යය පිහිටි ස්ථානයට අහසින් වැඩි සේක. ඒ බුදුරජාණන් වහන්සේගේ පළමු ලංකාගමනයයි. එදා මහවැලි ගඟ අසබඩ රැස්වූ යක්ෂ ගෝත්‍රික දෙපිරිසක් සංග්‍රාමයකට සැරසුණ අවස්ථාවේ එම යුද්ධය සංසිඳුවා ධර්ම දේශනා කළ සේක. එහි දී සුමන සමන් දෙවියන් ඇතුළු පිරිස සරණ සිල්හි පිහිටවූ සේක. සෝවන් වූ සුමන සමන් දෙවියෝ පිදීමට යමක් ඉල්ලූහ. බුදුරජාණන් වහන්සේ හිස පිරිමැද කේශ ධාතු මිටක් දුන් සේක. ඒවා තැන්පත් කොට මහියංගණ චෛත්‍යය සැදවූ බව සඳහන් වේ. බුදුරජාණන් වහන්සේ එදින ම ආපසු උරුවෙල් දනව්වට වැඩම කළහ.

ඉක්බිති ව බුදුරජාණන් වහන්සේ එක්දහස් තුනක් වූ සිය ශ්‍රාවකයන් සමග රජගහ නුවර සමීපයට වැඩම කොට ගවු තුනක් මෑතින් වූ තල් වනයේ වැඩ සිටියහ. එහි දී බිම්බිසාර රජතුමා බුදුරජාණන් වහන්සේ වැඩි බව දැනගෙන විශාල පිරිසක් සමග එහි පැමිණියේ ය. බණ ඇසූ රජතුමා ඇතුළු පිරිසේ සමහරු සෝවන් වූහ. සමහරු උපාසකත්වයට පත් වූහ. සෝවන් වූ පළමු රජතුමා ලෙස බිම්බිසාර රජතුමා හැඳින්විය හැකි ය.

බිම්බිසාර රජතුමා තමා මගධයේ රජවීමත්, තම රටට බුදුරජාණන් වහන්සේ වැඩම කරවා ගැනීමත්, බුදුරජාණන් වහන්සේ ඇසුරු කිරීමත්, උන් වහන්සේගෙන් බණ ඇසීමත්, එම ධර්මය අවබෝධ කරගැනීමත් යන බලාපොරොත්තු පහක් ඇති ව සිටි බවත් ඒ පහ ම ඉටු වී ඇති බවත් පවසා පසු දා දානයට ආරාධනා කළේ ය.

දානයට වැඩම කළ බුදුරජාණන් වහන්සේට බිම්බිසාර රජු විසින් වේළුවනාරාමය පූජාකරන ලදි. එය බුදු සසුනේ පළමු ආරාම පූජාවයි. එම පූජාවෙන් අනතුරුව රජතුමාගෙන් පින් බලාපොරොත්තු වූ ඥාති ප්‍රේත පිරිසක් නිමිතිකොට ඔවුන්ට පින් අනුමෝදන් කිරීමේ වැදගත්කම පෙන්වා දෙමින් තිරෝකුඩ්ඩ සූත්‍ර දේශනාව සිදුකරන ලදි.



සංජය යනු පිරිවැජියෙකි. ඔහු සමීපයෙහි විශාල සිසු පිරිසක් සිටි බව සඳහන් වේ. එයින් කෝලිත හා උපතිස්ස පිරිවැජියන් දෙදෙනා සමග තවත් දෙසිය පනහක පිරිසක් බුදු සසුනෙහි පැවිදි වීම විශේෂ සිදුවීමකි. උපතිස්ස කෝලිත දෙදෙනා සසුන්ගත වූයේ සැරියුත් හා මුගලන් යන නම්වලිනි. මේ වන විට බුදුරජාණන් වහන්සේ හමුවෙහි භික්ෂු ශ්‍රාවක පිරිස එක්දහස් දෙසිය පනස් පස් නමක් වූහ. බුද්ධත්වයෙන් වසරකට පසු ප්‍රථම සංඝ සන්නිපාතය නම් වූ මහ සඟ සමුළුව පවත්වන ලද්දේ උන් වහන්සේලාගේ ද සහභාගිත්වයෙනි. එහි දී සැරියුත් මුගලන් මාහිමිවරුන්ට අග තනතුරු පිරිනැමීමත් ඕවාද ප්‍රාතිමෝක්ෂය දේශනා කිරීමත් සිදුවිය.

සිදුහත් කුමරු ගිහි සැප අත්හැර ගිය දා පටන් සුද්ධෝදන රජතුමා රහසිගත දූතයන් යවමින් තොරතුරු සෙවීම සිදුකළේ ය. තම පුතු බුදු පදවිය ලබා රජගහ නුවර සිටින බව දැනගෙන සිටි රජතුමා බුදුරජාණන් වහන්සේ තම රාජධානිය වූ කිඹුල්වත් පුරයට වැඩමවාගෙන එන ලෙස දන්වා ඇමැතියකු සමග දහසක රාජපුරුෂ කණ්ඩායමක් පිටත් කළේ ය. හැට යොදුනක් ගමන් කොට වේළුවනාරාමයට ළඟා වූ ඔවුහු බුදුරදුන්ගෙන් දහම් අසා රහත් ව පැවිදි බව ද ලබාගත්හ; පැමිණි කාරණය මග හැරිණ. රජතුමා තවත් දහසක කණ්ඩායමක් ඇමැතිවරයකු සමග පිටත් කළේ ය. එම පිරිස ද බණ අසා පැවිදි වූහ. මේ ආකාරයට කණ්ඩායම් නවයක් ම යැවූ නමුත් පිය රජුගේ ආරාධනාව බුදුරජාණන් වහන්සේට නොලැබිණි.

අවසානයේ දී බෝසතාණන් වහන්සේ උපන් දිනයේ ම උපන් කාළුදායි නම් ඇමැතියා කැඳවූ සුදොවුන් රජතෙමේ මේ කාර්යය ඉටු කිරීමට ඔබට පුළුවන් ද යි ඇසී ය. ඉතා දක්ෂ ඇමැතිවරයකු වූ ඔහු කලින් අයට සිදුවූ දෙය හොඳින් ම දන සිටියේ ය. "රජතුමනි, මට පැවිදි වීමට අවසර දෙන්නේ නම් මම ඒ දේ ඉටුකරමි"යි හෙතෙම පැවසී ය. රජු පැවිදි වීමට අවසර දුන් අතර ඔහු ද දහසක පිරිසක් සමග ගොස් බණ අසා පැවිදි වී ධර්මාවබෝධය ලබාගත්තේ ය. එහෙත් තමා පැමිණි කාරණය අමතක නො කළේ ය.

මැදින් පුර පසළොස්වක පොහොය ළඟාවෙත් ම කාළුදායි රහතන් වහන්සේ තමාගේ අභිලාෂය බුදුරජාණන් වහන්සේට දන්වීමට තීරණය කළහ. බුදුරදුන් වෙත වැඩම කළ උන් වහන්සේ රජගහනුවර සිට කිඹුල්වත් පුරට යන යොදුන් හැටක් පමණ වූ මාර්ගය පිළිබඳ ඉතා විචිත්‍ර වර්ණනාවක් ඉදිරිපත් කළහ. එය ගාථා හැටකින් යුක්ත වූවකි. මෙම මාර්ග වර්ණනාව සිදු කළ උන් වහන්සේ පිය රජු ඇතුළු ඥාතීන් බුදුරජාණන් වහන්සේගේ පැමිණීම බලාපොරොත්තුවෙන් සිටින බවත් ඒ සඳහා වැඩමවීමට මෙය ඉතා ම හොඳ කාලයක් බවත් පැවසූහ. කිඹුල්වත්පුර ගමනින් සිදුවන යහපත දුටු බුදුරජාණන් වහන්සේ එම ඉල්ලීම පිළිගත්හ. ඒ වන විට ශාසනයේ වැඩ සිටි රහතන් වහන්සේලා පිරිස විසි එක් දහස් තුන්සිය පනස්පස් නමකි. මේ පිරිසෙන් කිඹුල්වත් නුවරින් පැමිණ පැවිදි වූ දස දහසක් හිමිවරු ද, අංග මගධ දෙරටින් පැවිදි වූ දස දහසක් ද වශයෙන් විසි දහසක් ස්වාමීන් වහන්සේලාට කිඹුල්වත්පුර ගමන සඳහා සූදානම් වන ලෙස දන්වූහ. විසි දහසක් රහතන් වහන්සේලා පිරිවරාගත් බුදුරජාණන් වහන්සේ මැදින් පුර පසළොස්වක පොහෝ දා රජගහ නුවරින් පිටත් වූ අතර වෙසක් පුර පසළොස්වක පොහෝ දා කිඹුල්වත් පුරයට ළඟා වූහ.



## සාරාංශය

වෙසක් පුර පසළොස්වක පොහෝ දා බුද්ධත්වයට පත් අප බුදුපියාණන් වහන්සේ සති හතක් බෝධීන් වහන්සේ ඇසුරු කරමින් වැඩ සිටියහ. ඉන් පසු බරණැස ඉසිපතනයට වැඩමවා පස්වග තවුසන්ට දහම් දෙසීමත් ඔවුන් පැවිදි උපසම්පදා කිරීමත් සමඟින් භික්ෂු සමාජය ආරම්භ විය. එසේ පස් දෙනෙකුගෙන් යුක්ත ව ඇරඹුණු බුදු සසුනේ රහතන් වහන්සේලා ප්‍රමාණය වසරක් වන විට විසි දහස ඉක්මවීම විශේෂත්වයකි. බුදුරජාණන් වහන්සේගේ ශ්‍රී සද්ධර්මය මෙතරම් ඉක්මනින් ප්‍රචලිත වීමෙන් පෙනී යන්නේ එදා මිනිසුන්ට තිබූ ධර්මයේ අවශ්‍යතාවයි.



## ක්‍රියාකාරකම

1. සත් සතිය වන්දනා කරන ගාථාව කට පාඩමින් කියන්න.
2. ප්‍රථම සංඝ සම්මේලනයට සහභාගි වූ රහතන් වහන්සේලා ගණන එක්දහස් දෙසිය පනස් පස් නමක් වූයේ කෙසේ ද යි පැහැදිලි කරන්න.
3. මෙම පාඩමෙහි ඇතුළත් සිද්ධිවලින් ප්‍රකට වන බුද්ධ චරිතයෙහි සුවිශේෂී ලක්ෂණ පහක් හඳුන්වා දෙමින් ඡේදයක් ලියන්න.



## පැවරුම

සත් සතියෙහි ඔබ සිත් ගත් එක් සතියක් චිත්‍රයට නගන්න.



## පුහුණුවට

අංගාරිනෝදානි දුමා භදන්තේ
එලේසිනෝ ඡදනං විප්පහාය
තේ අච්චිමන්තෝ ව පභාසයන්ති
සමයෝ මහාවීර භගීරථානං

(කාළුදායි තෙරුන්ගේ මාර්ග වර්ණනාවෙන්)

ස්වාමීනි, දැන් වෘක්ෂයෝ ගිනි අඟුරු වැනි රතු පැහැති මල් දලු ඇත්තෝ පරණ කොළ වැටී ඵල දරන කාලයට පැමිණියෝ වෙත්. ඒ වෘක්ෂයෝ ගිනි දැල් සේ බබළත්. මහා වීරයන් වහන්ස, භගීරථ පරම්පරාවේ අයට (ශාක්‍යයන්ට) අනුග්‍රහ පිණිස වැඩම කරන්නට දැන් සුදුසු කාලයයි.




# බුදු සිරිත අනුව යමු
# අසරණයන්ට සරණ වෙමු

මෙලොව සියල්ලෝ ම සතුටින් ජීවත් වීමට කැමැති වෙති. කරදර, බාධක, අවහිර සිය ජීවිතවලට එළඹෙනු දකීමට කිසිවෙක් අපේක්ෂා නොකරති. එහෙත් එවැනි අනපේක්ෂිත විපත් අප කරා පැමිණීම කිසිවකුටත් වැළැක්විය නොහැකි ය. අපට ස්වභාව ධර්මයට එරෙහි ව යා නොහැකි වීම ඊට හේතුවයි. අපට බාධක, අවහිර හා විපත්වලට මුහුණ දීමට සිදු වන බව අප අවබෝධ කර ගන්නා කල එවැනි විපත්වලට මුහුණ පා සිටින අයට උදවු-උපකාර කිරීමට අපේ සිත් පෙළඹෙනු ඇත. අසරණ වූ අයට කරුණාව දැක්වීම අපේ යුතුකමක් මෙන් ම වගකීමක් ද වේ.

අසරණයින්ට හා ගිලනුන්ට පිහිට වීම සම්බන්ධයෙන් මහඟු ආදර්ශ රැසක් බුදු සිරිත ඇසුරින් අපට උගත හැකි ය. පන්සාළිස් වසක් බුදු සිරිත තුළ උන් වහන්සේගේ මහා කරුණාවට ලක් වී පිහිට ලැබූ පිරිස අපමණ ය. දුකකට කරදරයකට විපතකට පත් වූ විට හෝ එවැන්නකු ගැන දැනගත් විට හෝ ඔහු එම දුකින්, කරදරයෙන්, විපතින් මුදවා ගැනීමට උන් වහන්සේ නොපැකිළ ව ඉදිරිපත් වූ සේක. එහි දී උන් වහන්සේ නෑදෑ හිතවත්කම් ආදි කිසිවක් සැලකිල්ලට නොගත් සේක. උන් වහන්සේ සැලකිල්ලට ගත්තේ පුද්ගලයා පත් වී ඇති අසරණ භාවය පමණි. කරුණාවෙන් සිසිල් වූ හදවතක් උන් වහන්සේට තිබුණි. අලුයම පිබිදී කුලුණුබර හදින් ලොව දෙස බලන උන් වහන්සේගේ බුදු ඇසට ලක් වූ දුක්ඛිතයන් බොහෝ දෙනෙකි. බුදුරජාණන් වහන්සේ එසේ අසරණයින්ට පිහිට වූ අවස්ථා රාශියක් දක්නට ලැබේ. එවැනි අවස්ථා කිහිපයක් කෙටියෙන් විමසා බලමු.

## අසරණ මහලු පියෙක්

සැවැත් නුවර මහ ජනයා එක්රැස් ව සිටි ශාලාවක හදිසියේ නොසන්සුන්කාරී ස්වභාවයක් හට ගැනුණි. කිසියම් පිරිසක් දොස් පරොස් බස් තෙපළමින් තවත් පිරිසකට පහර දීමට ද සැරසෙන ස්වරූපයක් දක්නට ලැබුණි. පසු ව විමසා බැලීමේ දී පැහැදිලි වූයේ එක ම පවුලේ දරුවන් සිවු දෙනකුට එරෙහි ව රැස් ව සිටින්නන්ගේ විරෝධතාව එල්ල වී තිබූ බව ය. විරෝධතාව පිටුපස සියලු දෙනාගේ අවධානයට යොමු විය යුතු වැදගත් සිදුවීමක් තිබුණි. එය අනුවේදනීය පුවතකි.

එක්තරා තරුණ පියකුට දරුවෝ සිවු දෙනෙක් සිටියහ. කුඩා කල ඔහු එම දරුවන් සිවු දෙනාට හොඳින් සිප් සතර උගන්වා සුදුසු කල ආවාහ කටයුතු ද සිදු කොට තමා සතු ධනය ද දරුවන්ට සමසේ බෙදා දුන් ගුණගරුක අයෙකි. එහෙත් පසු කලෙක දී එම දරුවෝ කළගුණ අමතක කොට සිය පියා රැක බලා ගැනීම උපායශීලී ව ප්‍රතික්ෂේප කළහ. කිසිවකුගේ පිහිට නොලබා සැරයටියට පමණක් හිමිකම් කියමින් එම පියා අවසානයේ මහමගට බැස ඉබාගාතේ යමින් සිටිය දී අහඹු ලෙස ජේතවනාරාමයට පැමිණියේ ය. මොහුගේ අසරණ බව මැනැවින් වටහා ගත් බුදුරජාණන් වහන්සේ කෙළෙහි ගුණ නොදත් දරුවන් සිව් දෙනාගේ අකාරුණික භාවය මැනැවින් හෙළි වන ගාථා කිහිපයක් ඔහුට කියා දුන් සේක. අසරණ පියතෙමේ එම ගාථා පාඩම් කොට දරුවන් සිව් දෙනා පැමිණ සිටි ප්‍රසිද්ධ ස්ථානයක ප්‍රකාශ කළේ ය. කෙළෙහි ගුණ අමතක කොට ආත්මාර්ථකාමී හැඟීමෙන් ක්‍රියා කළ දරුවන් සිව් දෙනාගේ සැබෑ තතු දත් මහ ජනතාව ඔවුන් කෙරෙහි සිය අප්‍රසාදය පළ කිරීම ඉහත සඳහන් සිදු වීමට පසුබිම විය. මහජනතාව ඉදිරියේ පියාගෙන් සමාව ගත් දරුවෝ පියා කැඳවාගෙන ගොස් මැනැවින් රැක බලා ගත්හ. අසරණ භාවයට පත් ව සැරයටියේ පිහිට පමණක් ලද පියාට අවසානයේ පිහිට වූයේ ලොව්තුරා බුදුරජාණන් වහන්සේ ය.

## වරදට හසු වූ නිවැරැදි ගොවියෙක්

දිනක් උදැසන සිය කුඹුරේ සී සාමින් සිටි ගොවියකු අනපේක්ෂිත පරිදි රාජ පුරුෂයින් විසින් රැගෙන යන්නට යෙදුණි. සොරකමකට වරදකරුවකු ලෙස මෙම ගොවියා හසුවන්නේ තමා නොකළ වරදකට ය. සොර මුළක් පෙර දින රාත්‍රියේ නිවසක් බිඳ පැහැර ගත් වස්තුව අතර තිබුණු මසුරන් දහසක පසුම්බියක්, අතපසු වීමකින් මෙම ස්ථානයේ හැරදමා ගොස් තිබිණි.

රාජ පුරුෂයෝ අහිංසක ගොවියා සොරකම සම්බන්ධයෙන් සැක කර දඬුවම් ලබා දීම පිණිස රැගෙන ගියහ. රාජ පුරුෂයින්ගේ අත්අඩංගුවට පත් ව මර බියෙන් සිටි මෙම ගොවියා, උදෑසන කුඹුරට පැමිණ සී සෑමෙහි නිරත වන අවස්ථාවේ අසල මාර්ගයේ පිඬු සිඟා වැඩිය බුදුරදුන්, "ආනන්දය, සර්පයා දුටුවා ද" යනුවෙන් අනඳ හිමියන් ඇමතූ ආකාරයත් "දිටිමි ස්වාමීනී" යනුවෙන් පෙරළා අනඳ හිමියන් පැවසූ ආකාරයත් සිහිපත් විය. අනපේක්ෂිත ව මුහුණ දුන් විපත නිසා සිහිවිකල් වන තරමට ම බියපත් ව සිටි හෙතෙම "ආනන්ද සර්පයා දුටුවා ද" "දිටිමි ස්වාමීනී, සර්පයා දිටිමි ස්වාමීනී," යනුවෙන් නිරන්තරයෙන් පුනරුච්චාරණය කරන්නට විය. වික්ෂිප්ත භාවයට පත් රාජ පුරුෂයෝ මොහු රජතුමා හමුවට ඉදිරිපත් කළහ. අනතුරුව බුදුරදුන් හමු වූ රජුට සියලු කරුණු අනාවරණය කර ගැනීමට හැකි විය. ගොවියාට නිදහස ලැබුණි. නොකළ වරදකට හසු වී මරණයට නියම වී සිටි ඔහුට ජීවත් වීමේ භාග්‍යය උදා වූයේ බුදුරජාණන් වහන්සේ උපායශීලී ව ඔහුට පිහිට වූ නිසා ය.

## සෝපාක

සෝපාක කුඩා දරුවෙකි. දිනක් රාත්‍රියක ඔහුට බියකරු අත්දැකීමකට මුහුණ දීමට සිදුවිය. අවට පාළු පරිසරයේ අන්ධකාරය පැතිර ඇත. අමු සොහොනේ තැන තැන දමා ගිය මළ සිරුරුවල කොටස් ආහාරයට ගැනීමට පැමිණ සිටි සතුන්ගේ බියකරු හඬ වරින් වර ඇසේ. සෝපාක මළ මිනියකට බැඳ දමා ඇත. මර බිය, වේදනාව හා කුසගින්න ඔහු ඉතා අසරණ තත්ත්වයට පත් කළේ ය. මෙම අවාසනාවන්ත අත්දැකීමට ඔහුට මුහුණ දීමට සිදු වූයේ තම සුළු පියා නිසාවෙනි.

සෝපාකගේ පියා මිය ගිය පසු මව වෙනත් විවාහයක් සිදු කර ගත්තා ය. එතැන් පටන් සෝපාකට සුළු පියාගේ විවිධ තාඩන පීඩනවලට මුහුණ දෙන්නට සිදු විය. දිනක් ඔහු මල්ලී සමග රණ්ඩුවක් ඇති කර ගත්තේ ය. එහි ප්‍රතිඵලය වූයේ කුරිරු දඬුවමකි. බාප්පා ඔහු රැගෙන ගොස් මෙසේ අමු සොහොනක මළ මිනියකට ගැට ගසන්නේ මරණයට පත් කිරීමේ චේතනාවෙනි. බුදුරජාණන් වහන්සේ මෙම කුඩා දරුවා කෙරෙහි මහා කරුණාවෙන් අමු සොහොනට වැඩම කොට ඔහුට පිහිට වූ සේක. එසේ සිදු නොවන්නට සෝපාක සුසාන භූමියේ ම මිය යාමට ඉඩ තිබුණි.

## වියෝ දුකින් උමතු වූ පටාචාරා

පටාචාරා යනු අනපේක්ෂිත අයුරින් විපත් රැසකට මුහුණ දුන් කාන්තාවකි. දෙමාපියන් බැලීමට පැමිණෙන අතරමග ඇයගේ ස්වාමි පුරුෂයා සර්පයකු විසින් දෂ්ට කරන ලදු ව මිය ගියේ ය. සිය දරුවන් දෙදෙනාගෙන් එක් දරුවකු උකුස්සකු විසින් ඩැහැ ගනු ලැබූ අතර අනෙක් දරුවා අචිරවතී ගඟට වැටී මිය ගියේ ය. සැවැත් නුවරට ළඟා වන විට ඇයට දැනගන්නට ලැබුණේ සිය දෙමවුපියන් මෙන් ම සහෝදරයා ද පෙර දින ඇද හැලුණු මහ වැස්සෙන් කඩා වැටුණු නිවසට යට වී මිය ගිය බව ය. අසරණ භාවයේ පතුළට ම වැටුණු ඇයට පියවි සිහිය නැති වී ගියේ ය. උමතු භාවයට පත් ව සිටි ඇයට අවසානයේ පිහිට වූයේ බුදුරජාණන් වහන්සේ ය. පටාචාරා රහත් මෙහෙණියක් වූවා ය.

මීට අමතර ව කිසාගෝතමී, රජ්ජුමාලා වැනි කාන්තාවන්ට මෙන් ම භද්‍රවතිකා ඇතින්න වැනි තිරිසන් සතුනට ද බුදුරජාණන් වහන්සේ පිහිට වූ සේක.

## ගිලනුන්ට උපස්ථාන කිරීම

ගිලනුන්ට උපස්ථාන කිරීම ද අසරණ සරණ වීමකි. ගිලානෝපස්ථානයට සුවිශේෂී අවධානයක් බුදු දහමේ යොමු කෙරෙන බැවින් බුදුරදුන් පිහිට වූ ගිලනුන් පිළිබඳ ව ද කරුණු ඉගෙනීම වැදගත් වේ.

**යෝ භික්ඛවේ මං උපට්ඨහෙය්‍ය**
**සෝ ගිලානං උපට්ඨහෙය්‍ය**
**(මහා වග්ග පාළි)**

**යමෙක් මගේ වචන පිළි පැදීමෙන් මට උපස්ථාන කරන්නේ ද හෙතෙම ගිලනාට උපස්ථාන කරන්නේ ය.**

යනුවෙන් බුදුරජාණන් වහන්සේ දේශනා කළ සේක.

බුදුරජාණන් වහන්සේ ගිලානෝපස්ථානයේ වටිනාකම ආදර්ශයෙන් ම ලොවට පෙන්නුම් කළ ශාස්තෘවරයෙකි.



පූතිගත්ත තිස්ස හිමි යනු බුදුරජාණන් වහන්සේගේ මහා කරුණාවට ලක්ව පිහිට ලද තෙර නමකි. උන් වහන්සේ පෙර භවයක දී කළ අකුසලයක් හේතුවෙන් දරුණු කුෂ්ඨ රෝගයකට ගොදුරු වූහ. ආරම්භයේ දී මුළු ශරීරය පුරා ම කුඩා බිබිළි හටගෙන ක්‍රමයෙන් වර්ධනය වී අවසානයේ විශාල බිබිළි බවට පත් වී ශරීරය එක ම වණයක් බවට පත් විය. පොරොවාගෙන සිටි සිවුර සැරව බිබිළිවල ඇලුණි. උන් වහන්සේ කෙතරම් පිළිකුල් සහගත වූයේ ද යත් උපස්ථාන කරමින් සිටි භික්ෂූන් වහන්සේලා පවා උන් වහන්සේ හැර ගියහ. අවසානයේ ඇප උපස්ථාන කිරීමට කිසිවෙක් ඉදිරිපත් නොවූහ. අලුයම බුදු ඇසින් ලොව දකින බුදුරජාණන් වහන්සේගේ මහා කරුණාවට ඉතා අසාධ්‍ය තත්ත්වයේ පසු වූ පූතිගත්ත තිස්ස ස්වාමීන් වහන්සේ යොමු විණි. බුදුරජාණන් වහන්සේ අනඳ තෙරුන් සමග ගිනිහල් ගෙට වැඩම කොට ඒ රෝගී ස්වාමීන් වහන්සේ උණු පැනින් නහවා, වණ වී තිබූ සිරුර සියතින් ම පිරිසිදු කොට අලුත් සිවුරු අන්දවා එම අවස්ථාවට අනුව සියලු ඇප උපස්ථාන සිදු කළ සේක. අවසානයේ උන් වහන්සේ ජීවිතයේ අනිත්‍යතාව පැහැදිලි කරමින් තිස්ස හිමියන්ට ධර්මය දේශනා කළ සේක. ධර්මය ඇසීමෙන් තිස්ස හාමුදුරුවෝ රහත් භාවය ලැබ පිරිනිවන් පෑහ.

තවත් එක් භික්ෂු නමක් පිහිටක් නොමැති ව උදරාබාධයකින් පෙළෙමින් සිටි අවස්ථාවක ද බුදුරජාණන් වහන්සේ ආනන්ද තෙරුන් සමග එම භික්ෂු නම නහවා, අවශ්‍ය උපස්ථාන කළහ. එහි දී සියලු භික්ෂූන්ට ගිලානෝපස්ථානයෙහි ඇති වටිනාකම පහදා දුන් සේක.

පුද්ගලයා විවිධ ලෙඩරෝගවලට භාජනය වීම ස්වාභාවික දෙයකි. කිසිවකුටත් එය වැළැක්විය නොහැකි ය. වැදගත් වන්නේ එම රෝගයට බඳුන් වූවන්ට අන් අයගෙන් ලැබෙන උපස්ථානයයි. ඕනෑ ම තරාතිරමක කෙනකු රෝගාතුර වූ කල්හි ඔහු අසරණ වීම, තනි වීම සාමාන්‍ය දෙයකි. ගිලානෝපස්ථානයේ වැදගත්කම පෙන්වා දීමේ දී උපස්ථායකයකු තුළ තිබිය යුතු ගුණාංග ද බුදුරජාණන් වහන්සේ පෙන්වා වදාළහ.

## උපස්ථායකයකු තුළ තිබිය යුතු ගුණාංග

1. රෝගියාට අවශ්‍ය බෙහෙත් පිළියෙල කර දීම
2. රෝගියාට හිතකර හා අහිතකර ආහාර පාන දැන ඒ අනුව කටයුතු කිරීම
3. ලාභ ප්‍රයෝජන අපේක්ෂාවෙන් තොර ව කරුණාවෙන් කටයුතු කිරීම
4. මල මූත්‍ර ආදිය කෙරෙහි පිළිකුල් නූපදවීම
5. රෝගියාගේ සිත සැනසෙන කථා පැවසීම

මෙම ගුණාංග බුද්ධ චරිතය තුළ ද මනා ව පිළිබිඹු වෙයි.

අප අවට සමාජයේ ද අසරණ බවට හා ගිලන් බවට පත් වූවෝ බොහෝ වෙති. ඇතැමෙක් අපගේ නෑදෑ හිතවත්තු ය. ඇතැමෙක් අපට දුරස්ථ වූවෝ ය. ඔවුන් සමාජයෙන් කොන් නොකොට රැක බලා ගැනීමට අප කුඩා කල සිට හුරු පුරුදු විය යුතු ය. එය අප සැමගේ යුතුකමක් මෙන් ම වගකීමක් ද වෙයි. බුදු සිරිත අනුව කටයුතු කරන්නේ නම් සමාජය තුළ අසරණ භාවයට පත් වන්නන් බොහෝ දුරට අඩු වනු ඇත. අසරණයින්ට හා රෝගීන්ට පිහිට වීම සඳහා අපට අනුගමනය කළ හැකි බොහෝ දේ ඇත. වයසට ගොස් සිටින අපේ ම සීයාට, අත්තම්මාට ඒ අයගේ කටයුතු කර ගැනීමට අපට උපකාර කළ හැකි ය. බස් රථයට ගොඩවීමට අපහසු ව සිටින අයකුට කාරුණික ව උදවු කළ හැකි ය. අපේ ම පවුලේ සාමාජිකයකු ගිලන් වූ විට ආදරයෙන් සැලකිය හැකි අතර, තමන්ගේ උපන් දිනය වෙනුවෙන් කාට හෝ අසරණ කෙනකුට යම් උපකාරයක් කරන ලෙස දෙමාපියන්ගෙන්

ඉල්ලා සිටීමට පුළුවන. වටපිටාවේ අසරණ සතුන් සඳහා ජල බඳුනක්, ආහාර බඳුනක් තැබිය හැකි නම් එය ඉතා යහපත් ක්‍රියාවකි. පන්ති කාමරයේ සිටින විෂය කරුණු අවබෝධ කර ගැනීමට අසීරු සොයුරු සොයුරියනට අප උදවු කිරීම ද අසරණ සරණ වීමකි.



## සාරාංශය

අසරණ වීම හා ලෙඩ වීම ලොව සැමට පොදු ධර්මතාවකි. අසරණයින්ට පිහිට වීම උසස් මානුෂික ගුණාංගයකි. මෙම උසස් ගුණාංගයට නිදසුන් රැසක් බුදු සිරිත ඇසුරින් ඉදිරිපත් කළ හැකි ය. අසරණ වූ මහලු පියා, සෝපාක, පටාචාරා, කුඹුරක සීසාමින් සිටි ගොවියා, පූතිගත්ත තිස්ස හිමි ඒ අතර කිහිප දෙනෙකි. කුඩා කල සිට අසරණයින්ට උපකාර කිරීමට පාසල් සිසුන් වශයෙන් අප හුරු පුරුදු විය යුතු ය.



## ක්‍රියාකාරකම

1. බුදුරජාණන් වහන්සේ පිහිට වූ අසරණයින් තිදෙනකුගේ නම් ලියන්න.

2. අසරණ සරණ ගුණය විදහා දක්වෙන කතාවක් ගොඩ නගන්න.

3. පාසල් ශිෂ්‍යයකු වශයෙන් ඔබට අසරණයින්ට පිහිට විය හැකි අවස්ථා තුනක් ලියන්න.




# බුදුගුණ දැන සිත් සනසමු

අප ජීවත් වන සමාජයේ ඇතැමුන්ට ගරු සැලකිලි ලැබෙනුයේ ඔවුන්ගේ වත් පොහොසත්කම් නිසා ය; ඔවුන් සතු ව බොහෝ ධන ධාන්‍ය ඇති නිසා ය. මෙලෙසින් ම සමහරු බලතල නිසා ද තවත් සමහරු නිලතල නිසා ද ගරු බුහුමන් ලබති. මේ හැරුණු විට කුල ගෝත්‍ර නිසා මෙන් ම කාය ශක්තිය නිසා ද, හැඩ රුව නිසා ද මිනිස්සු තවත් මිනිසුන්ගේ ගෞරවයට, සම්භාවනාවට හා ඇගයීමට පාත්‍ර වෙති. එහෙත් බුදු දහම අනුව අප තවත් කෙනකුට ගරු කළ යුත්තේ, සැලකිය යුත්තේ, තවත් අයකු අනුගමනය කළ යුත්තේ ධනවත්කම, බලවත්කම, නිලය, කුලය, ශරීරයේ හැඩරුව අනුව නොවේ; ගුණ නුවණ අනුවයි. ලෝකයෙහි ශ්‍රේෂ්ඨතම අග්‍රගණ්‍ය කරුණ වන්නේ ගුණවත්කම හා නැණවත්කම ය. ඉහත කී ධනයෙන්, නිලයෙන්, බලයෙන් හෝ කාය ශක්තියෙන් වුව ද තමාටත් ලෝකයාටත් ඵලදායක යමක් කළ හැක්කේ ගුණ නුවණින් පිරිපුන් මිනිසාට ය.

ලෝකයෙහි එදා මෙදා තුර පහළ වූ ගුණවතුන් හා නැණවතුන් අතර අතිශ්‍රේෂ්ඨ උතුමාණන් වන්නේ භාග්‍යවත් බුදුරජාණන් වහන්සේ ය. බෞද්ධයන් වන අපි උන් වහන්සේ තරම් ගුණ නුවණින් අගතැන්පත් වෙනත් කිසිවකු ගැන නොදනිමු. උන් වහන්සේ අනන්ත ගුණ ඇති සේක; අනන්ත නුවණ ඇති සේක. බුදුරජාණන් වහන්සේ ධරමාන කාලයේ දී උන් වහන්සේගේ ගුණ නුවණ දඹදිව පුරා පැතිරී තිබිණි. රාජ රාජ මහාමාත්‍යයන්ගේ පටන් ඉතා අසරණ අහිංසක මිනිසුන් දක්වා බුදු ගුණයත්, බුදු නුවණත් ඇගයීමට හා සම්භාවනාවට ලක් වූ බව සූත්‍ර දේශනාවලින් පෙනේ. උන් වහන්සේ වෙත පැවති අනන්ත ගුණ නුවණ සැකෙවින් සංග්‍රහ කොට දැක්වෙන අවස්ථා අතර නව අරහාදී බුදුගුණ පාඨය වඩාත් ප්‍රකට ය.

පළමු ව බුද්ධ වන්දනාවේ දී අප ප්‍රකාශ කරනුයේ ඉහත කී නව ලොව්තුරා බුදු ගුණයි. එහෙත් එම බුදු ගුණවල අර්ථය නොදන සජ්ඣායනා කිරීමෙන් හෝ වන්දනා කිරීමෙන් උසස් ප්‍රතිඵල නොලැබේ. අර්ථ මෙනෙහි කරමින් ඉහත කී පාඨය සජ්ඣායනා කළ යුතු ය. ඒ සමග ම අපට බුද්ධ වන්දනාව ද කළ හැකි වේ. එසේ අවබෝධයෙන් යුතු ව, නිසි ලෙස නව අරහාදී ලොව්තුරා බුදු ගුණ ප්‍රකාශ කරන, මෙනෙහි කරන, වන්දනා කරන තැනැත්තා තුළ සැදැහැවත් බව වැඩි දියුණු වෙයි; බුදුරදුන් පිළිබඳ විශාල ගෞරවයක් ද පැහැදීමක් ද ඔහුගේ සිත තුළ උපදියි. ඔහුට විසිරුණු සිත එක් තැන් කර ගත හැකි ය. බුද්ධානුස්සති නම් වූ භාවනාවට ඔහු යොමු වෙයි. හෙතෙම ශ්‍රද්ධාව පෙරටු කොට ගත් නිවන් මගට පිවිසෙන්නේ ය. දුක් සහිත සසර නිමා කරලන්නට මෙකී බුද්ධානුස්සතියත්, ශ්‍රද්ධාවත් මග සලසයි. එපමණක් නොව සසර බොහෝ සැප ලබන්නට උපකාරී වන පින් දහම් රැස්කර ගැනීමට ද මෙමගින් පෙළඹීමක් ඇති වෙයි. වැඳුම් පිදුම් කිරීමෙන් මෙන් ම වෙනත් වතාවත් කිරීමෙන් ද බුදු ගුණ දන්නා තැනැත්තා සසර සැප ලබන බොහෝ පින්කම් කරයි. එදිනෙදා ජීවිතයේ දී අප සිත් සතන් තුළ ඇතිවෙන බිය, තැති ගැනීම, ලොමුඩැහැ ගැනීම ආදියෙන් අත් මිදීමට ද නව අරහාදී බුදු ගුණ මෙනෙහි කිරීම නිසැක ව ම උපකාරී වන්නේ ය.

**ඉතිපි සෝ භගවා**
**අරහං**
**සම්මා සම්බුද්ධෝ**
**විජ්ජාචරණ සම්පන්නෝ**
**සුගතෝ**
**ලෝකවිදූ**
**අනුත්තරෝ පුරිසදම්ම සාරථී**
**සත්ථා දේව මනුස්සානං**
**බුද්ධෝ**
**භගවා'ති.**

## 1. අරහං

බුදුරජාණන් වහන්සේ රහසින්වත් පව් නොකළ හෙයින් ද, ලෝභ, ද්වේෂ, මෝහාදී සියලු කෙලෙස් නැසූ හෙයින් ද, සියලු පුද පූජාවන් ලැබීමට

සුදුසු වූ හෙයින් ද අරහං ගුණයෙන් යුක්ත වන සේක. මෙම බුදුගුණය වීදාගම මෛත්‍රේය හිමිපාණන් වහන්සේගේ බුදුගුණාලංකාරය නම් පද්‍ය ග්‍රන්ථයෙහි මෙසේ දැක්වෙයි.

| | |
|---|---|
| රහසත් පව් නො | කොට |
| කෙලෙස'රයනුත් දුරු | කොට |
| නිසි වූයෙන් | පුදට |
| අරහ යැයි නම කියති | මුනිඳුට |

## 2. සම්මා සම්බුද්ධ

බුදු පියාණන් වහන්සේ ලෝකයෙහි ඇති අතීත, වර්තමාන, අනාගත යන තුන් කාලයට ම අයත් සියලු දේ, අත්ලෙහි වූ නෙල්ලි ගෙඩියක් මෙන් මනා ව දත් හෙයින් 'සම්මා සම්බුද්ධ' ගුණයෙන් යුක්ත වන සේක. බුදුගුණාලංකාරයේ මෙසේ සඳහන් වෙයි.

| | |
|---|---|
| තුන් කල්හි ම | පැවති |
| පදරුත් සියල් ලොව | ඇති |
| අතැ'ඹුල සෙ | දැනගති |
| එයින් සම්මා සම්බුදුන | යෙති |

## 3. විජ්ජාචරණ සම්පන්න

බුදු පියාණන් වහන්සේ සියලු කෙලෙස් බිඳ දමා උපදවා ගත් විදර්ශනා ඥානය, ඍද්ධි විධ ඥානය ඇතුළු අෂ්ට විද්‍යාවෙන් ද, චරණ ධර්ම නම් වූ ශීලාදි ගුණ පසළොසකින් ද සමන්විත වන බැවින් විජ්ජාචරණ සම්පන්න ගුණයෙන් යුක්ත වන සේක. බුදුගුණාලංකාරයේ එය මෙසේ දක්වා ඇත.

| | |
|---|---|
| විද්දෑ නැණ | අට ද |
| පසළොස් චරණ | ගුණය ද |
| ඇතියෙන් එමුනි | සඳ |
| පිරුණු විජ්ජාචරණ නම් | ලද |

## 4. සුගත

භාග්‍යවත් වූ බුදු පියාණන් වහන්සේ, සියලු කෙලෙස් බිඳ දමා නිවනට ගමන් කළ හෙයින්, යහපත් ගමන් ඇති හෙයින් හා සුන්දර වූ වචන ප්‍රකාශ කරන හෙයින් ද 'සුගත' නම් වන සේක. වීදාගම මා හිමියෝ එම බුදු ගුණය මෙසේ කවියට නගති.

යහපත් කොට යෙතැයි
සුන්දර තැනට සැපතැයි
සොඳුරු බස් කියතැයි
කියති ඒ මුනි රජුට සුගතැයි

## 5. ලෝකවිදූ

ඒ භාග්‍යවත් බුදුරජාණන් වහන්සේ, සියලු කෙලෙස් නසා තුන් ලොව පිළිබඳ ව මනා කොට දැන, නොදන්නා වූ ලෝක ප්‍රජාවට ඉතා පැහැදිලි ලෙස දේශනා කළ බැවින් 'ලෝකවිදූ' වන සේක. ඒ බව බුදුගුණාලංකාරය මෙසේ දක්වයි.

තුන්ලොව තතු ලෙසට
දැනගෙන නොදත් මෙලොවට
දෙසුයෙන් නියම කොට
ලෝකවිදූ යැයි කියති මුනිඳුට

## 6. අනුත්තරෝ පුරිසදම්ම සාරථී

බුදුරජාණන් වහන්සේ දමනය කළ නොහැකි සියල්ලන් දමනය කිරීමේ හැකියාවෙන් යුක්ත වන බැවින් අනුත්තර පුරිසදම්ම සාරථී නම් වන සේක. බුදුගුණාලංකාරය කතුවරයා මෙම ගුණය කවි දෙකකින් මෙසේ විස්තර කරයි.

හැම ගුණයෙන් නදා
සම වැඩි සතකු හැමදා
දියතෙහි නැති සදා
අනුත්තර යැයි කියති මුනිදා

සිත් සතන් පිනවන සියලු ගුණවලින් තමන් වහන්සේට සමාන වූ හෝ වැඩි වූ හෝ සත්ත්වයන් සදාකල්හි ම ලෝකයෙහි නැති හෙයින් බුදුරජාණන් වහන්සේට 'අනුත්තර' යැයි කියති.

බඹ සුර යකුන් තද
දමනය කර තමන් ලද
සෙත් දී මුනිඳු සඳ
පුරිසදම් සාරථී නම් ලද



දැඩි වූ බඹුන්, දෙවියන් හා යකුන් දමනය කර තමන් වහන්සේ අවබෝධ කර ගත් නිවන් සුවය ලබා දුන් නිසා උන් වහන්සේ 'පුරිසදම්ම සාරථී' නම් වන සේක.

## 7. සත්ථා දේවමනුස්සානං

මෙම ගුණයෙන් ප්‍රකාශ වන්නේ බුදුරජාණන් වහන්සේ දෙව් මිනිසුන්ගේ ශාස්තෘවරයා යන්නයි.

"සත්ථා" යනු සාර්ථවාහකයා ය. එනම් වෙළෙඳ කණ්ඩායම් නායකයා ය. අනතුරුවලින් වැළකී, නියමිත ස්ථානයට ළඟාවන වෙළෙඳ නායකයා මෙන් දුකින් පෙළෙන සත්ත්වයන්ට නිවන් මග පෙන්වා දී සසර කතරින් එතෙර ව නිවනට ළඟාවීමට තුන් ලොවට ම මග පෙන්වූ ගුරුවරයා යන අදහසින් උන් වහන්සේ සත්ථා දේවමනුස්සානං නම් වන සේක.

බුදුගුණාලංකාරයේ මෙම ගුණය මෙසේ දක්වා ඇත.

බව කතරින් එතර
ලනුයෙන් සතන් හැම වර
තිලෝගුරු මුනිවර
වී ය සත්තා නමින් පුවතර

## 8. බුද්ධ

බුදුරජාණන් වහන්සේ, ප්‍රතිවේධ ඥානයෙන් යුක්ත වීම, එනම් චතුරාර්ය සත්‍යය තමන් වහන්සේ විසින් අවබෝධ කර ගනු ලැබීම සහ අන්‍යයන්ට කරුණාවෙන් යුතු ව අවබෝධ කරවීම නිසා 'බුද්ධ' නම් වන සේක.

බුදුගුණාලංකාරයේ බුද්ධ ගුණය මෙසේ දක්වා ඇත.

සිව් සස් සිය නැණින්
දන දන් වී ය කුලුණින්
දුරලයි අනුවණින්
එබුදු නම් වී ය ගුණ පමණින්

## 9. භගවා

සම්බුදු පියාණන් වහන්සේ ගෞරවයෙන් හැඳින්වීම සඳහා නවගුණ පාඨයේ මුලින් මෙන් ම, අවසානයේ ද **භගවා** යන්න දක්වා ඇත. සෝ භගවා ඉති'පි ලෙස සෑම පදයක් පාසා ම මෙනෙහි කිරීම සිත පිනවමින් ශ්‍රද්ධාව ඉපදීමට හේතු කාරක වෙයි.

විශුද්ධි මාර්ගය නම් ග්‍රන්ථයෙහි බුදුරජාණන් වහන්සේ 'භගවා' ලෙස හැඳින්වීමට හේතු වූ කරුණු රැසක් දක්වා ඇත. ඉන් කරුණු කිහිපයක් මෙසේ ය;

- ලෞකික, ලෝකෝත්තර සැප ලැබීමට හේතු වන **භාග්‍යය** හෙවත් කුසල් ඇති නිසා.
- භග ධර්ම එනම් ඉසුරුමත් බව, කීර්තිය, රූප සම්පත්තිය ආදියෙන් යුක්ත වීම නිසා.
- රාග, ද්වේශ, මෝහ ආදි කෙලෙස් මුල් සිඳ බිඳ දමා ඇති නිසා.

බුදුගුණාලංකාරය භගවා බුදුගුණය මෙසේ දක්වයි.

බෙදුයෙන් දහම් කඳ
බජනය කෙළෙන් ගුණ කඳ
බග දහමින් සසඳ
බැවින් බගවත් වී ය මුනි සඳ

ධර්මය බෙදා දැක්වූ බැවින් ද, අනූන ගුණයෙන් යුතු බැවින් ද, භාග්‍යවන්ත වූ බැවින් ද මුනීන්ද්‍රයන් වහන්සේ 'භගවා' නම් වූහ.

මේ ආකාරයෙන් අරහාදී බුදුගුණ නවයක් වුව ද, බුදුගුණ අලංකාරයේ වීදාගම මහා මෛත්‍රේය හිමිපාණන් විසින් කවි දහයකින් එය විස්තර කර ඇත.

මෙම උතුම් බුදුගුණ නිතර නිතර මෙනෙහි කරන්නේ නම් අප තුළ ශ්‍රද්ධාව වැඩි දියුණු වේ. සිත දූෂණය කරන කෙලෙස්වලට අප සිත් තුළ සැරිසැරීමට අවස්ථාව නොලැබේ. එම නිසා ලැබෙන සෑම මොහොතක ම බුදුගුණ මෙනෙහි කිරීම ඉතා ප්‍රයෝජනවත් ය. නිරතුරු ව ම බුදුගුණ සිතන, බුදුගුණ වර්ණනා කරන, බුදුගුණ සිහි කර වඳින දරුවන් වන්නට උත්සාහ කරමු. එමගින් අප තුළ ද ගුණ දම් වැඩෙයි.



## සාරාංශය

ඉතිපිසෝ පාඨයෙහි,

- අරහං
- සම්මා සම්බුද්ධ
- විජ්ජාචරණ සම්පන්න
- සුගත
- ලෝකවිදූ
- අනුත්තර පුරිසදම්ම සාරථී
- සත්ථා දේවමනුස්සානං
- බුද්ධ
- භගවා

වශයෙන් බුදු ගුණ නවයකි. එක් එක් බුදු ගුණයක් තුළ ගුණ රාශියක් ඒකරාශී වී ඇත. වීදාගම මෛත්‍රේය හිමි විසින් නව අරහාදී බුදුගුණ ඇසුරින් බුදුගුණාලංකාරය රචනා කර ඇත. අපට ජීවමාන ව බුදුරජාණන් වහන්සේ දැකිය නොහැකි වුවත්, උන් වහන්සේ සතු වූ ගුණ දැන, දැක, ශ්‍රද්ධාව උපදවාගෙන තම ජීවිතයට චරිතායනය කර ගත යුතු ය.



## ක්‍රියාකාරකම

1. නව අරහාදී බුදුගුණ නම් කරන්න.

2. ගුරුවරයන්ගෙන් අසා එක් බුදුගුණයක් තෝරාගෙන බුද්ධානුස්සති භාවනාව වඩන ආකාරය ලියා දක්වන්න



## පැවරුම

පංතියේ සියලු දෙනා ම එකතු වී ලෝවැඩ සඟරාව, ගුත්තිල කාව්‍යය වැනි ඔබට සොයාගත හැකි සිංහල පද්‍ය ග්‍රන්ථවල ඇතුළත් ආරම්භක බුද්ධ වන්දනා කවි එකතු කර පොතක් පිළියෙල කරන්න.




# දිවි සරසන සිරිත විරිත

ළමා සාරියෙන් හා ජාතික ඇඳුමෙන් සැරසී ඉරු දින දහම් පාසලට යන බෝසත් දරු පිරිසකි. සෑම දෙන අත ම මැනැවින් සැකසූ මල් වට්ටියකි. මල් ආසනය ධෝවනය කොට යුහුසුලු ව බුදු පුදට මල්, ගිලන්පස පිළියෙල කරන පිරිසකි. තව පිරිසක් පන්ති කාමර පිරිසිදු කොට පන්ති සකසති. සීනුව නාදවෙයි. සියල්ලෝ පෙළ ගැසී තුනුරුවන වැඳීමට සූදානම් වෙති. පන්සලේ පණ්ඩිත හාමුදුරුවෝ පිරිස තිසරණ පන්සිල්හි පිහිටුවා සැදැහැ වඩන අයුරින් තාලයකට ගාථා කියවති. දරුවෝ ද එක හඬට එක තාලයට එම ගාථා කියති. කෙටි අනුශාසනාවකින් පසු දරුවන් පන්ති කරා පිය නගන්නේ සන්සුන් ගමනිනි. හත් වෙනි ශ්‍රේණියේ බෝසත් පුංචි දරුවෝ හාමුදුරුවන් වහන්සේ තම පන්තියට වඩින තෙක් පුල පුලා බලා සිටිති.

"අන්න අපේ පන්තියට පණ්ඩිත හාමුදුරුවෝ වඩිනවායි," කියමින් ළමෝ සියල්ලෝ ම එකවර නැගිට වැඳ ආචාර කළහ.

"දරුවනේ, ඔබ සියලු දෙනාට තෙරුවන් සරණයි. සියල්ලෝ ම වාඩිවෙන්නකෝ. දැන් මම වඩිනකොට ඔය දරුවන් නැගී සිටියේ ඇයි?"

"අපේ හාමුදුරුවනේ; ඒක හොඳ චාරිත්‍රයක්" යැයි ධම්මිකා කීවා ය.

"බොහොම හොඳයි. අද අපේ පාඩමත් චාරිත්‍ර වාරිත්‍ර ගැනයි.

හොඳයි අපි පළමුවෙන් ම බලමු චාරිත්‍ර කියන්නේ මොනවා ද කියලා. සඳුනි දුවට කියන්න පුළුවන් ද චාරිත්‍ර කියන්නේ මොනවාට ද කියලා?"

"චාරිත්‍ර කියන්නේ අප විසින් පුරුදු කළ යුතු හොඳ දේවල් නේද අපේ හාමුදුරුවනේ?"

"බොහොම හොඳයි. බොහොම හොඳයි. එතකොට විරිත් කියන්නේ මොනවා ද? මම ඒකට පිළිතුරු බලාපොරොත්තු වෙන්නේ ගැමුණු පුතාගෙන්."

"හාමුදුරුවනේ, අප විසින් නොකළ යුතු දේවල්වලට විරිත් කියා කියන්න පුළුවන්."

"උත්තරේ හරි. ඔය සිරිත් අනුගමනය කිරීම චාරිත්‍ර ශීලය නමිනුත් විරිත් බැහැර කිරීම වාරිත්‍ර ශීලය නමිනුත් හඳුන්වා දෙන්න පුළුවන්. මෙන්න අද මම ඔය දරුවන්ට සිරිත් විරිත් ගැන කියා දෙන්නට හොඳ පොතක් ගෙනාවා. හොඳට බලන්න මේ පොත දිහා."

"හාමුදුරුවනේ **සිරිත් මල්දම** නේද?"

"මං හිතන්නේ මේ දරුවෝ මේ පොත කියවලා ඇති."

"හාමුදුරුවනේ, මම ඔය පොතෙන් කටපාඩම් කර ගත්ත කවිත් තියෙනවා. මම එක කවියක් කියන්න ද හාමුදුරුවනේ?" යැයි සඳුනි ඇසුවා ය.

"හොඳයි, බොහොම හොඳයි. හැබැයි ලස්සනට ගායනා කරන්න ඕනෑ."

ඇඳුමට වැඩි වියදම් නොකරන්නේ
වැඩි කොට ඇඳුමුත් ඇඳ නොම ගන්නේ
ගමනට ගෙදරට එක නාදින්නේ
වයසට පමණට ඇඳුම් අඳින්නේ

"හොඳයි දුව තාලයට, ලස්සනට ගායනා කළා. අපි අත්පොළසන් නාදයක් දෙමු. කාට ද කියන්න පුළුවන් සිරිත් මල්දම රචනා කළේ කවුද කියලා?"

"හාමුදුරුවනේ ඇම්.ඇල්. සිල්වා ගුරු මුහන්දිරම් තුමා," යැයි බුද්ධිම පැවසුවේ ය.

"ඔය සිරිත් මල්දම වගේ ම සිරිත් විරිත් පැහැදිලි කරන පොත් කීපයක් ම තියෙනවා. එකක් තමයි තොටගමුවේ ශ්‍රී රාහුල හාමුදුරුවෝ ලියපු කාව්‍යශේඛරය."

"ඒක අපේ තාත්තාගේ පුස්තකාලෙත් තියෙනවා මං දැක්කා," යැයි චතුරි කීවා ය.

"හොඳයි මම දැන් සූදානම ඔය දරුවන්ට කණ්ඩායම් වැඩක් පවරන්න."

"ලබන සතියේ දහම් පාසල් එන විට දූලා පුතාලා කාව්‍යශේඛරය හා සිරිත් මල්දමත්, සොයාගත හැකි තවත් පොතපතත් ඇසුරු කරමින් **නිවසේ දී, පාසලේ දී, පන්සලේ දී** අනුගමනය කළයුතු සිරිත් විරිත් පිළිබඳ වෙන වෙන ම ලේඛන පිළියෙල කරගෙන එන්න ඕනෑ. ඒ සඳහා වැඩිහිටියන් සමග සාකච්ඡා කිරීමත් ප්‍රයෝජනවත් වේවි. මම කණ්ඩායම් ප්‍රධානීන් පත් කරනවා. කණ්ඩායම් තුනට පන්තිය සමාන ව බෙදෙන්න.

1. සරණි දුව ප්‍රධාන කණ්ඩායම - නිවසේ දී අනුගමනය කළ යුතු සිරිත් විරිත්
2. බුද්ධිම පුතා ප්‍රධාන කණ්ඩායම - පාසලේ දී අනුගමනය කළ යුතු සිරිත් විරිත්
3. චතුරි දුව ප්‍රධාන කණ්ඩායම - පන්සලේ දී අනුගමනය කළ යුතු සිරිත් විරිත්

දැන් පුස්තකාලයට ගිහිල්ලා බලන්නකෝ මේ මාතෘකාවලට අදාළ පොත් තියෙනවා ද කියලා.
ඔබ සැමට තෙරුවන් සරණයි!"

★ ★ ★

සතියකට පසු දරුවෝ යළි දහම් පාසලට පැමිණියහ. පන්තියට වැඩම කළ පණ්ඩිත හාමුදුරුවෝ සිසු දරුවන්ට තෙරුවන් සරණ පතා, පැවරූ වගකීම ඉටුකරගෙන ආවා ද යි විමසූහ. කණ්ඩායම් තුනේ ප්‍රධාන දරුවෝ කරුණු දක්වන්නට නැගී සිටියහ. හාමුදුරුවන් වහන්සේ එම කණ්ඩායම් එකිනෙකට පිළිවෙළින් අදහස් ඉදිරිපත් කිරීමට අවස්ථාව සලසා දුන්හ.

### නිවසේ දී අනුගමනය කළ යුතු සිරිත් විරිත්

- දිනකට දෙවරක්වත් ගෙදර හා ගෙදර අවට අතුගා පිරිසිදු කිරීම.
- වැවී ඇති අනවශ්‍ය තණකොළ ගලවා පිරිසිදු කර මල්එලවලින් පිරුණු ගෙවත්තක් සෑදීම.
- ඇඳ පුටු මේස ආදී ගෘහ භාණ්ඩ දූවිලි පිස දමා නිසි පරිදි තබා ගැනීම.
- වාතාශ්‍රය එන පරිදි ජනෙල් පියන්පත් ඇර තැබීම.
- නිවසට ඇතුළුවීමේ දී පැලඳ සිටින පාවහන් ගැලවීම.
- කැලි කසල ආදි අපද්‍රව්‍ය නිසි පරිදි බැහැර කිරීම.
- නරක වචන කිසි විටෙක භාවිත නොකොට ප්‍රියශීලී වචන ම භාවිත කිරීම.
- දෙමාපියන්, වැඩිහිටියන් වාඩි වී සිටින අසුන්වලට වඩා උස් අසුන්වල වාඩි නොවීම.
- එකට එක කියමින් දෙමාපියන් හා වැඩිහිටියන් සමග වාද නොකිරීම.
- තම සිරුර ආවරණය වන පරිදි සුදුසු ඇඳුම් ඇඳීම.
- අවට නිවැසියන්ට හෝ තම නිවසේ ම අයට හෝ බාධා වන සේ ගුවන් විදුලි යන්ත්‍රාදිය භාවිත නොකිරීම.
- උදේ සවස තෙරුවන් වැඳීම.
- දෙගුරුන් වැඳ නිවසින් පිට වීම.
- තමා භාවිත කළ ඇඳුම් පැලඳුම් ඒ ඒ තැන නොදමා නිසි තැන්වල තැබීම.
- දහඩිය සහිත ඇඳුම් පැලඳුම් අව්වේ දමා වියළා ගැනීම.

- වැසිකිළි කැසිකිළිවලට ඇතුළු වීමට පෙර උගුර පාදා ශබ්දයක් කිරීම.
- වැසිකිළි පාවිච්චියෙන් පසු වතුර ගසා පිරිසිදු ව තබා ගැනීම හා අත සබන් ගා සෝදා ගැනීම.
- පාවිච්චි කළ ජල බඳුනේ ජලය ඉතිරි නොකිරීම.
- කෙළ, සෙම්, සොටු ගෙමිදුලේ තැන තැන නොදැමීම.
- වැසිකිළි යන විට දත් නොමැදීම හා කථා නොකිරීම.
- වැසිකිළිය ඇතුළත හා පිටත අශෝභන දේ නොඇඳීම හා නොලිවීම.

"හොඳයි බොහොම මහන්සි වී මෙය පිළියෙල කර තියෙනවා. අපි පසු ව සාකච්ඡා කරමු, මෙයට ඇතුළත් විය යුතු තවත් කරුණු තියෙනවා ද කියා. දැන් කියවන්න බුද්ධිම පුතාගේ කණ්ඩායමේ වාර්තාව."

"අවසරයි අපේ හාමුදුරුවනේ, අප ඒ කරුණු සාරාංශගත කර තිබෙන්නේ මෙහෙමයි."

**පාසලේ දී අනුගමනය කළ යුතු සිරිත් විරිත්**

- පිරිසිදු නිල ඇඳුමෙන් සැරසී සිටීම.
- කෙස්, නියපොතු කපා පිළිවෙළකට කොණ්ඩය පීරා තිබීම.
- පාසලට යන විටත්, පන්ති කාමරය තුළත්, පාසලෙන් පිටවීමේ දීත් ඉතා සංවර ව, විනය ගරුක ව හැසිරීම.
- හුනස්නෙන් නැගිට ගුරු මෑණිවරුන්ට හා ගුරු පියවරුන්ට ආචාර කිරීම, ගුරු බසට මැනැවින් සවන් දීම හා පත පොතට ගරු කිරීම.
- පන්ති කාමරය හා අවට පරිසරය ඉතා පිරිසිදු ව හා පිළිවෙළට තබා ගැනීම, අනවශ්‍ය ඝෝෂා නොකිරීම.

- පන්ති කාමරය තුළ බුදු පිළිමයක් තැබීම, පහනක් දැල්වීම හා මල්, සුවඳ දුම් පූජා කිරීම.

- පාසලේ ගොඩනැගිලි හා උපකරණ අපිරිසිදු නොකිරීම, පිරිසිදු කිරීම සහ ආරක්ෂා කර ගැනීම.

- ඉඳුල් ආහාර ආදිය තැන තැන නොදමා කුණු කසල බහාලන ස්ථානයට නියමිත පරිදි දැමීම.

- තම ගුරුවරුන් සමග මෙන් ම සහෝදර සිසු කැල සමග ද සුහදශීලී ව කටයුතු කිරීම, උපකාර අවශ්‍ය අයට උපකාර කිරීම.

"බොහොම හොඳයි. මීළඟට චතුරි දුවගේ කණ්ඩායමටයි අවස්ථාව."

"අපේ හාමුදුරුවනේ මටත් අවසරයි."

## පන්සලේ දී අනුගමනය කළ යුතු සිරිත් විරිත්

- වැඩිහිටියකු නම් විවිධ විලාසිතා හා පාට ඇඳුමෙන් තොර ව චාම් සුදුවතකින් ද, ගැහැණු ළමයෙකු නම් ළමා සාරියෙන් ද, පිරිමි ළමයෙකු නම් ජාතික ඇඳුමෙන් ද සැරසී පන්සලට යාම.

- හිස්වැසුම් පාවහන් ගලවා පන්සල් බිමට පිවිසීම.

- සෑ මළුව, බෝ මළුව, විහාරය හා අවට ඇමැද කුණු කසල නිසි පරිදි ඉවතලා පිරිසිදු කිරීම හා පහන් වැට පිරිසිදු කිරීම.



- අත් ධෝවනය කොට මල් බඳුන් සකසා, පැන් ඉස, දැහැත් ගිලන්පස ආදිය පිළියෙල කිරීම.

- ත්‍රිවිධ චෛත්‍ය ස්ථානයන්ට හානි නොවන පරිදි පහන් හා හඳුන්කූරු දැල්වීම.

- සෑ රදුන්, බෝ රදුන් හා බුදු පිළිම වහන්සේ අනුපිළිවෙළින් වන්දනා කිරීම සහ සම්බුද්ධ පූජා පැවැත්වීම.

- අන් අයට කරදරයක් නොවන සේ ගාථා සජ්ඣායනා කිරීම හා සැම දෙනා ම එක හඬට එක තාලයට ගාථා කීම.

- තෙරුවන් ක්ෂමා කරගෙන කරණීය මෙත්ත සූත්‍රය සජ්ඣායනා කොට දෙවියන්ට, මියගිය ඥාතීන්ට පිං පෙත් අනුමෝදන් කිරීම හා ප්‍රාර්ථනා ගාථා කියවීම.

- පූජා හා වන්දනා අවසානයේ භාවිත කළ පූජා භාජන ශුද්ධ පවිත්‍ර කොට නිසි තැන තැබීම.

- විහාරස්ථානයෙන් බැහැර වීමට පෙර පන්සලට ගොස් ලොකු හාමුදුරුවන් ප්‍රධාන මහ සඟරුවනට පසඟ පිහිටුවා වැඳ ආශීර්වාද ලබා ගැනීම.

- සිව්පසය සහ පන්සලට ඉටුවිය යුතු වෙනත් යුතුකම් පිළිබඳ විමසා බැලීම.

- මහ සඟරුවනට ආරාධනාවක් කිරීමේ දී දැහැත් වට්ටියක් සුදු වතකින් වසා පිළිගැන්වීම.

"මේ කණ්ඩායමත් ඉතා වැදගත් කරුණු රැසක් ඉදිරිපත් කොට තිබෙනවා. එක් එක් කණ්ඩායම ඉදිරිපත් කළ කරුණු ගැන අනෙක් කණ්ඩායම්වල අදහස් විමසා බලන්න ඕනෑ. ඊළඟ කාලපරිච්ඡේදයේ දී ඒක කරමු. මේ කරුණු රැස් කළා වගේ ම ඒවා පිළිපදින්නත් ඔබ සිලු දෙනාම උත්සාහ දරන්න ඕනෑ."



## සාරාංශය

අප නිවසේ දී, පාසලේ දී, පන්සලේ දී පිළිපැදිය යුතු සිරිත් විරිත් රාශියක් ඇත. යහපත් බොදු දරුවෙකු වීමට එම සිරිත් විරිත් අනුගමනය කරන්නකු විය යුතු ය. ඒවා උපතේ සිට මරණය දක්වාත් අලුයම අවදි වූ වේලේ පටන් නින්දට යාම දක්වාත් පිළිපැදීම අවශ්‍ය වේ. එසේ කරන අය සැමගේ ප්‍රශංසාවට ලක් වේ. නීරෝගිමත්, ප්‍රසන්න පුද්ගලයකු ලෙස සමාජයට පිවිසීමට හැකි වන අතර තමාට ද අපමණ සතුටකින් ජීවත් විය හැකි වේ.



## ක්‍රියාකාරකම

1. සිරිත් විරිත් යන වචන දෙකේ අරුත් දක්වන්න.

2. ආදර්ශවත් සිසුවකු වීමට පාසලේ දී ඔබ අනුගමනය කළ යුතු සිරිත් විරිත් නම් කරන්න.

3. පාඩම් පොතේ එන කරුණුවලට අමතර ව ගෙදර දී අනුගමනය කළ හැකි වෙනත් සිරිත් විරිත් නම් කරන්න.

## පැවරුම

සිරිත් විරිත්වලට අදාළ ව දහම් පාසලේ දී හා දිනපතා පාසලේ දී ප්‍රදර්ශනය කිරීමට සුදුසු ආදර්ශ පාඨ දහයක් සකසන්න.

## පුහුණුවට

1. පව් නම් නරක ම ය - එයින් දෙලොවෙහි දුක ම ය
   පින් නම් උතුම් ම ය - එයින් දෙලොවෙහි මහත් සැප ම ය

2. සෙල්ලම් සිතින් වත් - යම් කිසි තරහකින් වත්
   මරණ සිතකින් වත් - සතුන් හට වද දීම නොහොබිත්

3. තැනින් තැන ගෙන් ගෙට - ගොසින් බලමින් වට පිට
   අනුන් කන බොන විට - ලොබින් නොයිඳින් නැතත් කෑමට

4. ඇඟ වැසුමෙන් නිසි ඇඳුම් අඳින්නේ
   බඩ නෙරුමෙන් රෙදි ඇඳ නොම ගන්නේ
   හිස වැසුමෙන් නිසි තැන නොවදින්නේ
   සුදුසු තැනින් නිසි ලෙස පලයන්නේ

(සිරිත් මල්දම)




# මනස පුබුදන නැණැ'ස පාදමු

පාලි ත්‍රිපිටකය තුළ සූත්‍ර දේශනා දහස් ගණනක් පවතියි. එයින් බෞද්ධයින් වැඩිපුර ම භාවිතයට ගන්නා සූත්‍ර දේශනා කිහිපයක් **පිරුවානා පොත් වහන්සේ** ට ඇතුළත් ව තිබේ. එයිනුදු මහා මංගල, රතන හා කරණීයමෙත්ත යන තුන් සූත්‍රයට ප්‍රමුඛත්වය ලැබේ.

මෙම සූත්‍ර තුන අතරින් කරණීයමෙත්ත සූත්‍රයෙහි මුල් කොටසෙහි ඇතුළත් ව ඇත්තේ නිවන් පතන මෙත් වඩන්නකු තුළ තිබිය යුතු උසස් ගුණාංග ය. ඒවා මෙසේ ය.

1. දක්ෂයකු වීම
2. අවංක බව
3. මැනැවින් අවංක වීම
4. කීකරුකම
5. මෘදු බව
6. අනතිමානී බව
7. ලද දෙයින් සතුටු වීම
8. පහසුවෙන් පෝෂණය කළ හැකි වීම
9. ස්වල්ප කටයුතු ඇති බව
10. සැහැල්ලු පැවතුම් ඇති බව
11. සන්සුන් ඉඳුරන් ඇති බව
12. ප්‍රඥාවන්ත වීම
13. දැඩි ගති නොමැති බව
14. කුලයන්හි නොඇලීම
15. නුවණැතියන්ගේ ගර්හාවට ලක්වන කිසිවක් නොකරන බව

මෙම ගුණයන්හි පිහිටා පියවරෙන් පියවර සතුරු මිතුරු සැම දෙනෙකු කෙරෙහි ම මෙත් සිත පැතිරවිය යුතු ය. කරණීයමෙත්ත සූත්‍රයෙහි ඉගැන්වෙන

**සබ්බේ සත්තා භවන්තු සුඛිතත්තා**

**සියලු සත්ත්වයෝ සුවපත් වෙත් වා!** යන මෛත්‍රී චින්තනය විශ්වයේ වෙසෙන මානවයා ප්‍රමුඛ සෙසු සියලු ජීවීන් සැලකිල්ලට ගනිමින් ඉදිරිපත් කොට ඇත. අනේකවිධ වූ ජීවීන්ගේ වාසස්ථානයක් ලෙස විශ්වය හඳුන්වා දිය හැකි ය. ස්වරූපය අනුව මෙන් ම ප්‍රමාණය අනුව ද විවිධ වූ විචිත්‍ර වූ අපමණ ජීවීහු විශ්වය පුරා ම ජීවත් වෙති. බුදු දහම මිනිසාගේ බුද්ධිමය ශ්‍රේෂ්ඨත්වය ඉහළින් ම පිළිගන්නා අතර සෙසු සැම ජීවියකු කෙරෙහි ම බෙහෙවින් හිතානුකම්පී ආකල්පයක් දක්වයි. ඒ අනුව කරණීයමෙත්ත සූත්‍රයෙහි සියලු සත්ත්වයෝ යන්න අරුත් ගන්වා ඇත්තේ මෙසේ ය.

| | | |
|---|---|---|
| තසා | :- | තැතිගන්නා සුලු (කෙලෙස් සහිත) සත්ත්වයෝ |
| ථාවරා | :- | තැති නොගන්නා (කෙලෙස් රහිත) සත්ත්වයෝ |
| දීඝා | :- | දික් වූ ශරීර ඇති සත්ත්වයෝ |
| මහන්තා | :- | විශාල ශරීර ඇති සත්ත්වයෝ |
| මජ්ඣිමා | :- | මධ්‍යම ප්‍රමාණයේ ශරීර ඇති සත්ත්වයෝ |
| රස්සා | :- | මිටි ශරීර ඇති සත්ත්වයෝ |
| අණුක | :- | ඉතා සිහින් සත්ත්වයෝ |
| ථූලා | :- | වටකුරු (ස්ථූල) ශරීර ඇති සත්ත්වයෝ |
| දිට්ඨා | :- | ඇසට පෙනෙන සත්ත්වයෝ |
| අද්දිට්ඨා | :- | ඇසට නොපෙනෙන සත්ත්වයෝ |
| දූරේ වසන්ති | :- | දුර වසන සත්ත්වයෝ |
| අවිදූරේ වසන්ති | :- | ළඟ වසන සත්ත්වයෝ |
| භූතා | :- | උපන් සත්ත්වයෝ |
| සම්භවේසී | :- | උපතක් සොයන සත්ත්වයෝ |

පර පණ නොනැසීම හෝ අනුනට හිංසා නොකිරීම පුද්ගල සන්තානය තුළින් ම මතුවිය යුතු නිවැරැදි සංකල්පනාවකි. අනුන් සුවපත් කරවීමේ සිතුවිල්ල නැති ව "සියලු සත්ත්වයෝ සුවපත් වෙත් වා!" යි කෙතරම් කීවත්

එයින් ප්‍රයෝජනයක් නොමැත. මෛත්‍රී භාවනාව යනු එය වඩන තැනැත්තාත්, මෛත්‍රිය ලබන තැනැත්තාත් යන දෙපක්ෂයට ම ප්‍රතිඵල ලැබෙන භාවනාවකි.

න පරො පරං නිකුබ්බෙථ
නාතිමඤ්ඤේථ කත්ථචිනංකඤ්චි
බ්‍යාරෝසනා පටිඝසඤ්ඤා
නාඤ්ඤමඤ්ඤස්ස දුක්ඛමිච්ඡෙය්‍ය

මෙමගින් කියවෙනුයේ "කෙනෙක් අනෙකකු නො ඉක්මවන්නේ ය. කිසි තැනෙක්හි ඒ කිසිවකුට අවමන් නොකරන්නේ ය. කය වචනය දෙකින් කරන කෝපයෙන් ද, සිතින් කරන ක්‍රෝධයෙන් ද ඔවුනොවුන්ට දුක් නොකැමැති වන්නේ" ය යන අදහසයි.

එසේ වීමට නම් අව්‍යාජ ලෙස මෛත්‍රිය වැඩිය යුතු ය. එය උපමාවකින් මෙසේ දක්වා ඇත.

මාතා යථා නියං පුත්තං
ආයුසා ඒකපුත්තමනුරක්ඛෙ
ඒවම්පි සබ්බ භූතේසු
මානසං භාවයේ අපරිමාණං

එක ම පුතකු ඇති මවක් දිවි හිමියෙන් එම පුතු ආරක්ෂා කරන්නේ යම් සේ ද එවැනි වූ මෛත්‍රියක් සියලු සත්ත්වයා කෙරෙහි පැතිරවිය යුතු බව මෙයින් කියැවෙයි. මෛත්‍රිය වැඩීමේ දී පළමු ව "මම නිදුක් වෙම්වා" යනාදී වශයෙන් තමා කෙරෙහි මෙත් සිත පැතිරවිය යුතු ය. පසු ව තමාගේ ජීවිතයට වඩාත් සමීප අයෙකු තෝරාගත යුතු අතර එසේ තෝරාගත් තැනැත්තා ජීවත් වන්නෙකු වීමත් ස්ත්‍රී පුරුෂ භේදය අනුව තම පක්ෂයට අයත් කෙනකු වීමත් වැදගත් ය. තමාටත් තමාට සමීපතම අයටත් මෙසේ පිළිවෙළින් මෙත් වැඩීමෙන් පසු ව,

**සියලු සත්ත්වයෝ නිදුක් වෙත් වා!**

යනාදී ලෙස සමස්ත සත්ත්ව ප්‍රජාවට ම මෙත් වැඩීම අපහසු නොවෙයි.

මෛත්‍රී භාවනාව වැඩීම සඳහා භාවිතයට යෝග්‍ය වචන බොහෝ තිබේ. ඒ අතරෙන් ස්වකීය කැමැත්ත පරිදි එක් වචනයක්, වචන කිහිපයක්

හෝ බොහෝ වචන ප්‍රමාණයක් හෝ ගෙන භාවනා කළ හැකි ය. උදාහරණ ලෙස,

සියලු සත්ත්වයෝ නිදුක් වෙත් වා!
දොම්නස් නැත්තෝ වෙත් වා!
නිදුක් වෙත් වා!
නීරෝගී වෙත් වා!
සුවපත් වෙත් වා!



යන වචන භාවිතයෙන් මෙම භාවනාව ප්‍රගුණ කළ හැකි ය. මෙහි දී වාඩි වී භාවනා කරනවිට පුරුෂ පාර්ශ්වයට බද්ධපර්යංකය ද (එරමිණිය ගොතා) කාන්තා පාර්ශ්වයට අර්ධ පර්යංකය ද නිවැරැදි ඉරියව්ව වේ. මෙම භාවනාව සතර ඉරියව්වෙන් ම කළ හැකි වේ.

තිට්ඨං චරං නිසින්නෝ වා
සයානෝ වා යාවතස්ස විගත මිද්ධෝ
ඒතං සතිං අධිට්ඨෙය්‍ය
බ්‍රහ්මමේතං විහාරං ඉධමාහු

සිටගෙන හෝ සක්මන් කරමින් හෝ හිඳගෙන හෝ යහනක වැතිරගෙන හෝ මෛත්‍රී සහගත සිහිය පැවැත්විය යුතු ය. එවිට මෛත්‍රිය බ්‍රහ්ම විහාරයක් වෙයි. මෙසේ අනුක්‍රමයෙන් සියලු සත්ත්ව ප්‍රජාව වෙත මෙත් වැඩීමේ ශක්තිය ඇතිකර ගැනීමත් සමග ම තමාට ලොව කිසිදු සතුරකු නොමැති වෙයි. සියලු ලෝකවාසීහු ම තම මිත්‍රයෝ වෙති. ලොව ජීවත් වන සියල්ලන් ම මිත්‍රයින් නම් කලකෝලාහාල, අඬදබර, යුද කිරීම් යනාදී කිසිවක් ඇති වීමට ඉඩක් නොමැත. මිත්‍රත්වය පලුදු වීම ව්‍යසනයන්ට හේතුවයි. මෛත්‍රී සිතිවිලි පතුරුවන්නා සමාජයේ සියලු දෙනා ම ඉතා සුහදශීලී ව පිළිගන්නා ඉතා ප්‍රසන්න අයකු බවට පත් වෙයි. ඒ අනෙකක් නිසා නොව ඔහුගෙන් සමාජයේ කිසිවකුට කිසිදු ආකාරයක හිරිහැරයක් පීඩාවක් සිදු නොවන නිසා ය. සිත බෙහෙවින් ම පිරිසිදු නිසා ම ඔහු ඉතා සැහැල්ලු පැවතුම් ඇති අයකු බවට පත්වෙයි. මෙමගින් ඉතා සැනසිලිදායක දිවි පෙවෙතක් ගත කිරීමට අපට හැකියාව ලැබේ. එමෙන් ම අපගේ ජීවිතය ආලෝකවත් වේ.



## සාරාංශය

භාවනාව පරලොව සුභ සිද්ධිය සඳහා පමණක් නොව පුද්ගල හා සමාජ සුභ සිද්ධියට ද බෙහෙවින් ම උපකාර වන්නේ ය. මෛත්‍රී භාවනාව ඒ අතර විශේෂිත ය. සතුරු මිතුරු සැමට මෙත් වැඩීම සිතෙහි කුසල ධර්ම වැඩිදියුණු වීමට හේතු වෙයි. කරණීය මෙත්ත සූත්‍රය මෛත්‍රිය වැඩිය යුතු ආකාරය මැනැවින් විස්තර කෙරෙන දේශනාවකි. මිනිසුන් අතර මිත්‍රත්වය පලුදු වීමෙන් බරපතල ගැටලු ඇතිවනු කොතෙකුත් දැකිය හැකි ය. මෙම තත්ත්වය තුරන් කිරීමට ගත හැකි ස්ථිර ම විසඳුම මිනිස් සන්තානය තුළ මෛත්‍රී සිතිවිලි ජනිත කර ගැනීමයි.



## ක්‍රියාකාරකම

1. භාවනා කිරීමට කැමැති වෙනත් ආගමක මිතුරෙකුට බුදු දහමේ ඉගැන්වෙන මෛත්‍රී භාවනාව කරන ආකාරය කියා දෙන ලිපියක් ලියන්න.

2. මෛත්‍රී භාවනාවෙන් ලැබෙන සමාජීය ප්‍රයෝජන ලැයිස්තු ගත කරන්න.



## පැවරුම

පන්තියේ සියලු දෙනා එක් ව කරණීය මෙත්ත සූත්‍රය මතකයෙන් සජ්ඣායනා කරන්න.




# බුදු සසුනේ අග්‍ර දායකයා සහ අග්‍ර දායිකාව

සද්ධා මගේ නැගණියයි. ඇය අපේ පවුලේ බාලයා ය. දිනක් පැවරුමකට පිළිතුරු සොයමින් සිටි ඕ මා ළඟට විත් බුදු සසුනේ අග්‍ර දායකයා හා අග්‍ර දායිකාව කවු ද යි විමසා සිටියා ය. සුදත්ත හෙවත් අනේපිඬු සිටුතුමා බුදු සසුනේ අග්‍ර දායකතුමා බවත් අග්‍ර දායිකාව විශාඛා සිටු දේවිය බවත් මම ඇයට කියා දුනිමි. ඒ සමග ම මේ දෙදෙනාගේ ජීවන තොරතුරුත්, සසුනේ අභිවෘද්ධිය සඳහා කළ සුවිශේෂී මෙහෙයත්, ඒ චරිතවලින් ගත හැකි ආදර්ශත් පැහැදිලි කර දීමට මම උත්සාහ ගතිමි.

## අනේපිඬු සිටුතුමා

කෝසල රාජ්‍යයේ අගනගරය වූ සැවැත් නුවර සුමන නම් සිටුවරයෙක් වාසය කළේ ය. ඔහුගේ පුතා සුදත්ත නම් විය. පියාගෙන් පසු ව සිටු තනතුර හිමි වූයේ එම පුතුටයි. තරුණ වියට පැමිණි හෙතෙම මගධ රට රජගහ නුවර සිටුවරයාගේ දියණිය සමග විවාහ විය. ඔහු පියාගෙන් උරුම වූ වෙළෙඳ ව්‍යාපාරවල නිරත විය. එම කටයුතු ධාර්මික ව සිදු කරමින් විශාල ධනයක් උපයා ගැනීමට ද හේ සමත් විය. කාරුණික හදවතකින් හෙබි සුදත්ත සිටුතෙමේ හැකි සෑම විට ම අසරණයින්ට පිහිට විය. අනාථයින් උදෙසා ආහාර පාන පරිත්‍යාග කළේ ය. ඒ නිසා ම ඔහු අනාථපිණ්ඩික හෙවත් අනේපිඬු යන නමින් ප්‍රසිද්ධ විය.

වෙළෙඳ කටයුතු නිසාත් ඥාති සබඳතාව නිසාත් අනේපිඬු සිටුතුමා නිතර රජගහ නුවර සිටු පවුල සමග සබඳතා පැවැත්වී ය. සිරිත් පරිදි ගැල් කණ්ඩායමක් සමග රජගහ නුවර වෙළෙඳාමෙහි නිරත වූ සුදත්ත සිටුතුමා

දිනක් සවස් කාලයේ සිය ඥාති සිටු නිවසට ගියේ ය. එහෙත් එදින රජගහ නුවර සිටුතුමා වෙනදා මෙන් පෙර මගට පැමිණ උණුසුම් ලෙස ඔහු පිළිගත්තේ නැත. සිටු මැදුර ද කලබලකාරී විය. තමන්ට නොදන්වා මංගල උත්සවයක් හෝ වෙන යම් උත්සවයක් හෝ පැවැත්වෙන්නේ ද යන්න සුදත්ත සිටුතුමාට ප්‍රශ්නයක් විය.

අස්වැසිල්ලක් ලද විගස රජගහ නුවර සිටු තෙමේ සුදත්ත සිටුතුමා සමග සතුටු සාමීචි කතා බහට එක්විය. එහි දී සිටුමැදුර තුළ ඇති විශේෂ සූදානම ගැන රජගහ නුවර සිටුතුමා කියා සිටියේ පසු දින බුදු පාමොක් මහා සංඝරත්නය නිවසට වැඩම කරවා දානයක් පිරිනැමෙන බවයි. බුද්ධ යන වචනය ඇසීමත් සමග සුදත්ත සිටුතුමා තුළ උපන්නේ ඉමහත් ප්‍රබෝධයකි. හෙතෙම බුදුරජාණන් වහන්සේ වැඩ සිටින ස්ථානය විමසමින් ඒ මොහොතේ ම උන් වහන්සේ බැහැදැකීමට යාමට අදහස් කළේ ය. මේ වන විට සීත වනයේ බුදුරදුන් වැඩ සිටින නමුදු මුණ ගැසීමට සුදුසු වේලාව නොවන බවත් පසු දින උදය කාලය ඒ සඳහා යොදාගන්නා ලෙසත් රජගහ නුවර සිටුතුමා පැවසී ය. එදින බුදුරදුන් මුණ ගැසීමට යෑමේ ආශාව ආයාසයෙන් මැඬගත් අනේපිඬු සිටුතුමා පසු දින පහන් වන හෝරාව පැමිණෙන තෙක් නොඉවසිල්ලෙන් සිටියේ ය.

එදින රාත්‍රිය ඔහුට දීර්ඝ විය. අවස්ථා ගණනාවක් අවදි ව අඳුර පහ ව ගොස් ඇති දැ යි සොයා බැලුවේ ය. අවසන අඩ අඳුරේ සීත වනය බලා ගමන් කළේ ය. සක්මනෙහි නිරත ව සිටින බුදුරදුන් දුටු අනේපිඬු සිටාණන්ට මහත් ප්‍රසාදයක් ඇති විය. බුදුරජාණන් වහන්සේ "සුදත්ත මෙහි එන්න" යැයි ඔහුට ආමන්ත්‍රණය කළ සේක. බුදුරජාණන් වහන්සේ සමීපයට ගොස් වන්දනා කළ සුදත්ත "ස්වාමීනි සුවසේ සැතපුණු සේක් දැ?" යි විමසී ය. ඊට පිළිතුර වශයෙන්,

"කෙලෙස් දුරු කළ බැවින් කාමයෙහි නොඇලුණ නිවී සැනසුණ සිත් ඇති තැනැත්තා සියලු කල්හි ම සුවසේ සැතපෙනවා. සිතේ දුක් පීඩා නැතුව සැනසුණ තැනැත්තා නිතර ම සුවසේ වෙසෙනවා" යනුවෙන් බුදුරජාණන් වහන්සේ කළ ධර්ම දේශනයට සවන් දුන් අනේපිඬු සිටාණෝ සෝවන් වූහ. රජගහ නුවර සිටුතුමාගේ නිවසේ දානයට සහභාගි වී මහත් ගෞරවයෙන් දන් පිළිගැන්වූ අනේපිඬු සිටුතුමා තමන් වෙසෙන සැවැත් නුවරට වස් විසීම සඳහා වැඩමවන ලෙස බුදුරජාණන් වහන්සේට ආරාධනා කළේ ය.

ආපසු සැවැත් නුවරට පැමිණි සිටුතුමා බුදු පාමොක් මහ සඟන සඳහා විහාර මන්දිරයක් ඉදිකිරීමට සුදුසු භූමි භාගයක් සෙවී ය. ඒ සඳහා යෝග්‍ය භූමියක් ඔහුගේ නෙතට යොමු විය. ජේත නම් කුමරුට හිමි එය ලබා ගැනීමට සිටුතුමාට විශාල පරිශ්‍රමයක් දැරීමට සිදුවිය. අවසානයේ බිම් කඩ වසා කහවණු ඇතිරීමට එකඟතාවක් ඇති විය. ඒ අනුව සිටුතුමා විසින් සිය භාණ්ඩාගාරයෙන් ගෙනා කහවණු භූමියෙහි අතුරන ලද නමුත් එහි කුඩා කොටසකට ඒවා ප්‍රමාණවත් නොවී ය. සිටුතුමාගේ නිර්ලෝභී භාවය පිළිබඳ ව පැහැදුණු ජේත කුමාරයා එම බිම්කඩ පරිත්‍යාග කළේ ය. ඒ වන විට භූමිය ලබා ගැනීමට සිටුතුමා වැයකර තිබූ මුදල කහවණු දහඅට කෝටියකි.

භූමිය ලබා ගැනීමෙන් අනතුරුව එහි දර්ශනීය ආරාමයක් කරවන ලදි. ජේතවනාරාමය ලෙස එය නම් කරන ලද්දේ ජේත කුමාරයා කළ සුළු පරිත්‍යාගයට කෘතගුණ සැලකීමක් වශයෙනි. එම විහාර කර්මාන්තය සඳහා ද සිටුතුමා කහවණු දහඅට කෝටියක් වැය කළේ ය.

පෙර ඇරයුම පරිදි වස් විසීමට වැඩම කළ බුදුරජාණන් වහන්සේ ප්‍රධාන මහා සංඝරත්නයට ජේතවනාරාමය සාංඝික කොට පූජා කරන ලදි. ආරාම පූජෝත්සවය ද අති උත්කර්ෂවත් අන්දමින් සිදු විය. ඒ සඳහා වැය කළ මුදල ද කහවණු දහඅට කෝටියකි. ඉඩම මිල දී ගැනීමේ සිට ආරාමය කරවා පූජා කිරීම තෙක් වැයකළ මුළු මුදල කහවණු පනස් හතර කෝටියකි. බුදුරදුන් දිවි ගෙවූ පන්සාලිස් වසක කාලයෙන් දහනව වසක් වස් වාසය කර ඇත්තේ ජේතවන විහාරයේ ය. එහි වැඩ විසූ බුදුරදුන් ප්‍රමුඛ මහා සංඝරත්නයට අවශ්‍ය දන්පැන් ආදිය ඇතුළු ව සියලු පහසුකම් සැපයීම සිදු කරනු ලැබුවේ ද අනේපිඬු සිටුතුමා විසිනි.

සිටු නිවස ද නිරතුරු ව භික්ෂූන් වහන්සේලාට දන්දීම සඳහාත් අනාථ අසරණ පිරිසට සංග්‍රහ පැවැත්වීම සඳහාත් වෙන්වුණි. මේ කරුණු නිසා බුදුරදුන් විසින් අනේපිඬු සිටුතුමා වෙත අග්‍රදායක තනතුර පිරිනමන ලදි. දිනකට දෙවරක් බුදුරදුන් දැකීමට යෑම එතුමාගේ සිරිත විය. බුදුරජාණන් වහන්සේ කෙරෙහි පැවති අධික ගෞරවය නිසා කිසි විටෙකත් දහම් කරුණු විමසීමට එතුමා උත්සාහ නොගත්තේ ය. මෙම අදහස දැන ගත් බුදුරජාණන් වහන්සේ ඔහු පැමිණි සෑම වාරයක ම කිසි යම් දේශනාවක් කළ සේක. බුදුරදුන් බොහෝ සූත්‍ර දේශනා කර ඇත්තේ ද ජේතවනාරාමයේ දී ය. ඒ බව "ජේතවනේ අනාථපිණ්ඩිකස්ස ආරාමේ" යනුවෙන් සූත්‍ර ආරම්භයේ ඇතුළත් සඳහනින් පැහැදිලි වෙයි.

තමා පමණක් නොව සිටු නිවසේ සියල්ලන් ද සැදැහැති බෞද්ධයන් බවට පත් කිරීමට සිටුතුමා කටයුතු කළේ ය. ඒ බව කාල නම් තම පුත්‍රයා දහමට අනුව චරිතවත් පුද්ගලයකු බවට පත් කිරීමට සිටුතුමා ගත් උත්සාහයෙන් ප්‍රකට වෙයි.

අනේපිඬු සිටුතුමාට දියණියන් තිදෙනෙකි. ඔවුහු **මහා සුභද්‍රා**, **චූල සුභද්‍රා** හා **සුමනා** නම් වූහ. මෙයින් චූල සුභද්‍රා හා මහා සුභද්‍රා විවාහ දිවියට පත් වුව ද සෝවන් ව සිටියහ. චූල සුභද්‍රා තමන් විවාහ වී සිටි සිටු පවුල ද බෞද්ධයින් බවට පත් කිරීමට සමත් වූවා ය. යුග දිවියට පත් නොවී නිවසේ දාන ශාලාව භාර ව සිටි සුමනා දියණිය සකෘදාගාමී ව සිටියා ය. අනේපිඬු සිටුතුමා තම බෞද්ධ ජීවන රටාව දරුවන්ට පමණක් නොව මුණුබුරු මිණිබිරියන්ට ද හුරු කළේ ය. බෝනික්කකු කැඩී විනාශ වීම නිසා දැඩි ලෙස සොවින් අඬන මිණිබිරියක සනසාලීමට කළේ බෝනික්කා වෙනුවෙන් දානයක් පිරිනැමීමයි. සේවක සේවිකාවන් ද සැදැහැවත් උපාසක උපාසිකාවන් බවට පත්කරලීමට හෙතෙම කටයුතු කළේ ය. ඒ අතර සිටි පුණ්ණා ශාසනික යුතුකම් නොපිරිහෙලා ඉටුකළ උපාසිකාවක් වූවා ය.

බුදුරදුන් දෙව්රම් වෙහෙරෙහි වැඩ නොසිටි අවස්ථාවල සැදැහැවතුනට වැඳ පුදා ගැනීම සඳහා පූජා වස්තුවක් නොතිබිණි. ඒ අඩුව සපුරාලමින් බෝධි අංකුරයක් රෝපණය කිරීමට අනේපිඬු සිටුතුමා මුල්විය. ආනන්ද මාහිමියන්ගේ මග පෙන්වීම මත රෝපණය කළ බැවින් එය **ආනන්ද බෝධිය** නමින් ප්‍රචලිත විය. එම බෝධීන් වහන්සේ අදටත් ජීවමාන ව වැඩ සිටිති.

මුළු ජීවිත කාලය පුරා ම බුදුරදුන් ප්‍රමුඛ මහා සංඝරත්නය පිළිබඳ ශ්‍රද්ධාවෙන් කටයුතු කළ අනේපිඬු සිටුතුමා සම්බුදු සසුනේ අභිවෘද්ධිය උදෙසා විශාල කැප කිරීමක් කළේ ය. හැකි සෑම විට ම අසරණයින්ට පිහිට විය. වියපත් දිවියේ අවසාන භාගයේ සැරියුත් මාහිමියන්ගෙන් බණ අසා අවසන් සුසුම් හෙළූ අනේපිඬු සිටාණෝ තුසිත දෙව්ලොව උපන්හ.

**අනේපිඬු සිටුතුමාගේ චරිතයෙන් අපට ගත හැකි ආදර්ශ අතර පහත සඳහන් ඒවා ද වේ.**

- තෙරුවන් පිළිබඳ ව අචල ශ්‍රද්ධාවෙන් කටයුතු කිරීම
- යහපත් අරමුණු ඉටුකර ගැනීම සඳහා කැපවීම
- දරුවන් හා සෙසු පිරිස් සුමගට ගැනීම
- අසරණයින්ට පිහිට වීම
- දැහැමි ජීවන රටාවක් අනුගමනය කිරීම
- ආශ්‍රිතයන් ආගම දහමට නැඹුරු කරවීම
- සුළු පරිත්‍යාගය වුව ද අගය කිරීම, කළගුණ සැලකීම

## විශාඛා මහා උපාසිකාව

අංග ජනපදයේ භද්දිය නුවර විසූ සිටුවරුන්ගෙන් එක් අයෙකි, මෙණ්ඩක සිටුවරයා. ඔහුගේ පුත් ධනංජයගේ හා සුමනා දේවියගේ දියණිය විශාඛාවයි. ඇය ඉතාමත් රූමත් ය; බුද්ධිමත් ය; දෙමාපියනට ළැදි ය; වනිතාවකට යෝග්‍ය ඇවතුම් පැවතුම්වලින් යුක්ත ය. බුදුරජාණන් වහන්සේ භද්දිය නුවරට වැඩම කළේ ඇය සත් හැවිරිදි වියේ දී ය. ඒ අවස්ථාවේ මෙණ්ඩක සිටුතුමා තම මිනිබිරිය ඇතුළු සම වයස් යෙහෙළියන් බුදුරදුන් දැකීමට යොමු කළේ ය. එදා එම පිරිසට දේශනා කළ ධර්මය අසා විශාඛා දියණිය සෝවන් වූවා ය.

එම වකවානුවේ කොසොල් රජතුමාගේ ආරාධනාවකට අනුව විශාඛාවන්ගේ පියාණන් වූ ධනංජය සිටුතුමා ඇතුළු පවුලේ සැමට කෝසල රාජ්‍යයේ පදිංචියට ඒමට සිදු විය. වාසය සඳහා ඔවුන් තෝරා ගත්තේ සාකේත නුවරයි. විශාඛා දියණිය යොවුන් වියට පත් වූයේ මන නුවන් බඳවන පංච කල්‍යාණයෙන් අනූන රූ සපුවකට හිමිකම් ඇතුව ය. ඇගේ නීල වර්ණ කෙස් කළඹ බොලට දක්වා දික් විය. ඕ තොමෝ කොඳ මල් කැකුළු වන් දත් දෙපෙළ නිසා දන්ත කල්‍යාණයෙන් යුක්ත වූවා ය. වර්ණවත් සිනිඳු සම නිසා ඡවි කල්‍යාණයෙන් ද පොහොසත් වූවා ය; එමෙන් ම මාංස හා වයඃ කල්‍යාණයෙන් ද සමන්විත වූවා ය.

පෙර කළ පිනෙන් පංච කල්‍යාණයෙන් යුක්ත වූ මේ කුමරිය තම යෙහෙළියන් ද සමග සාකේත නුවර එක්තරා සැණකෙළියක් නැරඹීමට ගියා ය. අතරමග හදිසියේ ඇතිවූයේ මහ වැස්සකි. යෙහෙළියෝ වැස්සෙන්

නොතෙමී සිටීමට නගර ශාලාවට දිව ගියහ. නමුත් විශාඛා දියණිය වැස්සේ තෙමි තෙමි සුපුරුදු සන්සුන් ගමනින් එම ශාලාවට පසු ව පැමිණියා ය. එහි සිටි බොහෝ දෙනා ඇගේ ගමන් විලාසය දෙස බලා සිටියේ පුදුමයෙනි. විශේෂයෙන් ම එහි රැඳී සිටි බමුණු පිරිසක් ඇය සමග කතා බහට එක් වූහ.



"දියණිය ඔබ කොතරම් කම්මැලි ද? ඔබගේ යෙහෙළියන් වැස්සෙන් ආරක්ෂා වීම සඳහා යුහුසුලු වුව ද ඔබ අලසකම නිසා තෙමුණා නේ දැ"යි ඔවුහු විමසා සිටියහ.

විශාඛාව පැවසුවේ, "පියවරුනි, ඔබට වෙහෙසක් නොවේ නම් එයට පිළිතුරු දිය හැකියි," යනුවෙනි.

"දියණියනි, අපට වෙහෙසක් නැත. අපි එයට කැමැත්තෙන් සවන් දෙන්නෙමු."

එවිට ඇය මෙසේ පිළිතුරු දුන්නා ය.

"පියවරුනි, මෙලොව සිටින සිව් දෙනෙකු මහ මග දිව යෑම අශෝභන වේ. ඔවුහු බොහෝ දෙනාගේ ගැරහුමට ලක් වෙති. එනම්,

සියලු ආභරණවලින් සැරසුණු මහ රජතුමා
සර්වාභරණයෙන් විභූෂිත මංගල හස්තිරාජයා
සංවර ශීලයෙන් යුතු ශ්‍රමණයන් වහන්සේ
සළුපිළි අබරණින් සැරසුණු කුල කුමරිය

යන සතර දෙනා ය. මී තවදුරටත් මෙසේ ද පැවසුවා ය. දෙමවුපියන් මා හදාවඩා ගත්තේ බොහෝ බලාපොරොත්තු සිතේ තබා ලොවට වැඩ ඇති දියණියක වේවායි යන උතුම් ප්‍රර්ථනාවෙනි. එහෙයින් පියවරුනි, වැසි පොදකට බිය ව දිව යෑමේ දී මගේ සළුපොට පැඟීමෙන් හෝ ගල්මුල් ආදියක පය හැපීමෙන් හෝ බිම ඇද වැටී අත්පා බිඳී යෑමක් සිදුවුවහොත් මගේ සිරුරේ වටිනාකම ද බිඳී යන්නේ ය. එවිට දෙමාපියන්ට බරක් ව නිවසේ ම විසීමට මට සිදු වන්නේ ය. මේ සියලු කාරණා ගැන සැලකිලිමත් ව, සෙසු අයට වඩා වේගයෙන් දිව යෑමේ හැකියාව පැවැතුණත් එසේ නොකළෙමි. තෙමුණ ඇඳුම් වේළා ගැනීමට ගත වන්නේ සුළු කාලයකි. සිරුරට යම් හානියක් සිදුවුවහොත් එය යථා තත්ත්වයට පත්කර ගැනීමට බොහෝ කාලයක් ගත වෙයි. සමහරවිට ජීවිත කාලයට ම නොහැකි වනු ඇත.” මෙම ප්‍රකාශයට කන් දුන් බමුණු පිරිස ඇය පංච කල්‍යාණයෙන් පමණක් නොව නුවණැති බවින් ද අනූන බව වටහාගෙන තමන් ආ කරුණ ඇයට දන්වා සිටියහ.

තමන් සැවැත් නුවර මිගාර සිටුතුමාගේ දූත පිරිසක් බවත් එතුමාගේ පූර්ණවර්ධන නම් වන සිටු පුතුට ආවාහ කර ගැනීමට සුදුසු කුල කුමරියක සොයා ගැනීමේ අපේක්ෂාවෙන් පැමිණි බවත් දන්වා සිටියහ. ඒ ගැන සිටු කුමරියගේ අදහස් විමසන ලදි. ඇය කියා සිටියේ දෙමාපිය කැමැත්ත මත එවැන්නක් සිදුවිය යුතු බවයි. දූත පිරිස පියතුමන්ගේ නම්ගොත් හා මාර්ගය විමසා ධනංජය සිටු මැදුරට ගොස් තමන් පැමිණි කරුණ සිටු යුවළට සැලකර සිටියහ. එම යුවළගේ කැමැත්ත ලැබීමෙන් අනතුරුව ඔවුහු සැවැත් නුවරට ගොස් මිගාර සිටුතුමාට දැන්වූහ. පසු ව දෙපිරිසගේ ම කැමැත්ත පරිදි විවාහ මංගල උත්සවයට දින නියම කර ගැනිණි.

මංගල උත්සවයට පෙර දින රාත්‍රියේ ධනංජය සිටුතුමා තම දියණියට යුග දිවිය සාර්ථක කර ගැනීම සඳහා වැදගත් උපදේශ 10ක් ලබා දුනි.

1. ඇතුළත ගිනි පිටතට නොදිය යුතු ය.
(තම නැන්දා මාමාගේ හෝ ස්වාමි පුරුෂයාගේ අගුණ හෝ දෝෂ පිට අයට නොකිව යුතු ය)

2. පිටත ගිනි ඇතුළට නොගත යුතු ය.
(තම නැන්දා මාමා හෝ ස්වාමි පුරුෂයා පිළිබඳ ව වටපිටාවේ සිටින අය අගුණ හෝ දොස් කිවහොත් එය ගෙදර අයට නොකිව යුතු ය)

3. දෙන්නන් හට දිය යුතු ය.
(ණයක් දෙන්නේ නම් ආපසු දෙන අයට පමණක් දිය යුතු ය)

4. නොදෙන්නන් හට නොදිය යුතු ය.
(ණයක් ලබාගෙන ආපසු නොදෙන අයට නොදිය යුතු ය)

5. දෙන්නන් හටත් නොදෙන්නන් හටත් දිය යුතු ය.
(දුප්පත් නෑයන් හා මිතුරන් පැමිණ යමක් ඉල්ලුවොත් ආපසු ලැබුණත් නොලැබුණත් දිය යුතු ය)

6. සුවසේ හිඳගත යුතු ය.
(නැන්දා මාමා හා ස්වාමිපුරුෂයා හෝ වෙනත් වැඩිහිටියන් පැමිණෙන විට නැඟී සිටීමට සිදු නොවන පරිදි අසුන් ගත යුතු ය)

7. සුවසේ අනුභව කළ යුතු ය.
(යහපත් භාර්යාවක ලෙස තම නැන්දා මාමා හා ස්වාමිපුරුෂයාට සියතින් ම අහාරපාන පිළිගන්වා නිවසේ සෙසු අයගේ ද අහාරපාන ගැන සොයා බලා තමා අනුභව කළ යුතු ය)

8. සුවසේ නිදා ගත යුතු ය.
(නැන්දා මාමා හා ස්වාමිපුරුෂයාට අවශ්‍ය දේ සපයා දී ඔවුන් නින්දට ගිය පසු ගේ දොර වසා ඇත්ද යි පරීක්ෂා කොට බලා නින්දට යා යුතු ය. එවිට නින්ද අතරතුර දී අවදි වීමට අවශ්‍ය නොවේ)

9. ගිනි පිරිමැසිය යුතු ය.
(නැන්දා මාමා කෙරෙහිත් සැමියා කෙරෙහිත් ගරුසරු ඇතිව සිටිය යුතු ය. ඔවුන් කෝප කරවීම නුසුදුසු ය)

10. ඇතුළත දෙවියන් පිදිය යුතු ය.
(නැන්දා මාමා හා ස්වාමියා ඇතුළත දෙවියන් ය. ඔවුනට කළ යුතු සත්කාර නොඅඩු ව සිදු කළ යුතු ය)

ඇය මෙම අවවාද තරයේ ක්‍රියාත්මක කිරීමට අදිටන් කරගෙන පසු දින යුග දිවියට පිවිසුණා ය. එදින පියතුමන් තම දියණියට ලබාදුන් තෑගි බෝග අතර විශේෂ ආභරණයක් ද විය. එනම් කහවණු නව කෝටියක් වැයකොට සාදා දුන් මේල පළඳනාවයි. මෙය හිසේ පටන් පහතට විහිදී යන වටිනා පළඳනාවකි. එම පළඳනාව විශාඛාව වැනි ශක්තිමත් කාන්තාවකට හැර වෙනත් අයෙකුට ඉසිලිය නොහැකි බව ද සඳහන් ය. ඊට අමතර ව ඇයට සේවය කිරීමට දැසි දසුන් මෙන් ම උපදෙස් ලබා ගැනීමට උපදේශකවරුන් අට දෙනෙකු ද ලබා දුනි.

පති කුලයට පැමිණි විශාඛා සිටු දියණිය සිය නැදි මයිලන්ට ද මවුපියන්ට මෙන් ගරු සැලකිලි කළා ය. මිගාර සිටු පවුල ජෛන බැතිමතුන් වුව ද විශාඛාව තම ආගම දහම අත් නොහැරියා ය. බුදු බණ ඇසීමට සලස්වා නැදි මයිලන්ට ද බෞද්ධ උපාසක උපාසිකාවන් බවට පත් වීමට මග පෙන්වූවා ය. තමනට නිවැරදි මාර්ගය පෙන්වා දීම ගැන සතුටට පත් මිගාර සිටුතුමා විශාඛාව තම මෑණියන් සේ සැලකීමට යොමුවිය. එතැන් පටන් ඇය **මිගාර මාතා** නමින් ප්‍රසිද්ධ විය.

ඉතා කෙටි කලක දි ගෘහණියක වශයෙන් විශාඛා සිටු දියණියගේ ආදර්ශවත් ගති පැවැතුම් සැවැත් නුවර සියල්ලන්ගේ ම ගෞරවයට හා ප්‍රශංසාවට පාත්‍ර විය. හැම විට ම වැඩිහිටියෝ තම දරුවනට විශාඛාවන් ආදර්ශයට ගනිමින් හොඳ සිරිත් විරිත් හා යුතුකම් ඉටුකිරීම පුරුදු වන ලෙසට උපදෙස් දුන්හ. ඇය පවුලේ අයට මෙන් ම සේවක සේවිකාවනට ද ගුණගරුක ස්වාමි දියණියක් වූවා ය. හැකි සෑම විට ම උත්සාහ ගත්තේ ඔවුන් බණට දහමට යොමු කිරීමට ය. පෙහෙවස් සමාදන් වූ දිනවල එක් එක් වයස්වල සිටින කාන්තාවන් සමග ධර්ම සාකච්ඡාවල නිරත වූයේ දහම් දැනුම වර්ධනය කරලීමට ය. තිරිසන් සතුන්ට පවා ඇය ආදරය, කරුණාව දැක්වූවා ය.

විශාඛා උපාසිකාව සිදු කළ සුවිශේෂ ශාසනික මෙහෙවර වූයේ තමන් සතු වූ ඉතා වටිනා මේල පළඳනාව මිලකොට සැවැත් නුවර පූර්වාරාමය ඉදිකිරීමයි. සැදැහැවත් කුලුපග දායිකාවක වූ විශාඛාවෝ උදය වරුවේ විහාරයට ගොස් දන් පිළිගැන්වූහ. සවස් කල රෝගී භික්ෂූන් වහන්සේලාට කැඳ හා බෙහෙත් සැපයූහ. විහාරස්ථානයට යනවිට කුඩා භික්ෂූන් වහන්සේලාට ඇය රස කැවිලි රැගෙන ගිය පුවත ද ඉතා ප්‍රකට ය. ඇතැම් විට භික්ෂුණීන් වහන්සේලා සම්බන්ධ ව ඇති වූ යම් යම් ගැටලු නිරාකරණය කිරීමට ද ඕ

මැදිහත් වූවා ය. මේ ආකාරයට විහාරස්ථානය හා පැවති සබඳතා නිසාත් ශාසනික අභිවෘද්ධිය සඳහා කළ සුවිශේෂී කැප කිරීම නිසාත් බුදුරජාණන් වහන්සේ එතුමිය අග්‍ර දායිකා තනතුරට පත් කළ සේක. වසර 120ක් නිදුක් නීරෝගී ව දිවි ගෙවූ විශාඛා උපාසිකාවෝ මරණින් මතු තුසිත දෙව්ලොව උපන්හ.

**විශාඛා උපාසිකාවගේ චරිතයෙන් අපට ගත හැකි ආදර්ශ**

- ගැහැනු ළමයෙකුට ගැළපෙන ඉරියවු පවත්වාගෙන යාම
- දියණියක ලෙස දෙමාපිය උපදෙස් නිසි පරිදි පිළිපැදීම
- බිරිඳක, ලේලියක, මවක ලෙස සිය යුතුකම් හා වගකීම් නිසි පරිදි ඉටු කිරීම
- ධන බලයෙන් හා රූමත්කමින් උඩඟු නොවීම
- ආගමට දහමට ළැදි ව කටයුතු කිරීම
- බුද්ධිමත් ව තීරණ ගෙන ක්‍රියා කිරීම
- අලස නොවී කඩිසර ව කටයුතු කිරීම
- වැරැදි මග ගියවුන් සුමගට ගැනීම
- විවාහය නිසා තම ආගම වෙනස් නොකිරීම
- දැනුම බෙදා හදා ගැනීමට යොමු වීම



## සාරාංශය

බුදු සසුනේ අග්‍ර දායකයා ලෙස අනේපිඬු සිටුතුමාත් අග්‍ර දායිකාව ලෙස විශාඛා සිටු දියණියත් බුදුරදුන් විසින් පත් කරනු ලැබුවේ ශාසනික අභිවෘද්ධිය සඳහා එම දෙපළගෙන් සිදු වූ අනුපමේය මෙහෙවර සැලකිල්ලට ගෙන ය. පුද්ගලයකු විසින් කරනු ලබන හොඳ වැඩ එම අයගේ මෙලොව ජීවිත මෙන් ම පරලොව ජීවිතය සරුකර ගැනීමට ද උපකාරී වන බව මෙම චරිත අධ්‍යයනයෙන් පැහැදිලි වේ. මෙම පුද්ගල ජීවන තොරතුරු අපගේ සමාජය ගොඩනගා ගැනීමට මෙන් ම චරිත සකස් කර ගැනීමට ද බොහෝ සෙයින් උපකාරී වේ.



## ක්‍රියාකාරකම

1. අනේපිඬු හා විශාඛා චරිත කතාවල ඔබ සිත්ගත් අවස්ථාවක් සැකෙවින් දක්වා එසේ සිත් ගැනීමට හේතු දක්වන්න.
2. ඔබගේ චරිතය හැඩගස්වා ගැනීමට මේ චරිත දෙකෙන් ලබා ගත හැකි ගුණ ධර්ම 5ක් ලියන්න.
3. ජේතවනාරාමයට එම නම් තැබීමට හේතුව පැහැදිලි කරන්න.



## පැවරුම

මෙම පාඩමට අනුව ඇතුළත ගිනි පිටතට ලබා දීමත් පිටත ගිනි ඇතුළට ගැනීමත් නිසා ඇති වන ගැටලු දක්වමින් බෞද්ධ ශිෂ්‍ය සංගමයේ දී ඔබ කරන කතාවට ඇතුළත් කර ගන්නා වූ කරුණු ලියා දක්වන්න.

07

# ධම්ම පදයෙන් අපේ දිවියට

පසුගිය වසරේ ප්‍රථම වාරයේ දී අප පාසලේ ඉහළ ශ්‍රේණිවල සිසුහු තවත් ප්‍රසිද්ධ පාසලක සම වයසෙහි සිසුන් සමග ක්‍රිකට් ක්‍රීඩා තරගයක් පැවැත්වූහ. දෙපිලකට බෙදී ඔවුන් ක්‍රියා කළ අතර දෙපිලේ ම අරමුණ වූයේ ජයග්‍රහණය ලබා ගැනීමයි.




ඒ අනුව ආරම්භයේ සිට ම දෙපිලෙහි ම ක්‍රීඩකයෝ තම ප්‍රතිඵල මත ප්‍රකෝප වන සේ කෑගැසීමට ද උසුළු විසුළු කිරීමට ද විවිධ බාධා සිදු කිරීමට ද පෙළඹුණෝ ය. ඒ අනුව දෙපිල තුළ ම එකිනෙකා කෙරෙහි ක්‍රමයෙන් ගොඩනැගුණේ ක්‍රෝධයයි, බලවත් විරෝධයයි. ඔවුන් අතර පෙර

පැවැති සුහදත්වයට ද හානි සිදු වෙමින් පැවැති අතර තරගය අවසන් වූයේ සිදු විය යුතු පරිදි ම එක් පිලක් ජය ගෙන අනෙක් පිල පරාජය වීමෙනි. ක්‍රමයෙන් දෙපක්ෂය තුළ ම ගොඩනැගී තිබුණ විරෝධාකල්ප උතුරා යාමට වැඩි වේලාවක් ගත නොවී ය. එහි දී තරුණ සිසුන් අතර ඇති වූයේ මහා ගැටුමකි. එය සන්සිඳුවීමට ආරක්ෂක අංශවලට හෝ ගිහි ගුරුභවතුන්ට හෝ නොහැකි තරම් වීය. මේ අතර අප විදුහලේ ධර්මාචාර්ය ස්වාමීන් වහන්සේ සිසුන් අතරට වැඩම කළහ. උන් වහන්සේ එදා එම සිසුනට දුන් අවවාදයේ පහත සඳහන් කරුණු ද ඇතුළත් විය.

ගිම්හානය යනු වැසි නොවැටෙන වියළි සමයයි. අවුරශ්මියෙන් ගිනිගෙන දැවෙන එබඳු ගිම්හාන සෘතුවේ මුල් අවධියෙහි වන ගොමුවක සොඳුරු සුවඳවත් මලක් පිපී තිබීම අසිරිමත් දර්ශනයකි; ආශිර්වාදයකි. බුදුරජාණන් වහන්සේ දෙසූ දහම ද එබඳු යැයි බුද්ධ දේශනාවෙහි ම සඳහන් වේ. එම දහම සිත් සනසයි; මිහිරියාව උපදවයි; සසර දුක් නිවයි. ධම්ම පදය යනු එකී සම්බුදු දහම ඇතුළත් ත්‍රිපිටක දේශනාවෙහි සූත්‍ර පිටකයේ ඛුද්දක නිකායට අයත් ග්‍රන්ථ පහළොවෙන් එකකි.

එහි ඇතුළත් ගිම්හානයෙහි පිපුණු මල් පොකුරක් වැනි බුද්ධ දේශනාවක් මෙසේ ය.

අක්කොච්ඡි මං අවධි මං
අජිනි මං අහාසි මේ
යේ තං උපනය්හන්ති
වේරං තේසං න සම්මති

(යමක වග්ගය - 3 ගාථාව)

අසවලා මට බැන්නේ ය, මට පහර දුන්නේ ය, මා පරාජය කළේ ය, මා සතු දෙය පැහැර ගත්තේ ය යනුවෙන් යම් අය නැවත නැවත සිතත් නම්, ඔවුන්ගේ වෛරය නොසන්සිඳේ.

අක්කොච්ඡි මං අවධි මං
අජිනි මං අහාසි මේ
යේ තං න උපනය්හන්ති
වේරං තේසූපසම්මති

(යමක වග්ගය - 4 ගාථාව)

අසවලා මට බැන්නේ ය, මට පහර දුන්නේ ය, මා පරාජය කළේ ය, මා සතු දෙය පැහැර ගත්තේ ය යනුවෙන් යම් අය නැවත නැවත නොසිතත් නම්, ඔවුන්ගේ වෛරය සන්සිඳේ.

අප ලොව්තුරා බුදුරජාණන් වහන්සේ ඉහත දැක්වූ ධම්ම පද ගාථා දෙක දේශනා කළේ ථුල්ල තිස්ස තෙරුන් අරභයා ය. උන් වහන්සේ පැවිදි වූයේ මහලු වියේ දී ය. බුදුරජාණන් වහන්සේට සමීප ඥාති සම්බන්ධයක් තිබූ නිසා ථුල්ල තිස්ස හිමියෝ උඩඟු වූහ; තමා පැවිද්දෙන් ළාබාලයකු බව නොසිතා ක්‍රියා කළහ; වැඩි මහලු තෙරුන් වහන්සේලාට ගරු නොකළහ; වත් පිළිවෙත් නොදත්හ; ඉටු නොකළහ; තම අඩුපාඩු සකස් කර ගැනීමට උත්සාහයක් ද නොගත්හ. බුදුරදුන්ට සමීප ව සිටිමින් මියුරු ආහාර වළඳා පෘෂ්ඨිමත් සිරුරකින් යුක්ත වූ උන් වහන්සේ ථුල්ල තිස්ස නාමයෙන් හඳුන්වනු ලැබූහ. ජේතවනාරාමයට නිතර පැමිණෙන ආගන්තුක භික්ෂූන් වහන්සේලා ථුල්ල තිස්ස හිමියන් පැවිද්දෙන් බාල බව නොදැන වැඳුම් පිදුම් ගරු සත්කාර ආදිය කළහ. උන් වහන්සේ ද තම නොදැනුවත්කම හා උඩඟුකම නිසා ඒ වැඳුම් පිදුම් පිළිගත්හ. දිනක් මේ වැරැදි ගතිපැවතුම් පෙන්වා දෙමින් එක් තරුණ භික්ෂු නමක් ථුල්ල තිස්ස හිමියන්ට අවවාද කළහ. එය තමන්ට පරිභව කිරීමක් සේ සිතූ ථුල්ල තිස්ස හිමියෝ කෝප වූහ; වහා බුදුරදුන් වෙත ගොස් පැමිණිලි කළහ. සියලු තොරතුරු විමසා බැලූ බුදුරජාණන් වහන්සේ නවක භික්ෂුවක් ලෙස ඉටු කළ යුතු වත් පිළිවෙත් ඉටු නොකිරීමත් ගරු කළ යුත්තන්ට ගරු නොකිරීමත් වැරැදි බව ථුල්ල තිස්ස හිමියන්ට පෙන්වා දුන්හ; තමන් සිදු කළ වැරැදි ක්‍රියා භික්ෂූන් වහන්සේලා ඉදිරියේ පවසා සමාව ගන්නා ලෙස අවවාද කළහ. එහෙත් උන් වහන්සේ උතුම් බුදු වදන පවා නොපිළිගෙන දිගින් දිගට ම වෛරී සිතුවිලිවලින් යුක්ත ව විසූහ. ඒ නිමිති කොට බුදුරජාණන් වහන්සේ ඉහත ධම්ම පද ගාථා යුගල දේශනා කළ සේක.

පළමු ගාථාවෙන් කියැවෙන්නේ ලෝකයේ සාමාන්‍ය ස්වභාවයයි. මිනිස්සු මෙබඳු ප්‍රශ්නවල දී එකිනෙකාට චෝදනා කරති; ආක්‍රෝශ පරිභව කරති; මා පැරදුවේ යැයි වෛරී සිත් ඇතිකර ගනිති. නැවත නැවත සිහි කිරීමෙන් එම වෛරය දියුණු වේ; නොසන්සිඳේ.

බෞද්ධ පිළිවෙත වන්නේ අසවලා මට බැන්නේ ය, මට ගැසුවේ ය, මා පැරදවූයේ යැයි නැවත නැවත නොසිතීමයි. එය වෛරය සන්සිඳීමට හේතු වේ. තමාට ආක්‍රෝශ පරිභව කිරීම් ආදිය ගැන නැවත නැවත සිතීම, ඒ නිසා ම වෛරී සිතුවිලි ඇති කර ගැනීම ආදියෙන් සිදුවන්නේ තමන්ගේ සිත අපිරිසිදු වීමයි. සිත අපිරිසිදු වීමෙන් තමන්ට සිදුවන්නේ අයහපතකි. වෛරය ක්‍රෝධය අඩු වූ තරමට සෙත සැලසෙන්නේ සමාජයට පමණක් නොවේ; තමන්ට ද එයින් ඉමහත් සෙතක් සැලසේ.

මිතුරු මිතුරියන් හා වැඩිහිටියන් සමග ජීවත් වීමේ දී මෙවන් අවස්ථාවලට මුහුණ දීමට ඔබට ද සිදුවිය හැක. උදාහරණයක් ලෙස පිල් බෙදී කරන ක්‍රීඩාවකට අවධානය යොමු කරමු. ක්‍රීඩාවේ අවසාන මොහොත දක්වා ම දෙපිලේ ම අරමුණ කෙසේ හෝ ජයග්‍රහණය කිරීමයි. ඒ අනුව ප්‍රතිවිරුද්ධ පිල ප්‍රකෝප වන සේ කෑ ගැසීම, උසුළු විසුළු කිරීම, රැවටීම හා ඔවුන්ට විවිධ බාධා සිදු කිරීම දැකිය හැකි ය. මෙවැනි ක්‍රියාවලින් වැළකීම බෞද්ධ දරුවන් වන අපගේ වගකීමයි. තරග අවසානයේ ජය පරාජය එක සේ විඳ දරා ගැනීමට අපට හැකියාව තිබිය යුතු ය. කිසිදු ආකාරයක ගැටුමක් ඇති කර නොගත යුතු ය. අවසානයේ දෙපිල ම එකිනෙකාට සුබ පතා සතුටින් නික්ම යා යුතු ය.

අපට නිතර නිතර ගුරුවරු මෙන් ම දෙමාපියෝ ද අවවාද කරති; වැරැදි පෙන්වා දෙති. එබඳු අවස්ථාවක මට බැන්නේ ය, ගැසුවේ ය යැයි ආක්‍රෝශ පරිභව කරමින් වෛරී සිතුවිලි ඇති කර ගැනීම අපේ ම අයහපතට හේතු වේ. ශිෂ්‍ය නායක නායිකාවෝ ද, මිතුරු මිතුරියෝ ද අපේ වැරැදි නිවැරැදි කරමින් ඇතැම් විට මග පෙන්වති. එවන් අවස්ථාවල ද ඉවසීමෙන් යුතු ව අවවාද පිළිගෙන මෛත්‍රී සහගත ව ක්‍රියා කිරීමට අප හුරු පුරුදු විය යුතු ය. බොහෝ විට සමාජයේ ගැටුම් ඇතිවන්නේ මිනිසුන් එකිනෙකාට ආක්‍රෝශ පරිභව කරමින් ක්‍රියා කිරීමෙනි. වෛරයෙන් වෛරයට යාමෙනි. එකිනෙකා පැරදවීමට ක්‍රියා කිරීමෙනි. එබැවින් ගුරු දෙගුරුන්ගේ අවවාද පිළිගෙන අනතිමානී ව කටයුතු කළ යුතු ය. එයින් අමනාපකම් සන්සිඳේ. එය අනාගත ජීවිතයේ යහපත පිණිස ම හේතු වේ.

අප මහ බෝසතාණන් වහන්සේ දුෂ්කර ක්‍රියා අතහරිමින් සුජාතා සිටු දියණිය පිළිගැන්වූ කිරිපිඬු වළඳා රන් පාත්‍රය ගංගා නම් ගඟෙහි පා කළ විට එය උඩු ගං බලා ගිය බව අප අසා ඇත. එයින් සංකේතවත් කළේ ගඟ පහළට ම යන හෙවත් යටි ගං බලා යන දහමක් බුදුවරුන් දේශනා නොකරන බවයි. බුදු දහම **අනුසෝතගාමී** නොවේ; යටි ගං බලා යාමට මඟ පෙන්වන්නේ නැත. වෛරයෙන් වෛරයට යන මිනිසුන් තැනීම බුදුරදුන්ගේ අපේක්ෂාව නොවී ය. බුදු දහම **පටිසෝතගාමී** ය; එනම් උඩු ගං බලා යාමට මඟ පෙන්වන්නකි. ඒ අනුව බෞද්ධ දරුවන් වන අප යා යුත්තේ වෛරයෙන් අවෛරයටයි. ක්‍රෝධයෙන් අක්‍රෝධයටයි. එමගින් වෛරය ක්‍රෝධය නැති නිවුණ ශාන්ත සිත් ඇති අනුන් ප්‍රිය කරන දරුවන් වීමට අපට හැකියාව ලැබේ.



### සාරාංශය

- සූත්‍ර පිටකයේ ඛුද්දක නිකායට අයත් ධම්ම පදය බෞද්ධයාගේ අත් පොතයි. එහි බුද්ධ දේශනා හාරසිය විසිතුනක් ඇති අතර ඒවා වග්ග විසි හයකට සංග්‍රහ කොට ඇත.
- මට බැන්නේ ය, මට ගැසුවේ ය, මා පැරදවූයේ ය, මගේ දේ පැහැර ගත්තේ යැයි නිතර නිතර මෙනෙහි කරන්නාගේ වෛරය නොසන්සිඳේ. එසේ නොකරන්නාගේ වෛරය සන්සිඳේ.
- ගුරු දෙගුරුන් හා මිතුරු මිතුරියන් දෙන අවවාද උපදෙස් ආදිය පිළිගනිමින් ඉවසීමෙන් හා මෛත්‍රියෙන් කටයුතු කිරීමට අප පුරුදු පුහුණු විය යුතු ය.



## ක්‍රියාකාරකම

1. මෙහි ඇතුළත් ධම්ම පද ගාථා යුගල කට පාඩමෙන් ගායනා කරන්න.

2. ඉහත ධම්ම පද ගාථා ඇසුරින් ළමා ජීවිතයට අදාළ ව ආදර්ශ පාඨ හතරක් ලියන්න.



## පැවරුම

මෙම පාඩමෙහි සඳහන් ගාථා දෙකෙහි අදහස් වෙන වෙන ම ඇතුළත් වන සේ පද්‍ය දෙකක් නිර්මාණය කරන්න.



## පුහුණුවට

1. වරද නොම දන්නා
කී විට නොපිළිගන්නා
අපා ගති වන්නා
අසයි ගුණ දොස් සුගති වන්නා

2. ගුරුවරුන් සැර කොට
නුඹෙන් සිදුවුණු වරදට
දඬුවමක් කළ විට
ගොසින් නොකියනු ගෙදර තරහට

(සිරිත් මල්දම)




# පන්සිල් හා එහි සමාජීය වටිනාකම

දඩයමට දැඩි කැමැත්තක් දැක්වූ දේවදත්ත කුමරු දුනු ඊතල සමග උයනට පිවිසුන විට ම ඔහු නෙත ගැටුණේ නිල් අහසෙහි නිදහසේ පියඹා යන හංස රාජයෙකි. එසැණින් ඔහු සිය දුන්නට රැවා ගත් ඊතලයට ඉලක්ක කර ගත්තේ එම හංසයා ය. ඊතල පහරට හසු වුණු හංසයා බිම ඇද වැටුණි. හංසයා සොයා ගිය ඔහු දුටුවේ සිදුහත් කුමරු එම හංසයාට බෙහෙත් ගල්වා සුවපත් කරන අයුරු ය. මෙහි දී ඇති වන සංවාදයේ දී සිදුහත් කුමරු පවසන්නේ මිය යෑමට ආසන්න හංසයා සුවපත් කිරීම තම යුතුකම බවත් සත්ත්ව ඝාතනයට උත්සාහ දරන්නාට එම සතාගේ අයිතියක් නොමැති බවත් ය.

දේවදත්ත කුමරු හංසයා මරණයට පත් කිරීමට තැත් කිරීම අයත් වන්නේ පස් පව්වල පළමු අංගය වන ප්‍රාණඝාත අකුසල කර්මයට ය. හංසයා බේරා ගැනීමට කටයුතු කළ සිදුහත් කුමරුගේ ක්‍රියාව අයත් වන්නේ පන්සිල්වල පළමු අංගය වන සත්ත්ව ජීවිත රැක ගැනීම නම් වූ කුසල කර්මයට ය. දේවදත්ත කුමරුගේ ක්‍රියා කලාපය ශිෂ්ටසම්පන්න සමාජයේ කිසිවකු අනුමත නොකරන අතර සිදුහත් කුමරුගේ ක්‍රියා කලාපය සියලු දෙනාගේ ප්‍රශංසාවට ලක් වන්නකි. ඕනෑ ම සමාජයක ශිෂ්ටසම්පන්න භාවය රැක ගැනීමට ඉවහල් කර ගත හැකි ඉගැන්වීමක් ලෙස පංච ශීල ප්‍රතිපත්තිය හැඳින්විය හැකි ය. පන්සිල් රැකීම හා එය අගය කිරීම බෞද්ධයකු තුළ තිබිය යුතු වැදගත් ලක්ෂණයකි. **නිති පන්සිල් පොහොය අටසිල්** යනුවෙන් සඳහන් වන්නේ නිරතුරු පන්සිල් ද පොහොය දිනට අටසිල් ද සමාදන් ව සුරැකිය යුතු බවයි. අපගේ නිත්‍ය ශීලය පංචශීලයයි. එය ගෘහස්ථ ශීලය ලෙස ද හැඳින්වේ. අපි පන්සිල් සමාදන් වීමෙන් දවස අරඹමු. ඕනෑ ම සුබ කටයුත්තක් ආරම්භයේ දී ද අපි පන්සිල් සමාදන් වෙමු.

පංච ශීලය සමාදන් වීම කළ යුත්තේ අවබෝධයෙන් යුතු ව ය. එබැවින් පංච ශීලය කඩ කිරීම හෝ රැක ගැනීම පිළිබඳ වගකීම සතු වන්නේ ද අප වෙත ම ය. බුදු දහමට අනුව අප පංච ශීලය ආරක්ෂා කළ යුතු වන්නේ නීතියෙන් ලැබෙන දඬුවමකට බියෙන් හෝ අපායට ඇති බියෙන් හෝ පමණක් නොවේ. පොදුවේ සැලකූ විට පංච ශීලය ආරක්ෂා කළ යුත්තේ තමාට මෙන් ම අන් අයට ද සිදු වන සාමාජීය යහපත ගැන ද සිතා ය.

බුදු දහමෙහි ඉගැන්වෙන පංච ශීලයට අනුව වැළකීම හෙවත් විරතිය ද හැසිරීම හෙවත් සමාදානය ද පිළිබඳ ව අප කුඩා කල සිට නිවැරැදි අවබෝධයක් ලබා ගැනීම ඉතා වැදගත් වේ.

නිදසුනක් ලෙස ජීවිත හානි කිරීමෙන් වැළකීම, දඬුමුගුරු, අවි ආයුධ බැහැර කිරීම අයත් වන්නේ විරතියට ය. සත්ත්ව ඝාතනයට ලැජ්ජා වීම දයාව හා හිතානුකම්පාවෙන් යුක්ත වීම අයත් වන්නේ සමාදානයට ය. මේ ආකාරයට අකුසලයෙන් වෙන් වීමත් (විරති) කුසලයෙහි නිරත වීමත් (සමාදාන) අන් සියලු ශික්ෂා පදවලට ද පොදු වේ.

පංච ශීලය පිළිබඳ නිවැරැදි අවබෝධයක් ඇති කර ගැනීමේ දී අප අවධානය යොමු කළ යුතු අංශ තුනක් ඇත. වරදින් වෙන්වීම හෙවත් විරතියට අනුව,

- ⋆ තමා වරදින් මිදීම
- ⋆ අන් අය ලවා වැරැදි නොකරවීම
- ⋆ වරද අනුමත නොකිරීම හා ඊට අනුබල නොදීම

යනු ඒ කරුණු ය.

යහපතෙහි යෙදීම හෙවත් සමාදාන පක්ෂයෙහි දී,

- ⋆ තමා යහපතෙහි යෙදීම
- ⋆ අන් අය ද යහපතට යොමු කරවීම
- ⋆ යහපත් කටයුතු අනුමත කිරීම හා ඊට අනුබල දීම

යනුවෙන් එම කරුණු දැක්විය හැකි ය.

පංචශීලයට අයත් ශික්ෂා පද පිළිබඳ ව කුඩා කල සිට ම පැහැදිලි අවබෝධයක් ඇති කර ගැනීම ඉතා වැදගත් වේ. එම ශික්ෂා පද සහ ඒවායේ අරුත් පහත සඳහන් පරිදි වේ.

1. පාණාතිපාතා වේරමණී සික්ඛාපදං සමාදියාමි
(ජීවිත විනාශ කිරීමෙන් වැළකීමේ ශික්ෂා පදය සමාදන් වෙමි)

2. අදින්නාදානා වේරමණී සික්ඛාපදං සමාදියාමි
(නොදුන් දෙය ගැනීමෙන් වැළකීමේ ශික්ෂා පදය සමාදන් වෙමි)

3. කාමේසු මිච්ඡාචාරා වේරමණී සික්ඛාපදං සමාදියාමි
(කාමයෙහි වරදවා හැසිරීමෙන් වැළකීමේ ශික්ෂා පදය සමාදන් වෙමි)

4. මුසාවාදා වේරමණී සික්ඛාපදං සමාදියාමි
(බොරු කීමෙන් වැළකීමේ ශික්ෂා පදය සමාදන් වෙමි)

5. සුරාමේරය මජ්ජපමා දට්ඨානා වේරමණී සික්ඛාපදං සමාදියාමි
(සුරාපානය කිරීමෙන් වැළකීමේ ශික්ෂා පදය සමාදන් වෙමි)

**පංච ශීලයෙහි සාමාජික අගය**

අප ජීවත් වන සමාජය සකස් වී ඇත්තේ පුද්ගලයින් සමූහයකගේ එකතුවකිනි. එහි ජීවත් වන සෑම පුද්ගලයකුට ම විවිධ අවශ්‍යතා පවතී. එම අවශ්‍යතා ඉටු කර ගැනීමේ දී අන් අයට හිරිහැර නොවන ලෙස කටයුතු කිරීම ඉතා වැදගත් ය. සමාජයක යහපැවැත්ම එමගින් ආරක්ෂා වේ. ඒ සඳහා සියලු දෙනා ගරු කරන පිළිගත් ඉගැන්වීමක් හෝ නීති රීති මාලාවක් තිබිය යුතු ය. පංච ශීල ප්‍රතිපත්තිය එසේ පිළිගෙන අනුගමනය කළ හැකි ලොව සියලු දෙනාට ම පොදු ඉගැන්වීමකි. යහපත් සමාජයක් සකස් වීම සඳහා පංච ශීල ප්‍රතිපත්තිය හේතු වන ආකාරය විමසා බලමු.

පළමු ශික්ෂා පදය ආරක්ෂා කරන්නා සියලු දෙනාගේ ජීවත් වීමේ අයිතිය සුරක්ෂිත කරයි. පරපණ නැසීමෙන් හා හිංසනයෙන් වැළකීමට පංච ශීලය සමාදන් වන සියලු දෙනා අදිටන් කර ගත යුතු ය. ලොව උපන් සියලු මිනිස්සු හිංසා පීඩාවන්ගෙන් තොර ව ජීවත් වීමට කැමැති වෙති. ඒ

සඳහා සියලු දෙනාට අයිතියක් ඇත. පරපණ නැසීම බරපතල වරදකි. එමගින් අන් අයගේ ජීවත් වීමේ අයිතිය උදුරා ගනී. එකිනෙකා විනාශ කර ගන්නා සමාජයක පැවැත්ම කෙබඳු ද යි අප සිතා බැලිය යුතු ය. එවැනි සමාජයක පැවැත්ම කෙටි කලකින් බිඳ වැටෙනු ඇත. අන් අයගේ ජීවිතවල වටිනාකම දන්නා පුද්ගලයා කිසිවකුට හිංසා නොකරයි; සැම දෙනාගේ ම ජීවිතවලට ගරු කරයි. රූපවාහිනී පුවත්පත් ආදී ජනමාධ්‍ය ඔස්සේ නොයෙක් ආකාරයෙන් හිංසා හා ප්‍රචණ්ඩකාරී ක්‍රියා සිදුවන බව අපට නිතර අසන්නට දකින්නට ලැබේ. නිවස තුළ සාමය බිඳවැටීමට මෙන් ම රටවල් අතර යුදගැටුම්වලට ද හේතුව මෙම සිල් පදය කඩ කිරීම ය. ලෝකවාසී සියලු දෙනාට ම සාමය උදා කළ හැකි හොඳ ම ක්‍රමය ප්‍රාණඝාතයෙන් ඈත් වීම ය. කුඩා කල සිට අන් අයට හිරිහැර කිරීමෙන් වැළකී සිටීමට අප උත්සාහ කළ යුතු ය. නිවසේ දී අන් අයට හිරිහැර නොවන ලෙස සිටීමට ද පාසලේ දී සහෝදර සිසුන්ට කිසිදු ආකාරයක හිරිහැරයක් නොවන පරිදි කටයුතු කිරීමට ද අදිටන් කර ගත යුතු ය. බුදු දහමට අනුව සියලු සතුන් කෙරෙහි කටයුතු කළ යුත්තේ මවක තම එක ම දරුවා රැක බලා ගන්නා ආකාරයෙනි. පොදුවේ සියලු දෙනා මෙම සිල් පදය ආරක්ෂා කළහොත් බිය සැක නොමැති සාමකාමී සමාජයක කොටස්කරුවන් වීමට අප සැමට හැකියාව ලැබේ.



සැම දෙනා ම තමාට අයත් සම්පත් සුරක්ෂිත ව පරිහරණය කිරීමට කැමැති වෙති. අන් කිසිවෙකු තම වස්තුව පැහැර නොගනු ඇතැයි විශ්වාසය ඇති කර ගැනීමට නම් සමාජයේ සියලු දෙනා අදින්නාදානයෙන් වැළකිය යුතු වේ. සොරකම බහුල සමාජයක සිය වස්තුව ආරක්ෂා කිරීමට වැඩි ආයාසයක් දැරීමට සිදු වේ. එනිසා වෙහෙස මහන්සි වී උපයා ගැනීමට උනන්දුව අඩු වේ. සොරකම නොමැති සමාජයක සියලු දෙන වෙහෙස මහන්සි වී වැඩියෙන් ධනය උපයා ගැනීමට උත්සාහ දරති.

අන් සතු දේ සොර සිතින් නොගැනීම, මංකොල්ල කෑමෙන් වැළකීම ප්‍රධාන වශයෙන් මෙම ශික්ෂාපදයෙන් පෙන්වා දෙයි. වර්තමානයේ විවිධ ආකාරයේ වංචා සහගත කටයුතු බහුල ව සිදු වන බව පෙනේ. ඒ සියල්ලෙහි අවසන් ඉලක්කය අන් අය රවටා ඔවුන් සතු දේ පැහැර ගැනීම ය. උපයා ගත් වස්තුව රැක ගැනීමට නොහැකි සමාජයක සාමකාමී බව ආරක්ෂා නොවේ. සියලු දෙනා එකිනෙකාගේ දේපළ සොරා ගතහොත් සියලු දෙනාට ම දේපළට ඇති අයිතිය තහවුරු නොවනු ඇත. එවැනි සමාජයක ජීවත් වීමට අප කිසිවකු කැමැති නැත. එමගින් පුද්ගලයා, සමාජය මෙන් ම රටක් වුව ද විනාශයට  පත් විය හැකි ය. සොරකමින් ඈත් වන පුද්ගලයා අන් අයගේ දේපළ අයිතිය ආරක්ෂා කරයි. සියලු දෙනාට සිය දේපළ ආරක්ෂා කර ගත හැකි සමාජයක සතුටින් ජීවත් විය හැකි ය. එමගින් යහපත් මානව සබඳතා පවත්වා ගත හැකි ය.  දහඩිය මහන්සියෙන් උපයා ගැනීමට ද ඒවා  ආරක්ෂා කර ගැනීමට ද සියලු දෙනාට අයිතියක් ඇත. අන් අයගේ දේපළ පැහැර ගැනීම මිනිස් සමාජයේ ආරම්භයේ සිට ම වැරැදි සහගත ක්‍රියාවක් ලෙස සම්මත ව ඇත. අප දෙවන සිල් පදය සමාදන් වීම මගින් හදවත සමග ඇති කර ගන්නා ගිවිසුමක් ඇත. එනම්, අන් සතු වස්තුව පැහැර නොගන්නා බව ය. එය සමාජය වෙනුවෙන් අප ලබා දෙන පොරොන්දුවකි.

කාම මිථ්‍යාචාරය යනු ප්‍රධාන වශයෙන් විවාහක කාන්තාවක හෝ පුරුෂයකු වෙනත් පුරුෂයකු හෝ කාන්තාවක සමග අසම්මත කායික ඇසුරක් පැවැත්වීමයි. ශිෂ්ටසම්පන්න සමාජය වැරැදි කාමසේවනය අනුමත නොකරයි. අතීත සමාජවල ද කාම මිථ්‍යාචාරය අශීලාචාර ක්‍රියාවක් ලෙස සලකා ඇත. සමාජයට යහපත් දූ දරුවන් බිහි වන්නේ පවුල තුළ සාමකාමී පරිසරයක් ඇති විට ය. කාමයෙහි වරදවා හැසිරීමෙන් පවුල් ජීවිතය විනාශ වනු ඇත. පවුල සමාජයක මූලික ඒකකයයි. පවුලේ ස්ථිරසාර බව රැකෙන්නේ ආදරය කරුණාව දයාව ආදි ගුණාංග නිසා ය. අඹුසැමියන් ලෙස එකිනෙකා අතර විශ්වාසය පලුදු වුවහොත් පවුල තුළ වැඩෙන දරුවන්ට ද විවිධ ගැටලු ඇති වේ.

එසේ සමාජයට පැමිණෙන දරුවා අන් අයට හානි පමුණුවයි. වැරැදි කාම සේවනයේ ප්‍රතිඵලයක් ලෙස භයානක සමාජ රෝගවලට ද මුහුණ දීමට සිදු වීම වර්තමානයේ බරපතල සමාජ ප්‍රශ්නයකි. සමාජ සම්මත සීමා තුළ මිනිසුන්ගේ මානසික හා කායික අවශ්‍යතා සුරක්ෂිත වන පරිදි විවාහ ජීවිතයක් ගත කිරීමට බුදු දහමින් බාධාවක් නොමැත. විවාහ ජීවිතයට එළඹීමෙන් පසු අඹුසැමියන් ලෙස ඔවුනොවුනට විශ්වාසයෙන් හා සෙනෙහසින් වාසය කළ යුතු අයුරු බුදු දහමෙහි පෙන්වා දී ඇත. එවිට සමාජයට උසස් පුරවැසියන් දායාද කළ හැකි ය.

සමාජයක යහපත් පැවැත්ම සඳහා නිවැරැදි ව අදහස් හුවමාරු කර ගැනීම ද ඉතා වැදගත් ය. මුසාවාදයෙන් වැළකීම හෙවත් අන් අය බොරුවෙන් නොරැවටීමෙන් පෞද්ගලික වශයෙන් හා සාමාජික වශයෙන් සැලසෙන ප්‍රයෝජන රැසකි. සත්‍ය වචන කතා කරන සමාජයක එකිනෙකා පිළිබඳ විශ්වාසය තහවුරු වේ. සිදුහත් කුමරු කිසි දිනෙක බොරු බස් පවසා නොතිබූ නිසා පස්වග තවුසෝ උන් වහන්සේගේ බුද්ධත්වය සැක හැර පිළිගත්හ. ඇත්ත ඇති සැටියෙන් පැවසීම අන්‍යෝන්‍ය විශ්වාසය තහවුරු වීමට හේතු වේ. මහ බෝසතාණන් වහන්සේ පාරමිතා ධර්ම සම්පූර්ණ කළ කාලය තුළ කිසිදු ආකාරයකින් කඩ නොකරමින් සුරැකි ප්‍රතිපත්තිය වූයේ ද බොරුවෙන් වැළකීමයි. බොරු කීම නම් වරද කරන පුද්ගලයාට වෙනත් කළ නොහැකි වරදක් නොමැති බව බුද්ධ වචනයෙහි සඳහන් වේ. බොරු පොරොන්දු ලබා දීම, බොරු ගිවිසුම් ඇති කර ගැනීම, සාවද්‍ය ප්‍රවෘත්ති ප්‍රචාරය කිරීම යනා දී සියල්ල මුසාවාදයට අයත් වේ. නිවැරැදි තොරතුරු නොලැබෙන සමාජයක අවිශ්වාසය රජ කරයි. සමාජමය සබඳතා නිසි පරිදි පවත්වා ගැනීමට නම් සියලු දෙනා සත්‍ය වචන කතා කළ යුතු ය. අන්‍යෝන්‍ය විශ්වාසය සුරක්ෂිත කරගත යුතු ය.

මත් වතුර හා මත් ද්‍රව්‍ය මිනිසා ගේ සිහි නුවණ විකෘති කරයි. ඉහත දැක්වුණ සියලු දුසිරිත් කිරීමට පුද්ගලයා පොළඹවයි. සිහි නුවණ පවත්වා ගන්නා පුද්ගලයා මානව ගරුත්වය ආරක්ෂා කරන බැවින් සොරකම බොරුව ප්‍රාණඝාතාදී අකුසලයන්ගෙන් ඈත් වීමට පෙළඹේ. පවුල් පරිසරය තුළ අඹුදරුවන් හා සාමකාමී ව සතුටින් වාසය කිරීමට එමගින් හැකියාව ලැබේ. මද්‍යසාර පරිහරණයෙන් තොර සමාජය නීරෝගී ය. නීරෝගී සමාජයක් වෙසෙන රටක් ඉක්මනින් සංවර්ධනය වේ. මද්‍යසාර භාවිතය නිසා මෙලොව දී ම ධනය වැනසෙයි. කලකෝලාහල ද ඇති වෙයි. ලැජ්ජා බිය තුරන් වේ. ධනය විනාශ වේ. සිහි නුවණ දුර්වල වේ. කිපෙනසුලු ස්වභාවය වැඩි වේ. සමාජය තුළ අපකීර්තියට පත් වේ. අතීත ජන සමාජය සාමකාමී අයුරින් පැවතියේ

වර්තමානයේ මෙන් ඔවුන් මද්‍යසාරයට ඇබ්බැහි නොවී සිටි නිසා ය. මෙරට පැරැන්නන් මත් වතුර ඉතා පිළිකුල් කළ බව කලක් මෙරට සිරකරුවකු ලෙස සිටි රොබට් නොක්ස් පවා පෙන්වා දී ඇත.

මෙම සියලු කරුණු සමාලෝචනය කළ විට අන්‍යෝන්‍ය විශ්වාසය, සාමකාමී බව, නීරෝගීකම, පංච ශීලය සුරකින සමාජයක් තුළ දක්නට ලැබෙන ප්‍රධාන ලක්ෂණ වේ. එනිසා කුඩා කල සිට මෙම සිල්පද ආරක්ෂා කිරීමට අප අදිටන් කර ගත යුතු ය. තමා මෙන් ම සමාජය ද යහපතට යොමු කරවීම පන්සිල් ආරක්ෂා කරන පුද්ගලයාගේ වගකීමක් වේ. සත්ත්ව ඝාතනයෙන් හා හිංසනයෙන් වැළකී සිටිය යුතු ය. හිංසනයේ හා ඝාතනයේ ඇති හානිය එවන් කටයුතු සිදු කරන සම වයසේ යහළුවන්ට හා වැඩිහිටියන්ට පෙන්වා දිය යුතු ය. අන් සතු දේ පැහැර ගන්නවා වෙනුවට පොදු දේපළ හා අන් සතු දේ සුරක්ෂිත කර දීමට හැකි පමණින් කටයුතු කළ යුතු ය. වැරැදි කාමසේවනයෙහි යෙදෙන්නන්ට එහි ආදීනව පෙන්වා දිය යුතු ය. මුසාවෙන් වැළකී සත්‍ය වචන කථා කරමින් සත්‍යගරුක වීමේ වටිනාකම් අන් අයට ද පැහැදිලි කර දිය යුතු ය. මත් වතුර, මත්ද්‍රව්‍ය භාවිතයෙන් වැළකී ඊට ඇබ්බැහි වූවන් මුදවා ගැනීමට හැකි අයුරින් මැදිහත් වීම ඉතා වැදගත් කටයුත්තකි. වැරැදි කරන පුද්ගලයින් ආරක්ෂා කිරීම ද වැරැද්දක් වන අතර වැරැදි වැඩ දෙස නිහඬ ව බලා සිටීම ද නුසුදුසු කටයුත්තකි. එහෙත් වරදකරුවන්ට එරෙහි විය යුත්තේ සාමකාමී ව හා සිය ආරක්ෂාව පිළිබඳ ව ද සැලකිලිමත් වෙමිනි. සමාජය ම යහපතට යොමු කරවීම පන්සිල් ආරක්ෂා කරන පුද්ගලයාගේ වගකීමක් වෙයි. අප එසේ කටයුතු කිරීමෙන් ගුණගරුක සමාජයක් බිහි වනු ඇත.

අප සියලු දෙනා ම පන්සිල් සුරකින විට අප ජීවත් වන සමාජය හිරිහැර බාධාවලින් තොර සාමකාමී ප්‍රීතිමත් සමාජයක් බවට පත් වේ. සමාජය තුළට ගුණධර්ම ප්‍රවේශ කළ හැක්කේ පුද්ගලයා ඒවා පිළිපැදීමෙනි. පන්සිල් ආරක්ෂා කරන විට බොහෝ ගුණ ධර්ම ආරක්ෂා වේ. නූතන ලෝකය පුරා ම පැතිරී ඇති විසම වූත් අසහනකාරී වූත් පැවැත්ම පන්සිල් රැකීමෙන් මග හැරේ. පන්සිල් රැකීම යනු හුදෙක් ආගමික කටයුත්තක් ම නොවේ. කවර ආගමක් ඇදහුව ද පස් පවින් වළකින, පන්සිල් රකින පුද්ගලයා තමාගේ යහපත මෙන් ම අනුන්ගේ යහපත ද සලසයි. අන්‍යෝන්‍ය වශයෙන් මිනිසුන් අතර විශ්වාසය ද, ශිෂ්ටත්වය ද, සහජීවනය ද, සතුට ද සුරැකෙනුයේ මෙම පිළිවෙත් රකින විට ය.



## සාරාංශය

පංච ශීලය යනු ගිහි බෞද්ධයා විසින් අනුගමනය කළ යුතු නිත්‍ය ශීලයයි. පංච දුශ්චරිතයෙහි නියැලීමෙන් පුද්ගල හා සමාජ පරිහානිය උදා වන අතර පංච ශීලය ආරක්ෂා කිරීමෙන් සාමකාමී සමාජයක් බිහි වේ. පංච ශීලයෙහි විරමනය හා සමාදානය යනුවෙන් අංශ දෙකක් ඇති අතර එම අංශ දෙකට ම අයත් වන පරිදි කටයුතු කිරීම නිවැරැදි පන්සිල් සුරැකීමේ පිළිවෙත ය. පස් පවින් සිදුවන ආදීනව රැසක් ඇති අතර පන්සිල් සුරැකීමෙන් පෞද්ගලිකවත් සාමාජීය වශයෙනුත් ලැබෙන ආනිශංස රැසකි.



## ක්‍රියාකාරකම

1. සිල්පද පහ ඒවායේ තේරුම් ද සමග අනුපිළිවෙළින් ලියන්න.
2. පංච ශීලය සුරැකීමෙන් සමාජයට සිදුවන යහපත කෙටියෙන් පහදන්න.
3. විරතිය හා සමාදානය යනු කුමක් ද යි හඳුන්වන්න.
4. පන්සිල් සුරැකීමේ දී යොමුවිය යුතු අංශ තුන ලියන්න.



## පුහුණුවට

ඒකංධම්මං අතීතස්ස - මුසාවාදිස්ස ජන්තුනෝ
විතිණ්ණ පරලෝකස්ස - නත්ථි පාපං අකාරියං

09

# ආජීව අෂ්ටමක ශීලයෙන් දිවි සරු කර ගනිමු

මේ ලෝකයේ බොහෝ සත්ත්වයෝ සිටිති. අපට පෙනෙන මෙන් ම නොපෙනෙන සත්ත්වයෝ ද බොහෝ වෙති. මිනිසා ද සත්ත්වයෙකි. අප අවට පරිසරයේ දකින සත්ත්වයන් දෙස මඳක් විමසිල්ලෙන් බලන්න. මිනිසා ද සතුන්ට බොහෝ සෙයින් සමාන බවක් දක්වයි. මිනිස්සු ජීවත් වීම සඳහා ආහාර ගනිති. අනෙකුත් සත්ත්වයෝ ද ජීවත් වීම පිණිස ආහාර ගනිති. අපි දවසේ වෙහෙස නිවීම පිණිස විඩා හරිමු; නිදා ගනිමු; ආරක්ෂාව අපේක්ෂා කරමු. සත්ත්වයෝ ද විඩා හරිති; නිදා ගනිති; අපි දඬුවමට මෙන් ම මරණයට ද බියක් දක්වමු. සත්ත්වයෝ ද දඬුවමටත්, මරණයටත් බිය දක්වති; ආරක්ෂාව අපේක්ෂා කරති. සත්ත්වයෝ තම ප්‍රජාව බෝ කිරීම සිදුකරති. මිනිසා ද සිය ප්‍රජාව බෝ කිරීම සිදු කරයි.



මිනිසාත් සත්ත්වයාත් අතර වෙනස කුමක් ද? මිනිසාට ආගමක් ඇත. සත්ත්වයන්ට ආගමක් නැත. සත්ත්වයින් ඉගෙන ගන්නේ නැත. මිනිසා අධ්‍යාපනය ලබයි. සත්ත්වයෝ ගුණ යහපත්කම් නොදනිති. මිනිස්සු ගුණ යහපත්කම් දනිති. සත්ත්වයෝ දෙමාපියන්ට නොසලකති. අපි දෙමාපියන්ට සලකන්නෙමු. මේ අනුව අපට පෙනී යන කරුණ නම් සත්ත්වයන්ට සදාචාර ධර්ම නැත. අපට සදාචාර ධර්ම ඇත. සදාචාර ධර්ම නොසලකා හරින්නාත් තිරිසනාත් අතර වෙනසක් නැති බව අප තේරුම් ගත යුතු නොවේ ද?

අප ජන සමාජයේ යහපැවැත්මට මහත් සේ උපකාර වන දෙයකි ආගම. විශේෂයෙන් ශ්‍රී ලාංකේය ජන සමාජය පෝෂණය වී ඇත්තේ බුදු දහම තුළිනි. අපේ සංස්කෘතිය, අපේ සාරධර්ම, අපේ ගතිපැවතුම්, අපේකම ආදි සෑම දෙයකට ම මූලික වී ඇත්තේ බුදු දහමයි. රජයේ හෝ පෞද්ගලික ආයතනයක යහපැවැත්ම උදෙසා සකස් කළ හෝ සම්මත වූ ආචාර ධර්ම පද්ධතියක් ඇත. පාසල්, දහම් පාසල් ආදි දරුවන් සිටින තැන්වල ද සාරධර්ම ක්‍රියාත්මක වේ. ගොවියා, කම්මල්කරුවා, කම්කරුවා, කරණවෑමියා, වෛද්‍යවරයා, ඉංජිනේරුවා, ගුරුවරයා, වෙළෙන්දා ආදි සෑම දෙනාට ම ආවේණික වූ සම්මත සාරධර්ම පද්ධති ඇත. කණ්ඩායමෙන් කණ්ඩායමට බොහෝ සාරධර්ම වෙනස් වන අතර සියල්ලන්ට ම පොදු සාරධර්ම ද ඇත. මේවා ඉක්ම යන්නා සමාජයේ නින්දාවට භාජනය වෙයි. සමාජයේ මිනිස්සු ඒ තැනැත්තා පිළිකුල් කරති; ඔහුට දොස් කියති; සමාජයෙන් කොන් කරති.

බුදුරජාණන් වහන්සේ විසින් ගිහියන්ට හා පැවිද්දන්ට වෙන් වෙන් ව සිල්පද දක්වා ඇත. ඒ අතර ගිහියන් වන අපට නිත්‍ය සීලය ලෙස පංච සීලයත්, ඊට අමතර ව ආජීව අෂ්ටමක සීලයත් සමාදන්විය හැකි ය. පොහෝ දින වැනි විශේෂ අවස්ථාවක අෂ්ටාංග සීලය හෝ ගිහි දස සීලය ද සමාදන් වීමේ හැකියාව ඇත. සිල් පද ආරක්ෂා කිරීම බෞද්ධ අපට පමණක් නොව ලෝකයේ කාටත් යහපත් දිවිපෙවෙතක් ගෙවීමට උපකාර වේ. අප නිතර සමාදන් වෙන සිල්පද පහට අමතර ව ඇතැම් අය ආජීව අෂ්ටමක සීලය සමාදන් වන අවස්ථා ද ඇත. ආජීව අෂ්ටමක සීලය ද අප ජීවිතයට හුරුකර ගැනීම වැදගත් වේ.

1. පාණාතිපාතා වේරමණී සික්ඛාපදං සමාදියාමි.
2. අදින්නාදානා වේරමණී සික්ඛාපදං සමාදියාමි.
3. කාමේසු මිච්ඡාචාරා වේරමණී සික්ඛාපදං සමාදියාමි.
4. මුසාවාදා වේරමණී සික්ඛාපදං සමාදියාමි.
5. පිසුණාවාචා වේරමණී සික්ඛාපදං සමාදියාමි.
6. ඵරුසාවාචා වේරමණී සික්ඛාපදං සමාදියාමි.
7. සම්ඵප්පලාපා වේරමණී සික්ඛාපදං සමාදියාමි.
8. මිච්ඡා ආජීවා වේරමණී සික්ඛාපදං සමාදියාමි.

## 1. පාණාතිපාතා වේරමණී සික්ඛාපදං සමාදියාමි.

කෙනකු සිල් රැකීම සිදු කරන්නේ පෞද්ගලික ව ය. එහෙත් එයින් සමාජයට ම වන්නේ ඉමහත් සේවයකි. පර පණ නැසීමෙන් වෙන්වීමේ සිකපදය රැකීමෙන් කෙනකු සිල් පදයක් රකිනවා පමණක් නොව අවට සමාජයේ සිටින සියලු සත්ත්වයන්ගේ ජීවිත සුරැකීම ද සිදු වේ. සියලු සත්ත්වයන්ට මරණ බියෙන් තොරව ජීවත් වීමේ හැකියාව ද එයින් හිමි වේ. අද ලෝකයේ බොහෝ දෙනෙක් මානව හිමිකම් ගැන කතා කරති. බුදු දහම මානව හිමිකම් ගැන පමණක් නොව සියලු සත්ත්ව ප්‍රජාවේ ම හිමිකම් ගැන කතා කරයි. එය සුරැකීමේ වැදගත්කම පහදා දෙයි.

## 2. අදින්නාදානා වේරමණී සික්ඛාපදං සමාදියාමි.

කෙනකු සොරකම් කරන්නේ තවත් කෙනකුගේ දෙයකි. සොරකමින් වැළකෙනවා යනු තවත් කෙනකුගේ දෙයක් ආරක්ෂා වීමයි. එයින් සමාජයේ මිනිසුන්ට සොර බිය නොමැතිව ජීවත් වීමේ හැකියාව ලබාදෙයි. තමන්ගේ වස්තුව සුරක්ෂිත ව තබා ගැනීමේ හැකියාව එයින් හිමි වේ. මම සොරකම් නොකිරීමේ ආනිශංස දනිමි. එය අන්‍යයන්ට ද කියාදෙමි. මා මෙන් ම අන්‍යයන් ද සොරකමට අප්‍රිය නිසා මම ද එයින් වැළකෙමි.

## 3. කාමේසු මිච්ඡාචාරා වේරමණී සික්ඛාපදං සමාදියාමි.

තෙවන සිකපදය ද එසේ ම ය. එය යහපත් පවුල් ජීවිතයක් ගෙවීමට දායකත්වය සපයනවා නොවේ ද? කිසිවෙක් තම භාර්යාව හෝ ස්වාමි පුරුෂයා වෙනත් පුරුෂයෙකු හෝ කාන්තාවක සමග අසම්මත සම්බන්ධතාවක්

පවත්වනවාට කැමැති නොවෙති. එය ඕනෑම කෙනකුට පොදු ධර්මතාවකි. මෙසේ සිතා අප තෙවන සිකපදය රැකීමෙන් සමාජයට යහපතක් සිදු වේ. එයින් සමාජයේ එකිනෙකා කෙරෙහි ඇති විශ්වාසය රැකෙනවා පමණක් නොව නොයෙකුත් රෝග පීඩාදිය සෑදීම පවා වැළකෙනවා ඇත.

## 4. මුසාවාදා වේරමණී සික්ඛාපදං සමාදියාමි.

සිව් වන සිකපදය රැකීමෙන් සමාජයේ තවත් කෙනකු රැවටීමෙන් වෙන්වෙනවා පමණක් නොව සමාජයේ එකිනෙකා කෙරෙහි ඇති වන විශ්වාසය ද ඉහළ යයි. යමකු බොරු කියා මා රවටන්නේ නම් මා එයට කැමැති නැත. එසේ ම මා බොරු කියා අන්‍යයන් රවටනවාට ඔවුන් ද කැමැති නැත. මා රවටනවාට මම ප්‍රිය නොවෙමි. අන්‍යයෝ ද ඒ අය රවටනවාට ප්‍රිය නොවෙති. බොරු කීමේ විපාකත් බොරු නොකීමේ ආනිශංසත් මම හොඳින් දනිමි. අන්‍යයන්ට ද කියා දෙමි.

## 5. පිසුණාවාචා වේරමණී සික්ඛාපදං සමාදියාමි.

පස් වන ශික්ෂා පදය තුළින් පිසුණුබස් කීම හෙවත් කේලාම් කීමෙන් වෙන්වීමට උත්සාහ ගනී. බුදුරජාණන් වහන්සේගේ කාලයේ සිටි අහිංසක නැමැති දරුවා අංගුලිමාල නම් මහා දාමරිකයෙකු වූයේ කේලමේ ඇති භයංකාර කම නිසා බව අප අමුතුවෙන් කිවයුතු නොවේ. යමකු කේලාම් කියා මාගේ මිත්‍රයින් හා මා භේද කරනවාට මා කැමැති නැත. එසේ ම අන් අය ද කේලාම් කියා තමන් භේද කරනවාට කැමැති නැත. කේලාම් කීමේ විපාක දන්නා මම අන්‍යයන් ද එයින් වළකමි.

## 6. ඵරුසාවාචා වේරමණී සික්ඛාපදං සමාදියාමි.

ඵරුසාවාචා යනු නපුරු වචනයි. රළු වචන, පරුෂ වචන, කුණු හරුප, කැත වචන යනාදී වශයෙන් හැඳින්වෙන්නේ ද මේවායි. අප දරුවන් වශයෙන් අන් අයගේ සිත රිදෙන නරක නපුරු වචන කිසි දා කතා නොකළ යුතු ය. එය යහපත් ධර්මතාවකි. ප්‍රිය වචන කතා කරන කෙනාට සමාජයේ බොහෝ දෙනා ආදරය කරති; ප්‍රශංසා කරති. නපුරු වචන කියන අය පිළිකුල් කෙරෙති. ප්‍රිය වචන කීමේ වැදගත්කම දන්නා මම අන්‍යයන් ද ප්‍රිය වචන කතා කිරීමට පොළඹවමි.

## 7. සම්ඵප්පලාපා වේරමණී සික්ඛාපදං සමාදියාමි.

සම්ඵප්පලාප යනු හිස් වචනයි. අපගේ මෙලොව දියුණුවට හෝ පරලොව දියුණුවට හෝ හේතු නොවන, කාලය කා දමන, වැඩකට නැති දේ හිස් වචන ලෙස හඳුන්වමු. බුදුරජාණන් වහන්සේ තම ශ්‍රාවකයන්ට ,කතා කරන්නේ නම් ධාර්මික කතාවක නිරත වන ලෙස ද, එසේ නොමැති නම් ආර්ය උතුමන් වහන්සේලා මෙන් නිශ්ශබ්ද ව සිටීම වැදගත් බව ද පෙන්වා දුන්හ. අප ද දරුවන් ලෙස පාසලේ දී හෝ නිවසේ දී හෝ වැඩකට ඇති දෙයක්, තම ජීවිතය සාර්ථක කරගත හැකි දෙයක්, සමාජයට වැඩදායක දෙයක්, අධ්‍යාපනයට වැදගත් දෙයක් කතා කරන්නේ නම් කොපමණ අගනේ ද? අප හුරුකරගත යුත්තේ ද එයයි.

## 8. මිච්ඡා ආජීවා වේරමණී සික්ඛාපදං සමාදියාමි.

අවසාන සිල් පදයෙන් පෙන්වා දෙන්නේ මිච්ඡා ආජීවයෙන් තොරවීමයි. මිච්ඡා යනු නිවැරැදි නොවූ යන්නයි. ආජීව යනු දිවිපැවැත්මයි. මිච්ඡා ආජීවය යනු වැරැදි දිවිපෙවෙතයි. අප වැරැදි දිවිපෙවෙතින් ඈත් ව නිවැරැදි දිවිපෙවෙතක් ගත කිරීම මෙයින් අවධාරණය කෙරෙයි. අද සමාජයේ ඇතැමුන් සිතන්නේ අප කෙසේ හෝ ජීවත් විය යුතු ය කියා ය. එය වැරැදි මතයකි. අප කෙසේ හෝ ජීවත් වීමට නොව හොඳින් ජීවත් වීමට අදිටන් කරගත යුතු ය. තමන් කරන්නේ වෙළෙඳාමක් විය හැකි ය. ගොවිතැනක් විය හැකි ය. රජයේ හෝ පෞද්ගලික ආයතනයක රැකියාවක් විය හැකි ය. මේ සෑම තැනක ම හොඳ හා නරක සිදු කිරීමේ හැකියාව අපට ඇත. අප මේ දෙක වෙන්කොට අවබෝධ කොටගෙන නරක ඉවත් කර හොඳ දේ තෝරා ගැනීමට දක්ෂ විය යුතු ය.



## සාරාංශය

ජන සමාජයේ පෝෂණය සඳහා බෞද්ධ සාරධර්ම මහෝපකාරී වේ. එහි ප්‍රමුඛතම අංගයක් ලෙස පංච සීලය හා ආජීව අෂ්ඨමක සීලය හඳුන්වාදිය හැකි ය. එම ප්‍රතිපදා ඔස්සේ තම ආධ්‍යාත්මික සංවර්ධනය ගොඩනගා ගන්නේ නම් එය පුද්ගල හා සමාජ සුභ සිද්ධිය සඳහා මහෝපකාරී වේ. හොඳ නරක තෝරා බේරාගත් සමාජයක් තුළ නිවැරැදි දිවිපැවැත්මක් ඇති ව ජීවත් වීම බුදු සමය අනුමත කරන පිළිවෙතයි.



## ක්‍රියාකාරකම

1. මිනිසා සහ සත්ත්වයන් සමාන වන්නේ හා වෙනස් වන්නේ කුමන ගති ලක්ෂණවලින් දැයි පැහැදිලි කරන්න.

2. ආජීව අෂ්ටමක සීලයට අයත් ශික්ෂා පද නිවැරැදි උච්චාරණයෙන් යුතු ව කටපාඩමෙන් කියන්න.

3. මිථ්‍යා ආජීවයෙන් වැළකීමෙන් සිදුවන සමාජීය යහපත පැහැදිලි කරමින් වාක්‍ය 5ක් ලියන්න.




# ගුරු සිත සනසවා
# අකුරු උගනිමු සොඳවා

අප මෙලොවට බිහි කර මැනැවින් පෝෂණය කරනා දෙමවුපියන් වෙතින් මුලින් ම ලෝකය පිළිබඳ ව අපි අවබෝධ කර ගන්නෙමු. සිප් සතර හදාරන වයසට පැමිණි විට අපි පාසල් යන්නෙමු. පාසලේ දී අපගේ පෙර ගමන් කරුවන් වන්නේ ගුරුමෑණිවරුන් සහ ගුරුපියවරුන් ය. අප මෙන් ම ලොව සියලු දෙනාට සිය කටයුතු මැනැවින් සිදු කර ගැනීමට ගුරුවරයකු සිටීම ඉතා වැදගත් වේ. බුදුරාණන් වහන්සේ ද ධර්මය ගුරු තනතුරෙහි තබා ගත් සේක.

ගුරු සිසු සබඳතාව මෙනෙහි කරන අපට නිරායාසයෙන් සිහියට නැගෙන්නේ සිගාලෝවාද සූත්‍රයයි. බුදුරජාණන් වහන්සේ සිගාලක නම් ගෘහපතියාට මෙම සූත්‍රය දේශනා කළ සේක. එහි දක්වෙන ආකාරයට ගෞරව දැක්වීමට සුදුසු පුද්ගලයින් අතර ගුරුවරුන් දකුණු දිශාවට උපමා කොට තිබෙන්නේ ඔවුන් වැඩි ගරු බුහුමනට ලක් විය යුතු නිසා ය. ගුරුවරුන් අපේ දකුණු අත බඳු ය. ගුරු භවතුන්ගෙන් සිදු වන්නේ සුවිසල් මෙහෙවරකි. ගුරු භවතුන් සිසුන්ට උගන්වන්නේ විෂය කරුණු පමණක් නොවේ. කෑම බීම ගන්නා ආකාරය, සිරිත් විරිත්, විවිධ බාධක මැඩගෙන ජීවිතය ජය ගන්නා ආකාරය ගුරුවරු අපට පෙන්වා දෙති. සිසුන්ගෙන් සිදු වන විවිධ ආකාරයේ අතපසුවීම්, වැරැදිවලට සමාව ලබා දෙති. එසේ ම දරුවන් නොමග යෑම වළකින්නේ ගුරුවරුන් නිසා ය. මේ ආකාරයෙන් ගුරුවරුන්ගෙන් ඉටුවන යුතුකම් රාශියක් අපට පෙන්වා දිය හැකි ය. මවක හා පියෙකු සිය දරුවන්ගේ දියුණුව වෙනුවෙන් කටයුතු කරන්නේ යම් සේ ද ඒ ආකාරයෙන් ම ගුරුවරු ද අපගේ අභිවෘද්ධිය වෙනුවෙන් නිරන්තරයෙන් කැප වෙති. ගුරු පියාණන් ගුරු මෑණියන් යනුවෙන් අප ඔවුන් අමතන්නේ එබැවිනි.

සිගාලෝවාද සූත්‍රයට අනුව ගුරුවරුන් විසින් සිසුන් වෙනුවෙන් ඉටුකරන යුතුකම් පහක් ඇත. එම යුතුකම් අනුපිළිවෙළින් මෙසේ දැක්විය හැකි ය.

1. අප මැනැවින් හික්මවීම
2. මැනැවින් ඉගැන්වීම
3. සියලු ශිල්ප ඉගැන්වීම
4. යහළු මිත්‍රාදීන්ට හඳුන්වා දීම
5. අපට රැකවරණය සැලසීම



## අප මැනැවින් හික්මවීම

ගුරුවරු අපට යහපත් සිරිත් විරිත් උගන්වති; අප ජීවත් වන සමාජයේ කළ යුත්ත, නොකළ යුත්ත පෙන්වා දෙති. සැබෑ ගුරුවරයා සිය දරුවා ශිල්ප ශාස්ත්‍රවලින් හා ගුණධර්මවලින් ඉදිරියට ගෙන ඒමට දැඩි පරිශ්‍රමයක් දරයි.

මනා හික්මීමකින් තොරව ලබන අධ්‍යාපනයෙහි වටිනාකමක් නොමැති බැව් දන්නා ගුරුවරු අප මැනැවින් හික්මවති. ඒ සඳහා කටයුතු කිරීමේ දී ආදරයෙන් උපදෙස් ලබා දෙන අතර ම ඇතැම් විට තරවටු ස්වරූපයෙන් ද අප නිසි මාර්ගයට ගැනීමට වෙර දරති.

## මැනැවින් ඉගැන්වීම

සැබෑ ගුරුවරු නිරන්තරයෙන් තම සිසුන්ගේ අධ්‍යාපනය වෙනුවෙන් කැප වෙති; මූල්‍යමය ප්‍රතිලාභවලට මුල්තැන නොදෙති; ඉගැන්වීමේ ක්‍රම හා සිසුන් ඉගෙනුම ලබන ආකාරය සොයා බලා ඔවුනට ගැළපෙන අයුරින් ඉගැන්වීමට නිරන්තරයෙන් කැප වී ක්‍රියා කරති; සංකීර්ණ විෂය කරුණු සරල ව පහදා දෙති. කරුණු ගොනු කර ගැනීමට, ඉගෙනුම් සම්පත් සකසා ගැනීමට, සුදුසු ක්‍රියාකාරකම් හා පැවරුම් පිළියෙල කිරීමට ගුරුතුමන්ලාට සුවිශේෂ පරිශ්‍රමයක් දැරීමට සිදු වේ. ඇතැම් රැකියාවලට එබඳු පූර්ව සූදානමක් අවශ්‍ය නොවේ.

## සියලු ශිල්ප ඉගැන්වීම

ගුරු වෘත්තීය භූමිකාව සැබෑ ලෙසින් හඳුනා ගත් ගුරුවරු තම සිසුන්ට නිසි කල දී ඉගැන්විය යුතු සියලු ශිල්ප ඉගැන්වීමට කටයුතු කරති. ශිල්ප කෙරෙහි ලෝභය උපදවා අඩු කොට නූගන්වති. ඒ මගින් අපේක්ෂා කරන්නේ තම ශිෂ්‍යයා දැනුමින් පොහොසත් මෙන් ම ශිල්පීය හැකියාවන්ගෙන් ද පිරුණු පුද්ගලයකු බවට පත් කිරීම ය. තමන්ගේ තත්ත්වයට වඩා ඉහළ මට්ටමකට තම ශිෂ්‍යයන් පත්වනු දැකීමට සැබෑ ගුරු දෙව්වරු කැමැති වෙති.

## යහළු මිත්‍රාදීන්ට හඳුන්වා දීම

තමාගෙන් ඉගෙනුම ලබන ශිෂ්‍යයා සිය යහළු මිත්‍රාදීන්ට හඳුන්වා දීම උත්තම ගණයේ ගුරුවරයකුගේ ලක්ෂණයකි. ශිල්ප ශාස්ත්‍රය ලබා දෙන අතර ම තම ශිෂ්‍යයාගේ සමාජ ජීවිතය ද අර්ථවත් කර දීම එහි අරමුණයි. එමගින් ශිෂ්‍යයාගේ හැකියා අගය කිරීමක් ද සිදු වේ. ගුරුතුමකු මගින් බාහිර සමාජය දැන හැඳින ගැනීමට අවස්ථාව හිමි වීම ශිෂ්‍යයකු වශයෙන් අප ලබන

මහත් භාග්‍යයකි. එමගින් ශිෂ්‍යයා කෙරෙහි ගුරුතුමාගේ හිතවතුන් ඇති කර ගන්නේ සුබවාදී ආකල්පයකි. එය ශිෂ්‍යයාගේ අනාගත සුබ සිද්ධියට බෙහෙවින් උපකාර වන්නකි.

## අපට රැකවරණය සැලසීම

තම ශිෂ්‍යයාට එල්ල වන විවිධ කරදර හිරිහැරවලින් ඔහු මුදවා ගැනීමට අවශ්‍ය පියවර ගැනීම සැබෑ ගුරුවරයකුගේ ලක්ෂණයකි. ශිෂ්‍යයාට මුහුණ පෑමට සිදු වන උපද්‍රව කල් තියා දැන හැඳින එම විපත්වලින් ගලවා ගැනීමට ගුරුවරු කටයුතු කරති.

මේ ආකාරයෙන් අපගේ අභිවෘද්ධිය වෙනුවෙන් නිරන්තරයෙන් කටයුතු කරන උතුම් පිරිසක් වෙනුවෙන් ඉටු කළ යුතු යුතුකම් මොනවා ද යි සිසුන් වශයෙන් අප මැනැවින් දත යුතු ය. එය ගුරු සිසු දෙපිරිසේ සබඳතා වඩා වර්ධනය වීමට ඉවහල් වේ. සිගාලෝවාද සූත්‍රයට අනුව ගුරුවරුන්ට සිසුන් වශයෙන් අප ඉටු කළ යුතු එවැනි යුතුකම් පහකි. එම යුතුකම් මොනවා ද යි විමසා බලමු.

1. ගුරුතුමා දුටු විට හුනස්නෙන් නැගී සිටීම
2. ගුරුතුමාට සියලු ඇප උපස්ථාන සිදු කිරීම
3. ලබා දෙන උපදෙස්වලට හොඳින් සවන් දී පිළිපැදීම
4. අවශ්‍ය කටයුතු සිදු කර දීම
5. හොඳින් ඉගෙනීම

## ගුරුතුමා දුටු විට හුනස්නෙන් නැගී සිටීම

කුඩා කල සිට ශිල්ප ශාස්ත්‍ර ලබා දෙන ගුරුභවතුන්ට අප ආචාරශීලී විය යුතු ය. ගුරු භවතකු දුටු විට ගෞරව දැක්වීමක් වශයෙන් හුනස්නෙන් නැගී සිටීම සිසුන් වශයෙන් අපට සිදු කළ හැකි ඉතා වැදගත් ක්‍රියාවකි. පංති කාමරයට පැමිණෙන ගුරුතුමා දුටු විගසින් අසුනින් නැගිට ආචාර කිරීම යහපත් සිසුන්ගේ ලක්ෂණයකි. බස් රථයක අප ගමන් කරන අවස්ථාවක දී වුව ද ගුරුතුමකු දුටු විට නැගී සිට අසුන ලබා දීම ගුණගරුක ශිෂ්‍යයකුගේ ලක්ෂණයකි.

## ගුරුතුමාට සියලු ඇප උපස්ථාන සිදු කිරීම

අතීතයේ ගුරුගෙදර නතර වී ඉගෙනුම ලැබූ ශිෂ්‍යයා ගුරුතුමාට සියලු ඇප උපස්ථාන සිදු කළේ ය. ගුරුතුමා ද සිසුන් වෙනුවෙන් සියලු යුතුකම් නොපිරිහෙලා ඉටු කළේ ය. එහෙත් වර්තමානයේ, අප පාසලේ ඉගෙනුම ලබන්නේ සීමිත කාලයකි. පාසල් කාලය තුළ දී වුව ද ගුරුතුමා වෙනුවෙන් උදවු උපකාර සිදු කළ හැකි අවස්ථා පවතී. හදිසියේ ගුරුතුමාට අසනීප තත්ත්වයක් ඇති වුවහොත් අපට උපකාර කළ හැකි ය. අසනීපයෙන් සිටින ගුරුතුමකු වෙනුවෙන් බෙහෙත් සොයා දීම ද උපකාරයකි. ඉගැන්වීම කරන විට පිපාසයට වතුර වීදුරුවක් හෝ ලබා දීම උපස්ථාන කිරීමකි. විශ්‍රාම ගිය පසු ව වුව ද ගුරුවරුන් අමතක නොකළ යුතු ය. වයෝවෘද්ධ ව හෝ අසනීප ව සිටින ගුරුවරුන් සොයා ගොස් අවශ්‍ය උපකාර සිදු කිරීම ගුණගරුක බෝසත් දරුවකුගේ ලක්ෂණයකි. හොඳින් ඉගෙන ඉහළ මට්ටමේ රැකියා ලබා ගත් පසු ව වුව ද තමාට ඒ සඳහා මංපෙත් හෙළි කළ ගුරුවරුන්ට උදවු උපකාර කිරීම උතුම් ක්‍රියාවකි.

## ලබා දෙන උපදෙස්වලට හොඳින් සවන් දී පිළිපැදීම

අපගේ ගුරුවරුන් වෙනුවෙන් සිදු කළයුතු ඉතා ම වැදගත් යුතුකම වන්නේ ද මෙයයි. සියලු ගුරු භවතුන්ගේ අභිලාෂ දෙකක් ගැන මෙහි සඳහන් ය. පළමු කරුණ තමා උගන්වන විෂය කරුණුවලට ශිෂ්‍යයා මැනැවින් සවන් දීම ය. දෙවැන්න ඉගෙන ගන්නා විෂය කරුණු මැනැවින් තේරුම් ගෙන ඒ අනුව කටයුතු කිරීම ය. ශිෂ්‍යයකු ලෙස කටයුතු කරන සෑම අවස්ථාවක දී ම හොඳ ඉගෙනීමක් සඳහා මනා ව සවන් දීම අත්‍යවශ්‍ය කරුණකි. සවන් දීමක් නොමැති ශිෂ්‍යයකුගෙන් හොඳ ඉගෙනුමක් අපේක්ෂා කළ නොහැකි ය. බොහෝ සිසුන් ඉගෙනුමට පසුබට වන්නේ හොඳින් සවන් දීමක් සිදු නොකරන බැවිනි. උගත් කරුණු තම ජීවිතයේ යහපත වෙනුවෙන් පිළිපැදීම උගත්කමින් නිසි ප්‍රතිඵල ගැනීමකි; මෙම කරුණු දෙක පිළිපැදීම සිසුන් වන ඔබගේ අභිලාෂයන් ඉටු කර ගැනීමකි. එසේ උගන්වන ගුරුවරුන් වෙනුවෙන් යුතුකම් ඉටු කිරීමක් ද වෙයි.

## අවශ්‍ය කටයුතු සිදු කර දීම

අතීතයේ ගුරු ගෙදර ඇසුරින් ශිල්ප ලබා ගත් බැවින් ගුරුවරයාගේ කටයුතු හැකි අයුරින් ඉටුකර දීම යුතුකමක් ලෙස සලකා ඇත. වර්තමානයේ ද අප ඉගෙනුම ලැබූ ගුරුවරුන් වෙනුවෙන් අපෙන් විය යුතු යම් කටයුත්තක් යෙදුණු විට එය තම ශක්ති ප්‍රමාණයෙන් නොපිරිහෙලා ඉටු කළ යුතු ය. සිප්සතර ලබා අප වැඩිහිටියන් ලෙස විවිධ රැකියාවල නිරත වන විට වුව ද සිය ගුරුවරුන් වෙනුවෙන් කිසි යම් කාර්යයක් ඇති විට එය නොපිරිහෙළා ඉටු කළ යුතු ය.

## හොඳින් ඉගෙනීම

ගුරුවරු ඇපකැප වීමෙන් දැඩි වෙහෙසක් දරා විෂය කරුණු මැනැවින් සංවිධානය කොට සිසුන්ට ඉගැන්වීමට සැමවිට ම උත්සාහ දරති. එසේ ම තමාගෙන් ඉගෙනුම ලබන සිසුන් හොඳින් ඉගෙනුම ලබනු දැකීමට කැමැති වෙති. ශිෂ්‍යයන් වශයෙන් අපේ ගුරුවරුන් වෙනුවෙන් අපට කළ හැකි ඉහළ ම යුතුකම ද එය වේ. සිසුන් හොඳින් ඉගෙනුම ලබනු දැකීමට සියලු ගුරුවරු කැමැති වෙති. එසේ ම ඉගෙනීමේ මැනැවින් නිරත වන ශිෂ්‍යයා පිළිබඳ ගුරුවරු දැඩි ආදරයෙන් යුතු ව කථා කරති.

මෙම යුතුකම් පිළිබඳ අවබෝධයක් ලබා ගුරුතුමාගේ සිත නොරිදෙන අයුරින් අප කටයුතු කළ යුතු ය. වේලාසනින් පාසලට පැමිණීම, පාසල් බිම පිරිසිදු කිරීම, ගුරු බසට අවනත වීම හා සවන් දීම, විනය ගරුක ව කටයුතු කිරීම, ගුරු ගෞරවය උපදවාගෙන ඉගෙනුම ලැබීම ඒ අතුරින් වැදගත් වේ. පාසලේ දී පමණක් නොව එතුමන්ලා මුණගැසෙන කවර ස්ථානයක දී වුව නිසි ගෞරවය දැක්විය යුතු ය. ගුරුතුමන්ලාට සැලකීමේ දී අප ගරු කළ යුතු වන්නේ පංතියේ උගන්වන ගුරුවරුන්ට පමණක් නොවේ. අපට උගන්වන්නේ නැති වුව ද පාසලේ සිටින අනෙකුත් ගුරු භවතුන්ට ද අප ගරු කළ යුතු වේ. එසේ සැලකිය යුතු වන්නේ පාසල් කාලයේ දී පමණක් නොවේ. අප ජීවිත කාලය පුරාවට ම නිසි මග යැමට මග පෑදූ ගුරු මවුවරුන් හා පියවරුන් වෙත ගෞරව දැක්විය යුතු ය. අප අධ්‍යාපනය ලබා කවර මට්ටමේ තනතුරු දැරුව ද මූලික අධ්‍යාපනය ලබා දුන් ගුරුවරුන් අමතක නොකළ යුතු ය. ඊට හේතුව අපට එම තත්ත්වය ලබා ගැනීමට මග පෙන්වූයේ ගුරු භවතුන් බැවිනි.



## සාරාංශය

සිගාලෝවාද සූත්‍රයට අනුව ගුරුවරුන්ගෙන් සිසුන්ට ඉටු විය යුතු යුතුකම් හා ගුරුවරුන්ට සිසුන්ගෙන් ඉටු විය යුතුකම් පහ බැගින් දක්වා ඇත. සදිසා නමස්කාරයට අනුව ගුරු සිසු යුතුකම් දැක්වෙන්නේ දකුණු දිසා නමස්කාරයට අදාළ ව ය. එහි ගුරුසිසු සබඳතාව පිය පුතු සබඳතාවකට සමාන කොට දක්වා ඇත. ගුරු සිසු සබඳතාව මැනැවින් පවත්වා ගැනීම මගින් උගත් ශික්ෂාකාමී සමාජයක් බිහි කර ගත හැකි ය.



## ක්‍රියාකාරකම

1. ගුරුවරුන්ගෙන් සිසුන්ට ඉටු විය යුතු යුතුකම් ලියන්න.

2. සිසුන්ගෙන් ගුරුවරුන්ට ඉටු විය යුතු යුතුකම් ලැයිස්තුගත කරන්න.



## පුහුණුවට

ගුරු සිත නොරිදවා - වේලාව නොවරදවා
බැති පෙම් උපදවා - අකුරු උගනී කුමරු සොඳවා

- කාව්‍යශේඛරය -




# ආදර්ශවත් නායකත්වය

අතීතයේ බරණැස් නුවර බ්‍රහ්මදත්ත නම් රජ කෙනකු රාජ්‍යය කරන කල්හි අප මහබෝසතාණෝ වෙළෙඳ කුලයෙක උපත ලැබූහ. වැඩි වියට පත් එතුමෝ සාත්තු නායකයකු ලෙස ගැල් පන්සියයකට නායකත්වය දෙමින් වෙළෙඳ කටයුතුවල නිරත වූහ. එකල එම ප්‍රදේශයේ තවත් සාත්තු නායකයෙක් ද සිටියේ ය. ඔහු නුවණින් අඩු ය; උපායශීලි නොවේ; අදක්ෂ ය. එක් කාලයක බෝසත් වෙළෙඳ නායකතුමා ගැල් පන්සියයක බඩු පුරවාගෙන වෙළෙඳාමේ යාමට සූදානම් විය. නුවණ මඳ පුද්ගලයා ද ගැල් පන්සියයක බඩු පුරවාගෙන එක මාර්ගයේ ම වෙළෙඳාමේ යාමට සූදානම් විය. එවිට බෝසත්තුමා මේ නුවණ නැති වෙළෙඳ නායකයාත් මා සමග යාමට සූදානම් වුව ද ගැල් දාහක් ගමන් කරන්නට මෙය සුදුසු මාර්ගයක් නොවේ. එසේ ම ගමන් කරන මිනිසුන්ට දර හා ජලය ද, ගැල් අදින ගවයන්ට තණකොළ ද සපයා ගැනීමට අසීරු වෙයි. මේ නිසා ඔහු හෝ මා හෝ පළමු ව යා යුතු යැයි සිතා ඒ අනුවණ ගැල් නායකයා කැඳවා "අප දෙදෙනාට ම එක වර ගමන් කළ නොහැකි ය. පළමු ව යන්නේ ඔබ ද මම ද" යි විමසුවේ ය. එවිට අනුවණ ගැල් නායකයා මෙසේ සිතී ය. තමා පළමු ව ගිය කල්හි බොහෝ ලාභ ප්‍රයෝජන වන්නේ ය. කරත්ත රෝදවලින් හැරුණු වළ සහිත මාර්ග නැත. කරත්ත අදිනා ගොනුන්ට ද හොඳ තණකොළ කෑමට පුළුවන. මිනිසුන්ට ද කිසිවකු නොකැඩූ හොඳ පලා ආදිය ලැබෙන්නේ ය. ඉතා පිරිසිදු ජලය ද ලබා ගත හැකි වන්නේ ය. තමාට කැමැති පරිදි මිල ගණන්වලට බඩු විකුණාගත හැකි වන්නේ ය. එසේ සිතා "මිත්‍රය මම පළමු ව යන්නම්." යැයි හෙතෙම බෝසතුන්ට ප්‍රකාශ කළේ ය.

බෝසත්තුමා ද පසු ව යාමෙන් බොහෝ ප්‍රයෝජන අත්වන බව දැන මෙසේ සිතී ය. පළමු ව ගමන් ගන්නෝ මාර්ගයේ දුර්වල තැන් පිළිසකර කරති.

ඔවුන් සකස් කළ මග මට ගමන් කළ හැකි ය. පළමු ව ගියහොත් මේරූ තණකොළ ගවයන්ට කෑමට සිදුවෙයි. වරක් කෑ පසු නැවත එන ළපටි තණකොළ මගේ ගවයන්ට කෑමට හැකි වේවි. එසේ ම පළමු ව යන්නන් පලා කොළ කඩාගත් පසු නැවත දලු දමන ළපටි පලා අපගේ මිනිසුන්ට අනුභව කිරීමට හැකි වන්නේ ය. පළමු ව යන අය පැන් නොමැති වූ විට ළිං කපති. ඔවුන් කැපූ ළිංවලින් අපට ද පැන් බීමට හැකි වන්නේ ය. ඔවුන් ඉහළ මිල ගණන් නියම කර බඩු විකුණා ඇතොත් මම ද පසු ව ගොස් ඔවුන් නියම කර ඇති මිලට බඩු විකුණන්නෙමි. මෙසේ පසු ව ගමන් කිරීමේ ප්‍රයෝජන පිළිබඳ ව සිතූ බෝසතාණෝ මිතුරු ගැල් නායකයා අමතා, 'ඔබ පළමු ව යන්නැ' යි කීහ. එවිට නුවණ නැති ගැල් නායකයා සතුටු ව අහාර පාන, ජලය, දර ආදිය ගැල්වලට පටවා ගත්තේ ය. නියමිත පරිදි ගමන් ඇරඹිණි. සාත්තු නායකයා මග පෙන්වමින් ඉදිරියෙන් ම ගියේ ය. මිනිස් වාසය පසු කළ පිරිස කාන්තාරයකට පිවිසියහ.

හැට යොදුනක් වූ කාන්තාරයේ අඩක් පමණ තරණය කර සිටින අතරතුර එම කාන්තාරයට අරක් ගත් එක්තරා යක්ෂයෙක් තම පිරිස සමග ඔවුන් කරා පැමිණියේ ය. යක්ෂ තෙමේ ගැල්කරුවන් හා ගොනුන් මරා කන්නෙමැ යි සිතා එක්තරා උපායක් යෙදී ය. හෙතෙම කාන්තාර මාර්ගයේ ඉදිරියෙන් මහ වැසි වස්නා බව මවා පෙන්නුම් කළේ ය.ඒ සඳහා ඔවුහු තෙතබරිත වූ ඇඳුම් ඇඳගෙන, නෙළුම් මානෙල් මල් මාලා හිස, කර පලඳිමින් මඩ තැවරුණු රියසක සහිතව ගැල් සාත්තුව ඉදිරියට පැමිණියහ.



සාත්තු නායක තෙමේ මේ පිරිසගෙන් මග තොරතුරු විමසී ය. යක්ෂයා වෙළෙඳුන් අමතා ඉදිරියෙහි මහ වැසි වස්නා බව විස්තර කළේ ය. ඒ අසා හෙතෙම බෙහෙවින් සතුටට පත් විය. ඉදිරියෙහි ජලය තිබිය දී දිය බඳුන් රැගෙන යා යුතු නැතැ යි ඔහු සිතී ය. මෙතෙක් රැගෙන ආ ජලය ඉවත දමා බර අඩු කරගෙන පහසුවෙන් ගැල් පැදවීමට හෙතෙම තීරණය කළේ ය.

එහෙත් සිදු වූයේ අනෙකකි. ඉදිරියේ වැසි නොලැබිණ. දිය ස්වල්ප මාත්‍රයකුදු නොවී ය. දිය පිපාසයෙන් පීඩිත වූ මිනිස්සු ද ගොන්නු ද තැන් තැන්වල පීඩාවට පත් ව ඇද වැටුණහ. මැදියම් රැයේ පැමිණි යක්ෂයෝ ඒ මිනිසුන් හා ගවයන් මරා මස් අනුභව කළහ.

දින කිහිපයක් ගෙවී ගියේ ය. නුවණැති බෝසත් වෙළෙන්ඳා ගමනට සැරසිණි. ඔහු වඩාත් කල්පනාකාරී ව ගමන සැලසුම් කළේ ය. කාන්තාරයක් හරහා යන ගමනේ දී ජලය තීරණාත්මක සාධකය වෙයි. හෙතෙම ජල පරිහරණයේ දී බෙහෙවින් පරිස්සම් වීමට සැලකිලිමත් විය; ගමනට සෑහෙන තරමට ජලය ගැල්වලට පුරවා ගත්තේ ය. තම වෙළෙඳ කණ්ඩායම කැඳවා තම ආරක්ෂාව පිණිස විශේෂයෙන් සිත තබාගත යුතු කරුණු වෙත සියල්ලන්ගේ ම අවධානය යොමු කරවී ය.

"මා නොවිචාරා පැන් පතක් පමණකුදු නිකරුණේ ප්‍රයෝජනයට නොගනුව. මේ කතර මග විෂ වෘක්ෂ ඇත. එහෙයින් පෙර නොකෑ විරූ ඵලයක්, කොළයක්, මලක්, පලා වර්ගයක් මා නොවිචාරා නොකව," යනුවෙන් හෙතෙම අවවාද කළේ ය.

වෙළෙන්දෝ ගමනට පිටත් වූහ. ගම්බිම් කෙත්වතු පසුකොට ඔවුහු කාන්තාර මධ්‍යයට පැමිණියහ. වෙළෙඳුන් රවටා සිය වසඟයට ගැනීමට සිතූ යක්ෂයෝ මහ වැසි වස්නා ප්‍රදේශයක් පසු කොට එන පිරිසක් මෙන් තෙත් වූ වස්ත්‍රාදිය ඇති ව යළිත් වෙළෙඳුන් ඉදිරියට ආහ. වෙළෙඳුන් ඉදිරියේ වැසි වස්නා අයුරු විස්තර කළහ. එහෙත් වෙළෙඳ නායකයා ඔවුන් කී දේ නොපිළිගත්තේ ය.

සාත්තු නායකයා "පැන් දුටු තැනක දී පැන් දමාපියා, ගැල් සැහැල්ලු කොට යම්හ, " යි දැඩි අධිෂ්ඨානයෙන් ප්‍රකාශ කළේ ය. වෙළෙඳ පිරිස සාත්තු නායකයාගේ අදහසට එකඟ වූහ. යක්ෂයෝ ආ මගම ආපසු ගියහ. නැවත වෙළෙඳ පිරිස කැඳවූ සාත්තු නායකයා,

"තොප විසින් මේ කාන්තාරයෙහි විලක්වත් පොකුණක්වත් ඇතැයි කිසි කෙනකුගෙන් අසා තිබේ ද?" යනුවෙන් විචාළේ ය.
"ස්වාමීනි, එසේ අසා නැත්තෙමු."

"මේ නිල් වූ වන රොදින් එපිට වැසි වස්නේ යැයි සමහර කෙනෙක් කිවූහ. වැසි සුළඟ නම් කොතෙක් තැන් හමා ද?"
"ස්වාමීනි, යොදුනක් පමණ තැන් හමන්නේ වේදැ" යි ඔවුහු පිළිතුරු දුන්හ.
"එසේ නම් තොප හැම දෙනා අතුරින් එක් අයකුගේ හෝ වැසි සහිත සුළඟක් ඇඟේ වැදුණේ ද?"
"නැත ස්වාමීනි, " යි ඔවුහු පිළිතුරු දුන්හ.

"විදුලිය කොතෙක් දුරට පෙනේ ද?" යි නැවත ගැල් නායකයා විමසී ය.
"සතර පස් යොදුනක් දුරට පෙනේ" යැයි පිරිස කිවූහ.
"තොපගෙන් කිසිවෙක් එවැනි විදුලි ආලෝකයක් දුටුවේ ද?"
"නැත ස්වාමීනී, එවැනි ආලෝකයක් නුදුටුම්හ"යි ඔවුහු කීහ.

"ගෙරවිලි හඬ කොතෙක් දුරට ඇසෙන්නේ දැ?" යි විමසූ විට යොදුනක් පමණ දුර ඇසෙන බව ඔවුහු කීහ.
"තොප අතුරින් කිසිවකුට එවැනි ගෙරවිලි ශබ්දයක් ඇසුණේ ද?" යි විචාළේ ය.
"නැත ස්වාමීනී, එවැනි ගෙරවිලි හඬක් නොඇසුණේ ය" යි පිරිස කීහ.

එවිට බෝසතාණෝ "පින්වතුනි, මොවුහු මිනිස්සු නොවෙති; යක්ෂයෝ ය. මොවුන් අප ගෙන යන ජලය ඉවත් කර අප දුර්වල කොට මරා කෑමට පැමිණි යක්ෂයන් පිරිසකි. අපට පෙර ගිය ගැල් නායකයා උපාය දන්නේ නැත. ස්ථිර වශයෙන් ම ඔහු රවටා ජලය ඉවත් කරවා පීඩාවට පත්කොට මරා කන්නට ඇති. බඩු පිරවූ ගැල් අපට දැක ගන්නට හැකි වේවි. ඒ නිසා ජල බිඳක්වත් ඉවත නොදමා ඉක්මනට ගැල් පදවන්නැ'යි උපදෙස් දුන්හ.

ගැල් කණ්ඩායම ඉදිරියට යද්දී බඩු පුරවන ලද ගැල් පන්සියය හා යක්ෂයින් විසින් කා දමන ලද මිනිසුන්ගේ හා ගවයින්ගේ ඇටකටු දුටු බෝසතාණෝ ගැල් නතර කොට ගොනුන් ලිහා ගැල් වළල්ලක් සේ රැඳවූහ. කඳවුරු බැඳ වේලාසනින් ම ගවයින්ට තණකොළ කවා මිනිසුන්ට බත් කෑමට නියම කළහ. ගොනුන් මැදිවන සේ මිනිසුන් වටේට ම තැබවූහ. අනතුරුව එතුමාණෝ මිනිසුන්ට නිදා ගැනීමට සලස්වා ශක්තිමත් පුද්ගලයන්ට කඩු මුගුරු ආදිය අතට දී රාත්‍රිය මුළුල්ලේ ම ආරක්ෂාව සැලැස්වූහ.

ඔවුහු දෙවැනි දින උදෑසන ම ගවයින්ට තණකොළ කෑමට දී තම පරණ ගැල් ඉවත්කර කලින් පැමිණි කණ්ඩායමේ ශක්තිමත් ගැල් ඒ වෙනුවට යොදා ගත්හ. අගයෙන් අඩු භාණ්ඩ ඉවත් කර අගය වැඩි වටිනා බඩු කරත්තවලට දමා ගත්තෝ ය. මිනිස් වාසයට පැමිණි ඔවුහු රිසි සේ මිල නියම කොට බඩු විකුණා සමෘද්ධියට පත් වූහ.

මෙම ජාතක කථා වස්තුවෙන් වෙළෙඳ කණ්ඩායම් නායක චරිත දෙකක් පිළිබිඹු වේ. අනුවණකමින් තීන්දු තීරණ ගත් නායකයාත්, දූර දක්නා නුවණින් කටයුතු කළ නායකයාත් ඒ චරිත දෙකයි. අඥාන සාත්තු නායකයා ගත් ක්ෂණික තීරණ නිසා ඒ වෙළෙඳ කණ්ඩායම විනාශයට පත් විය. නමුත් දූර දක්නා උපායශීලී නුවණින් යුතු අප මහ බෝසතාණන් වහන්සේගේ වෙළෙඳ කණ්ඩායම තම ජීවිත ද බේරා ගනිමින් සමෘද්ධිමත් වෙළෙඳුන් බවට පත් වූහ.

මෙම කථා පුවතින් අපට චරිතායනය කර ගත හැකි නායකත්ව ගුණාංග රැසක් ඇත. ඒවායින් කිහිපයක් පහත සඳහන් වේ.

- දූර දක්නා නුවණින් යුක්ත බව
- පූර්ව සූදානම හා සැලසුම් සහගත බව
- ඉවසිලිමත් හා විමසිලිමත් බව
- අනුගාමිකයන්ට පිළිගත හැකි විශ්වාසදායක අයකු වීම
- සහයෝගයෙන් කටයුතු කිරීමේ හැකියාව
- නිවැරැදි තීරණ ගැනීම
- නොබිය ව ක්‍රියා කිරීම
- සංවිධාන ශක්තියෙන් යුතු වීම
- අනුගාමිකයන්ගේ ආරක්ෂාව සැලසීම
- වගකීමෙන් හා වගවීමෙන් යුක්ත බව

එසමයෙහි නුවණැති සාත්තු නායකයා ව ඉපිද සිටියේ සම්මා සම්බුදුරජාණන් වහන්සේ ය. පළමු ව ගොස්, අපරීක්ෂාකාරී වීම නිසා විනාශ මුඛයට පැමිණියේ දෙව්දත් තෙරුන් ය. මෙම කතා පුවත එන්නේ පන්සිය පනස් ජාතක පොත් වහන්සේට ඇතුළත් අපණ්ණක ජාතකයෙහි ය.



### සාරාංශය

★ අඥාන වෙළෙඳ නායකයකුගේ ක්‍රියා කලාපය නිසා විනාශ මුඛයට පත් වෙළෙඳ කණ්ඩායමක් හා නායකයා ඥානවන්ත ව කටයුතු කිරීමෙන් සමෘද්ධියට පත් වූ වෙළෙඳ කණ්ඩායමක් පිළිබඳ ව අපණ්ණක ජාතක කථාවෙන් විස්තර වේ.

★ මෙම කතා පුවත ඇසුරින් සැලසුම් සහගත බව, සූදානම, දූර දක්නා නුවණ, තම පිරිස සමග නිරන්තර සංවාද තුළින් අරමුණු කරා යාම, පිරිස් කළමනාකරණය, විමසිලිමත් බව, නිවැරැදි ම තීරණ ගැනීම, එඩිතර බව, සුහදශීලී බව ආදි නායකත්ව ගුණාංග රැසක් අපට ජීවිතාදර්ශ කර ගත හැකි ය.



### ක්‍රියාකාරකම

1. ශිෂ්‍ය නායක නායිකාවන්ට හා පන්ති නායක නායිකාවන්ට මෙම කථා පුවතින් එක් කරගත හැකි ජීවිතාදර්ශ පහක් ලියන්න.

2. අපණ්ණක ජාතකයේ පළමු ඡේදය ජාතක දේශනා ශෛලියෙන් සජ්ඣායනා කරන්න.

## පැවරුම

අපණ්ණක ජාතකය ඇසුරින් කෙටි නාට්‍ය පිටපතක් සකස් කර රඟ දක්වන්න.




# සැනසුම ගෙන එන ඉවසීම

"පුණ්ණ, සුනාපරන්තයෙහි මිනිසුන් දරුණුයි. ඔවුන් ඔබට දෝෂාරෝපණය කළොත් ඔබ මොනවද කරන්නේ?"

"ස්වාමීනී, මට දොස් කියන ඔවුන්, මට අතින් නොගසන හෙයින් හොඳ යැයි මා සිතනවා."

"ඉතින් ඔවුන් ඔබට අතින් පහර දුන්නොත්?"

"ගල් කැටවලින් මට නොගසන ඔවුන් හොඳ යැයි මා සිතනවා ස්වාමීනි."

"හොඳයි පුණ්ණ , ඔවුන් ඔබට ගල් කැටවලින් පහර දුන්නොත්?"

"දඬු මුගුරුවලින් පහර නොදෙන නිසා ඔවුන් හොඳ යැයි මා සිතනවා."

"පුණ්ණ, ඔවුන් දඬු මුගුරුවලින් ඔබට පහර දුන්නොත් ඔබ මොක ද කරන්නේ?"

"ස්වාමීනී, ආයුධවලින් මට පහර නොදෙන ඔවුන් කොතරම් හොඳ ද කියා මා සිතනවා."

"ඉතින් ආයුධවලින් පහර දුන්නොත් කරන්නේ කුමක් ද?"

"ආයුධවලින් පහර දුන්නත් මා මරණයට පත් නොකරන ඔවුන් හොඳ යැයි මා සිතනවා ස්වාමීනී."

"පුණ්ණ, ආයුධවලින් පහර දී ඔබ මරණයට පත් කරන්න සූදානම් වුණොත්?

"ස්වාමීනි, සමහර අය ජීවිතය ගැන කලකිරීමෙන් දිවි තොරකරවා ගැනීමට ආයුධ ගත්තවුන් සොයනවා. ඉතින් එලෙස සෙවීමකින් තොර ව ම ආයුධ ගත්තවුන් මට ලැබීම භාග්‍යයක් යැයි මා සිතනවා."

ඉහත සඳහන් වන්නේ බුදුරජාණන් වහන්සේ සහ පුණ්ණ නම් ශ්‍රාවක ස්වාමීන් වහන්සේ නමක අතර ඇති වූ සාකච්ඡාවකි. සුනාපරන්තය නම් ජනපදයට වැඩම වීමට සූදානම් වූ පුණ්ණ ස්වාමීන් වහන්සේගෙන් බුදුරදුන් විමසූ ප්‍රශ්න හා පුණ්ණ ස්වාමීන් වහන්සේ ඊට දුන් පිළිතුරු ද මෙහි ඇතුළත් ය. මෙයින් හෙළි වන්නේ පුණ්ණ හිමියන් තුළ පැවති උතුම් ඉවසීමේ ගුණයයි.

ආත්මාර්ථය මෙන් ම පරාර්ථය ද සලසාලන, මෙලොව, පරලොව දියුණුව උදා කරන උතුම් ගුණාංගයක් ලෙස ඉවසීම හඳුන්වා දිය හැකි ය. උතුම් බුද්ධත්වය සඳහා බුද්ධකාරක ධර්ම සපුරාලිය යුතු ය. ඒවා දස පාරමිතා ලෙස හැඳින්වෙයි. ඒ දස පාරමිතා අතර සවැනි පාරමිතාව ලෙස දැක්වෙන්නේ ද ඛන්ති පාරමිතාවයි. ඛන්ති, ක්ෂාන්ති යනු ඉවසීමයි. ඒ උතුම් ඉවසීම අප මහ බෝසතාණන් ප්‍රගුණ කළ අයුරු ක්ෂාන්තිවාදී ජාතකයෙන් පැහැදිලි වෙයි. සැඩ පරුෂ වූ, ගුණ ධර්මවලින් හීන වූ, මහණ බමුණන්ගේ ගුණ නොදත් කළාබු නම් රජතුමා ගුණයෙන් පිරිපුන් ක්ෂාන්තිවාදී බෝසත් තවුසාට විවිධාකාරයෙන් වධ දෙන ලදි. එලෙස වධ දුන් රජු කෙරෙහි කෝප නොවුණු තවුසා. ,"යම් කළාබු නම් වූ රජ කෙනෙක් මාගේ දෙ අත්, දෙපා, කන් නාසාදිය සින්දවූයේ ද ඒ රජ තෙමේ බොහෝ කාලයක් ජීවත් වේවා! මා වැනි ක්ෂාන්තිය (ඉවසීම) බලය කොට ඇති නුවණැත්තෝ කිසිවකු කෙරෙහි නොකිපෙත්," යයි පැවසීය. මෙයින් පැහැදිලි වන්නේ බෝසතුන් තුළ තිබූ ඉවසීමේ ලක්ෂණයයි. අප බුදු පියාණන් වහන්සේ පමණ ඉවසූ උතුමකු මේ මිහිපිට තවත් නැති තරම් ය. චිංචා මාණවිකාවගේ අභූත චෝදනාව, සුන්දරී පරිබ්‍රාජිකාව මරා ගඳ කිළිය පිටුපස මල් ගොඩ යට මළ සිරුර සඟවා නිගණ්ඨයන් කළ අස්ථාන චෝදනාව, මාගන්දිය බේබද්දන් යොදවා මහත් සේ පරිභව කිරීම ආදි ඉවසීමට ඉතා ම අපහසු අවස්ථාවල දී පවා මැනැවින් ඉවසූ අයුරු සිහිපත් කළ හැකි ය.



ධර්ම සේනාධිපති සැරියුත් මහ රහතන් වහන්සේට එක් අශිෂ්ට බමුණෙක් පිටුපසින් පැමිණ තද අතුල් පහරක් ගැසුවේ ය. "එසේ පහර දුන්නේ කුමක් සඳහා ද" යි උන් වහන්සේ ඇසූ විට "ඔබ වහන්සේගේ ඉවසීම පරීක්ෂා කිරීම සඳහා" යයි බමුණා ප්‍රකාශ කොට ඇත. බමුණා කෙරෙහි කිසිදු අහිතක් නොසිතා ඔහුට සමාව දී ඒ බමුණාගේ නිවසට වැඩම වූ සැරියුත් මහරහතන් වහන්සේ දන් වැළඳූහ. මෙයින් පැහැදිලි වන්නේ උන් වහන්සේගේ ඉවසීමේ ගුණයයි.

**යමෙක් බලවත් වූයේ නමුදු දුබලයාගේ වැරැදිවලට සන්සුන් ව ඉවසන්නේ නම් එය ම ශ්‍රේෂ්ඨ වූ ඉවසීම ලෙස ධර්මයෙහි දක්වා ඇත. දුබලයා, කරගත හැකි දෙයක් නැතිකමින් කාහටත් හිස නමයි; නිතර ඉවසයි. එය උතුම් ඉවසීමක් නොවේ. තමා බලයෙන්, ධනයෙන්, නිලයෙන්, පරිවාර සම්පත්තියෙන් ප්‍රබල ව සිටිය ද, දුබලයාගෙන් ලැබෙන ගැහැට ඉවසන්නේ නම් එය උතුම් ම ඉවසීම වේ.** යමකු තමාගේ පය බල්ලකු සැපූ කල, තමා ඒ බල්ලාගේ පය නොසපන්නාක් මෙන් තමාට ආක්‍රෝශ පරිභව කිරීම් ආදි වශයෙන් හෝ පහරදීම් වශයෙන් හෝ හිරිහැර කරන තැනැත්තාට නොකිපීම, පළි නොගැනීම බුද්ධාදී උත්තමයන් විසින් ප්‍රශංසා කරන ලද යි සලකා ඉවසීම පුරුදු කරතොත් ලොව කිසි විටක කලහයක්, අසමගියක්, භේදයක් කිසි තැනක ඇති නොවේ. ඉවසීමෙන් සැනසීම ලැබෙන්නේ එවිට ය.

ඉවසීම නැති කිපෙන සුළු තැනැත්තා යමක අර්ථය අනර්ථය නොදකියි. ධර්මය අධර්මය නොදකියි. ක්‍රෝධය වූ කලී මිනිසාගේ ප්‍රකෘති සිහිය විකෘතියට පත් කරන්නකි. මිනිසා උම්මත්තකයකු බවට පමුණුවන පාපී ධර්මයකි. එවැනි අයකු තුළ දුශ්චරිතයෙන් වෙන්වීමටත්, ගුණ ධර්මයන්ගෙන් යුක්ත වීමටත් උපකාරී වන විලිබිය ආදි ගුණ ධර්මයන් හට නොගනී. සීල, සමාධි, ප්‍රඥාදී ගුණ ධර්ම වැඩිය හැක්කේ ක්‍රෝධය ඇති තැනැත්තාට නොව ඉවසීම ඇති තැනැත්තාට ය. සියලු කුසල ධර්මයෝ ඉවසීම මුල් කොට වැඩෙන බව,

සීල සමාධි පඤ්ඤානං
ඛන්ති පධාන කාරණා
සබ්බෙපි කුසලා ධම්මා
ඛන්ත්‍යායත්තතාව වඩ්ඪරේ

යන ගාථා පාඨයෙන් පැහැදිලි කෙරේ.

අප ජීවත් වන සමාජය විවිධ ය; විෂම ය. එවැනි සමාජයක විවිධ පුද්ගලයන් සමග අපට ජීවත් වීමට සිදුවේ. ඒ අය සමග එකට කටයුතු කිරීමේ දී තම සිතට පීඩා ගෙන දෙන වචන ද, ක්‍රියා ද සිදුවේ. ලොව කිසිම කෙනකුට හොඳ ක්‍රියා, හොඳ වචන ම පමණක් දැකීමට ඇසීමට නොලැබේ. බස් රථයකට ගොඩ වුවත් දකින්නට ලැබෙන්නේ නොමනා හැසිරීම් ය. ඇසෙන්නේ කර්ණ කටුක වචන ය. එවැනි දුබලකම් හේතු කොට ගෙන තමාගේ සිතට ක්‍රෝධය නංවා ඒ දුබලකම් අනුව තමා ද දුබලයකු වුවහොත් සිදුවන්නේ මහත් විනාශයකි. ඒවා ඉවසීමට නොහැකි තැනැත්තාට සමාජයක වාසය කළ නොහැකි ය. අනුන්ගේ ඇනුම්, බැනුම්, රැවුම්, ගෙරවුම් නොඉවසා ඇනුමට ඇනුමත්, බැනුමට බැනුමත්, රැවුමට රැවුමත්, ගෙරවුමට ගෙරවුමත් කිරීමට අප පෙළඹුණ හොත් අපට ද අතින් පයින් පමණක් නොව, දඬු මුගුරු අවි ආයුධවලින් පවා පහර ලැබ මාරාන්තික දුකකට හෝ මරණයට හෝ පැමිණීමට සිදුවිය හැකි ය. අනුනට හිංසා පීඩා කිරීම නිසා බන්ධනාගාරගත ව දුක් විඳීමට ද සිදු වේ. නො ඉවසන්නාට මෙවැනි අපමණ දුක් පීඩාවනට ලක් වීමට පමණක් නොව දෙලොව පිරිහී අපා ගත වීමට ද සිදුවෙයි. පැරණි උතුමන් පැවසූ උපදේශයක මෙසේ සඳහන් වේ.

ඉවසන දනා රැපු යුදයට ජය කොඩිය
මහමෙර උසුලනා මිහිකතටත් වැඩිය

ඉවසන තැනැත්තා ඇවිලෙන ගින්නට පිදුරු දමන්නෙක් නොවේ. ඔහු දමන්නේ ජලයයි. ජලය වත් කිරීමෙන් ම ගින්න නිවේ. ඉවසීම නැමැති උතුම් ගුණයෙහි පිහිටි තැනැත්තා සියලු කලකෝලාහල සංසිඳවාගෙන සතුරන්ගෙන් ගැහැටත් නොලබා නිතර සුවසේ කල්ගත කරන්නකු බවට පත් වේ. කලකෝලාහල නිසා නඩු හබ කීමට වියදම් වන විශාල ධනයක් ද ඉතිරි වේ. එවිට හෙතෙම සතුරන් දිනූ, මෙලොව ජයගත්තකු බවට පත් වේ.

ඉවසීම නොමැතිකමේ දුර්විපාක ද අප තේරුම් ගත යුතු ය. අද අප ජීවත්වන සමාජයේ දහමට, නීතියට පටහැනි ක්‍රියා සිදුවන්නේ ඉවසීම නැතිකම නිසා ය. විද්‍යුත් හා මුද්‍රිත මාධ්‍ය තුළින් පහත සඳහන් පුවත් පළවෙනු අපට නිතර අසන්නට දකින්නට ලැබේ.

විභාගය අසමත් වූ ශිෂ්‍යයා වස බී දිවි නසා ගනී.

පෙමට මවුපියන් විරුද්ධ වූ නිසා දියණිය ගෙල වැලලා ගනී.

පියා දුන් අවවාද නොරිස්සූ පුතා තම පියාට පහර දෙයි.

තරගයේ ජය පරාජය ඉවසීමට නොහැකි වූ දෙපිරිසක ගැටුමින් විස්සක් රෝහල් ගත කෙරෙති.

තම සැමියාගෙන් සිදුවන ගැහැට ඉවසීමට නොහැකි නිසා මවක් තම සිඟිති දරු දෙදෙනා සමග ගඟට පනී.

මේ සියල්ලට ම හේතුව ක්‍රෝධය පාලනය කරගත නොහැකි වීම ය. ඉවසීම නැති වීම ය. ඉගෙන ගැනීම, උගත්කම, පාණ්ඩිත්‍යය යනු තමාට මුහුණ දීමට සිදුවන ගැටලුවලට ප්‍රශ්නවලට විසඳුම් සෙවීම ය; විභාගය අසමත් වූයේ නම් ඊළඟට අප කළ යුතු කාර්යය වන්නේ අසමත් වීමට හේතු විමසා ඉවසීමෙන් විභාගය ජය ගැනීමට උත්සාහ කිරීම ය. ඉවසීමෙන් යුතු ව උත්සාහවත් වී විභාගයට ඉදිරිපත් වීම නිසා විශිෂ්ට ලෙස ඉන් සමත් වීමට ද අපට හැකියාව ලැබෙනු ඇත.

දෙලෝ අභිවෘද්ධිය කැමැත්තන් සතුරන්ගෙන්, ශීත උෂ්ණය ආදියෙන්, සා පිපාසාවෙන්, මැසි මදුරුවන්ගෙන් වන පීඩා පමණක් නොව තවත් බොහෝ පීඩා ඉවසිය යුතු ය. පීඩා ඉවසීමට නොහැකි තැනැත්තාගේ ජීවිතය ම පරාජය වනු ඇත. දෙලෝ වැඩ සලසාගත් මහෝත්තමයෝ දුක් පීඩා ඉවසීමෙහි සමර්ථයෝ ම වෙති. ජීවිතයේ මුල් කාලයේ දී බොහෝ දුක් පීඩා විඳි පුද්ගලයන් ඒවාට සාර්ථක ව ඉවසීමෙන් මුහුණ දී තම ජීවිතය සැපවත් කරගෙන ඇති අයුරු අප කොතෙකුත් අසා ඇත්තෙමු. මංගල සූත්‍රයේ ඉවසීම මංගල කාරණයක් ලෙස සඳහන් කොට ඇත්තේ ද එබැවිනි.

ඉවසීමෙන් ලැබෙන ආනිශංස ධර්ම පහක් ගැන බුදුරජාණන් වහන්සේ දේශනා කොට ඇත.

1. ඉවසන තැනැත්තා බොහෝ මිනිසුන්ට, දෙවියන්ට පමණක් නොව අමනුෂ්‍යයන්ට ද ප්‍රිය මනාප කෙනෙක් වේ.

2. සතුරන් නැති මිතුරන් බහුල පුද්ගලයෙක් වේ.

3. අපරාධවලින් තොර ව සාමකාමී සහජීවනයෙන් කල් ගත කරන්නෙක් වේ.

4. මරණාසන්නයේ මුලාවට පත් නොවී ප්‍රසන්න සිතුවිලිවලින් පිරුණු අයකු ලෙස කලුරිය කරන්නෙක් වේ.

5. මරණින් පසු දුගතිගාමී නොවී සුගතියෙහි ම උපදින්නෙක් වේ.

දෙලොව වැඩ කැමැති අපි ඉවසීම පුරුදු පුහුණු කර ගනිමු.



## සාරාංශය

තමාහට අන් අය ආක්‍රෝශ පරිභව කරන කල්හි, නොයෙක් දුක් ගැහැට දෙන කල්හි ඔවුන් කෙරෙහි වෙනසකට නොපැමිණෙන, නොකිපෙන, විරුද්ධ ව ක්‍රියා නොකරන ලක්ෂණය ඉවසීමයි. ඉවසීම නිසා සැනසීමට, නීරෝගී වීමට, ගුණ ධර්ම වර්ධනය කර ගැනීමට, සතුරන් ජය ගැනීමට හැකි වේ. ඉවසීමේ ප්‍රධාන ආනිශංස පහක් දක්වා තිබේ.



## ක්‍රියාකාරකම

1. ඉවසීම යන්නෙන් අදහස් කෙරෙන්නේ කුමක් ද යි පැහැදිලි කරන්න.
2. ඉවසීමෙන් සැනසීම ලැබූ සිද්ධියකට නිදසුනක් ඉදිරිපත් කරන්න.
3. ඉවසීමෙන් ලැබෙන ආනිශංස ගෙන හැර දක්වන්න.



## පුහුණුවට

තස්සේව තේන පාපියෝ
යෝ කුද්ධං පටිකුජ්ඣති
කුද්ධං අප්පටිකුජ්ඣති
සංගාමං ජේති දුජ්ජයං

යමෙක් ක්‍රෝධ කරන පුද්ගලයාට පෙරළා ක්‍රෝධ කෙරේ නම්, ඔහු පළමු කිපුණු පාපී පුද්ගලයාට ද වඩා පාපියෙක් වේ. කිපුණු තැනැත්තාට පෙරළා නොකිපෙන තැනැත්තා දිනීමට දුෂ්කර වූ ක්‍රෝධ සංග්‍රාමයෙන් දිනන්නෙක් වන්නේ ය.




# හෙළබොදු සිරිතට යොමු වෙමු

තාත්තා මහ කන්නයේ කුඹුරේ අස්වැන්න ගෙට ගත්තේ හරි සතුටිනි. බැත රැගෙන එන අය පිළිගන්නට මෙන් අම්මා ද ඉදිරියට ආවා ය.

"ඕං සඳා අක්කේ සෝමෙ අයියට නම් මෙදා කන්නය ජයයි," කියමින් සියාතු කරේ තිබුණ වී මිටිය බිමට දැම්මේ ය.

"රත්නත්තරේ සිහිකරගෙන ගොවිතැන් කරන මට හැම දා ම ජයයි සියාතු,"

යනුවෙන් තාත්තා ප්‍රකාශ කළේ හරි උජාරුවට ය. මේ අස්වැන්න ගෙන ඒමත් සමග අපේ නිවසේ චාරිත්‍ර ගණනාවක් සිදුකෙරේ. එහි දී මුලින් ම කෙරෙන කාර්යය වන්නේ අලුත් සහලින් දානය පිළියෙල කරගෙන පන්සලට ගොස් බුද්ධ පූජාව පවත්වා සඟ රුවනට දන් පිළිගැන්වීම ය. අනතුරුව සිදු කෙරෙනුයේ දේවාලයට රැගෙන යාම සඳහා අක්කියාල (දෙවියන්ට පුදන කොටස) වෙන් කිරීම ය. පසු ව වැඩිහිටියන් කිහිප දෙනකු හා කුඹුරු වැඩට උදවු වූ සියලු දෙනා කැඳවා ඔවුන්ට අලුත් සහලින් පිසින ලද ආහාරයෙන් සංග්‍රහ කරනු ලැබේ. කිරි අම්මාවරුන්ට දානය පිරිනැමීම ද අස්වැන්න නෙළාගත් පසු සිදු කෙරෙන මූලික චාරිත්‍රවලින් එකකි.

ශ්‍රී ලාංකික කෘෂිකාර්මික ජන සමාජය තුළ මෙම සිරිත් ඉටු කරනු දක්නට ලැබේ. මෙරට ජන සමාජය මේ උතුම් චාරිත්‍රවලට යොමු වූයේ මිහිඳු මාහිමියන් හඳුන්වා දුන් බුදු දහමත් සමග බැඳුණු සංස්කෘතිය නිසා ය. නිතර විහාරස්ථානය ඇසුරු කළ අපේ පැරණි ජන සමාජය උතුම් චාරිත්‍ර වාරිත්‍ර රාශියක් තුළින් තම ජීවිතය සරු කරගත්තේ ය. කෘෂි චාරිත්‍ර හැරුණු විට

වැඩිහිටියන්ට සැලකීම, ආගන්තුක සත්කාරය, කළගුණ සැලකීම, අනාථයන්ට උපකාර කිරීම, අසරණයින්ට පිහිට වීම, අග්‍රශසාය දානය ලබාදීම ආදී බොහෝ ගුණාංග ඒ අතර වේ.

## වැඩිහිටියන්ට සැලකීම

දිනපතා ව්‍යවහාරයේ වැඩිහිටියන් ලෙස හැඳින්වෙනුයේ අපට වඩා වයසින් වැඩිමහලු වූවන් ය. තම දෙමවුපියන්, ගුරුවරුන්, පූජ්‍ය උතුමන් හා තමනට වඩා වයසින් වැඩි සියලු දෙනා ම වැඩිහිටියෝ වෙති. තමනට වඩා වයසින් බාල වුව ද ගුණයෙන්, නුවණින් අපට වඩා උසස් අය ද වැඩිහිටියන් ලෙස සැලකෙති. ඔවුනට නිසි සැලකිලි දැක්වීම වයසින් හා ගුණයෙන් අඩු අයගේ යුතුකමයි. පිදිය යුත්තන් පිදීම මංගල කරුණක් ලෙස මහා මංගල සූත්‍රයෙහි දක්වෙයි. එසේ ම දස පුණ්‍ය ක්‍රියාවන්හි වැඩිහිටියන්ට සැලකීම වෘද්ධාපචායනය ලෙස සඳහන් වේ. මෙය රටක පරිහානිය වළක්වාලන අභිවෘද්ධිය ඇති කරන ධර්මයක් ලෙස සප්ත අපරිහානීය ධර්මවල දැක්වේ. මේ අනුව වැඩිහිටියන්ට සැලකීම උතුම් ක්‍රියාවකි.

අප වැඩිහිටියන්ට සැලකිය යුත්තේ කුමක් නිසා ද යන්න වටහා ගැනීම අවශ්‍ය ය. ඔවුහු කලක් රටේ, සමාජයේ අභිවෘද්ධිය සඳහා තම කාලය, ධනය, ශ්‍රමය කැප කළහ; අවශ්‍ය ආරක්ෂාව, රැකවරණය මෙන් ම දැනමුතුකම් ලබාදෙමින් සමාජය ගොඩ නැගීමට දායක වූහ. කෙටියෙන් සඳහන් කළොත් වැඩිහිටියන්ට අප සැලකිය යුත්තේ ඔවුන් අද දවසේ අපේ ජීවිත සැපවත් කරලීමට ඊයේ දවස කැප කළ නිසා ය.

වැඩිහිටියන්ට නිසි සැලකිලි දැක්විය යුතු ආකාරය ද අප දැන ගත යුතු ය. එයට අදාළ උපදේශ රැසක් බෞද්ධ කතා පුවත් තුළ දක්නට ලැබේ. තිත්තිර ජාතකය එක් නිදසුනකි. එම කතා වස්තුව අනුව තිරිසන්ගත සතුන් අතුරින් වැඩිහිටියකු ලෙස සැලකිල්ලට ලක් වූයේ ශරීරයෙන් විශාල වූ ඇතා නොව කුඩා සිරුරක් ඇති වටු කුරුල්ලා ය. සාලිකේදාර ජාතකයෙන් තම අසරණ මවුපිය දෙපොළට සැලකූ කුරුලු පැටවකුගේ කතාවක් ඉදිරිපත් කෙරේ. සාම ජාතකයෙහි අන්ධ දෙමාපියන්ට හොඳින් සැලකූ පුතකුගේ තොරතුරු දැක්වේ. භික්ෂු සමාජය තුළ ක්‍රියාත්මක සඟ මහලු පිළිවෙළ අනුගමනය කිරීමෙන් පැහැදිලි වන්නේ පැවිදි උපසම්පදා ශීලයෙන් වැඩිහිටි වූ භික්ෂූන් වහන්සේලාට බාල භික්ෂූන් වහන්සේලා ගරු සත්කාර දැක්විය යුතු ආකාරයයි. මහ මග වැඩම කිරීමේ දී ද, ආසන පිළියෙල කිරීමේ දී ද, දෛනික විහාර වතාවත්වල දී ද

වැඩිහිටි භික්ෂූන් වහන්සේලාට ප්‍රමුඛත්වය දිය යුතු ය. එසේ නොකිරීම භික්ෂූත්වයට නොගැළපෙන බව ඵුල්ලතිස්ස තෙරුන් පිළිබඳ කතා පුවතින් හෙළි කර ඇත.

ගිහි සමාජය තුළ බොහෝ දෙනා වැඩිහිටියන්ට නිසි සැලකිලි නොදක්වන අවස්ථා අපට දැකගත හැකි ය. තම දෙමවුපියන්, වැඩිහිටියන් මිටි අසුන්වල සිටින විට වයසින් බාලයින් උස් අසුන්වල හිඳගෙන සිටින අවස්ථා දක්නට ලැබේ. එය නුසුදුසු ක්‍රියාවකි. නොදන්නාකමට එසේ සිටී නම් වැඩිහිටියන් එය නිවැරැදි කිරීමට උපදෙස් දිය යුතු ය. වැඩිහිටියන්ගේ වචනයට ඇහුම්කන් දීමත් ඔවුන් දෙන උපදෙස් පිළිපැදීමත් ඔවුන්ට ගරු කිරීමකි. එම උපදෙස් නොපිළිපැද කටයුතු කිරීමත් ඒවා සමච්චලයට ලක්කිරීමත් ඔවුන්ට නිගරු කිරීමකි. එය කෙනකුගේ පිරිහීමට, පසුතැවිල්ලට හේතු වේ. සම වයසේ යහළුවන් සමග කරන කතා බස් විහිළු තහළු අප වැඩිහිටියන් සමග නොකළ යුතු ය. කිසි විටකත් ඒ අයට නම කියා ආමන්ත්‍රණය කිරීම ද නුසුදුසු ය. වයසට හා නෑදෑකමට ගැළපෙන අයුරින් නැන්දේ, මාමේ, අයියේ අක්කේ ආදි ලෙන්ගතු වදනින් ඇමතීමට හුරුවිය යුතු ය. එය අපගේ ගුණගරුක බව පෙන්නුම් කරන්නකි.



ඇතැම් වැඩිහිටියන්ට තම ජීවිතයේ අවසාන කාලයේ දී දිවි ගෙවීමට සිදු ව ඇත්තේ අනාථ නිවාසවල ය. නැතහොත් මහමග යාචකයින් ලෙසිනි. මොවුහු කාගේ හෝ මවුපියෝ ය; ඥාතීහු ය. මේ අය සමග තොරතුරු කතා කරන අයගේ නෙතග කඳුළෙන් තෙත්වනවා නිසැක ය. ඔවුහු එබඳු තැන්වල ජීවිත ගත කළ යුතු අය ද නොවෙති. ඇතැම් විට තම සම්පත් සියල්ල දරුවනට ලබාදීම මේ ඉරණමට හේතුව විය හැකි ය. දරුවන් දෙමාපියන්ට සිගාලෝවාද සූත්‍රයේ සඳහන් යුතුකම් නිසි පරිදි ඉටු කරන්නේ නම් ඔවුහු අසරණ තත්ත්වයට පත් නොවෙති.

## කළගුණ සැලකීම

මිනිසුන් අතර කළගුණ දන්නා කළගුණ සලකන පිරිස දුර්ලභ යැයි බුදුරජාණන් වහන්සේ වදාළහ. මෙම උතුම් ගුණය වැඩි වශයෙන් දැක ගත හැකි වන්නේ ද බෞද්ධ සමාජය තුළයි. බුද්ධ චරිතයෙන් මෙයට අදාළ ආදර්ශ කොතෙකුත් ලබා ගත හැකි ය.

කළගුණ සැලකීම යන්නෙන් අදහස් කෙරෙන්නේ තමාගේ යහපතට හේතු වන කිසි යම් උදව්වක් උපකාරයක් කළ තැනැත්තාට ප්‍රතිඋපකාර කිරීම ය. බුද්ධ චරිතයෙන් ආදර්ශ ලබා ගත් බොහෝ දෙනා මේ දුර්ලභ ගුණය ක්‍රියාත්මක කළ අයුරු දැක ගත හැකි ය. බුදුරදුන් කළගුණ සැලකීමේ අගය ලෝකයාට පෙන්නුම් කළේ බුද්ධත්වයට පත්වීමේදී තමාට පිට දීමට උපකාරී වූ ඇසතු වෘක්ෂයට අනිමිස ලෝචන පූජාව පැවැත්වීමෙනි. එසේ ම උන් වහන්සේ තමා මෙලොවට ජනිත කළ මවට උපකාර කිරීමට තව්තිසා දිව්‍ය ලෝකයට වැඩම කළහ. තමා හැදූ වැඩූ බුද්ධ මාතාව පිරිනිවන් පෑමට අවසර ගෙන පිට ව යන විට තම ශ්‍රාවකයන් වහන්සේලා සමග පසුපසින් වැඩම කළේ කළගුණ සැලකීමක් වශයෙනි.

බුද්ධ ශ්‍රාවකයන් වහන්සේලා තුළින් ද මෙම ගුණය පිළිබිඹු වූ අවස්ථා දක්නට ලැබේ. රාත්‍රියේ සැතපීමට පෙර සැරියුත් තෙරණුවෝ තම ගුරුවරයා වූ අස්සජි තෙරුන් වෙසෙන විහාරය දෙසට හැරී වැන්දෝ ය. එසේ කළේ තමන් සසුන් ගත කළ උතුමන්ට කළගුණ සැලකීමක් වශයෙනි. උන් වහන්සේ තම මෑණියනට කළගුණ සැලකීම සඳහා ඇය බෞද්ධ උපාසිකාවක බවට පත් කළහ. පුණ්ණ තෙරුන් ධර්ම ප්‍රචාරක කටයුතු සඳහා තම ජන්ම භූමිය වූ සුනාපරන්තය තෝරාගනු ලැබුවේ ඥාතීන්ට කළගුණ සැලකීමේ අටියෙනි.

කළගුණ සැලකීමේ අගය ජාතක කතාවලින් ද ඉගැන්වේ. ඊට අදාළ කතා පුවත් රැසක් ජාතක පොත් වහන්සේ තුළ දැකිය හැකි ය. ඒ අතර ගුණ ජාතකය එක් නිදසුනකි. තමාට උපකාර කළ හිවලා කුලයෙන් ගෝත්‍රයෙන් පහත් වුව ද ඔහුට ප්‍රතිඋපකාර කිරීමට සිංහයා ක්‍රියා කළේ හිවලාගේ පවුලේ සැමට තම වාසස්ථානය සමීපයේ ම නවාතැන් ලබා දීමෙනි.

බුද්ධ චරිතය, බුද්ධ ධර්මය හා ශ්‍රාවක චරිත තුළින් හැඩ ගැසුණු චරිත ඇති බෞද්ධයෝ තමනට උපකාර කළ අයට ප්‍රතිඋපකාර දැක්වීමට අමතක නොකරති; තමන් හැදූ වැඩූ දෙමාපියනට කළගුණ සැලකීමට බෝසත් ගුණ ඇති දරුවෝ මැළි නොවෙති; දෙමාපියන් ගිලන් වූ විට ප්‍රතිකාර ලබා දෙමින් ඔවුනට උවටැන් කරති; වයසට ගිය පසු ආදරයෙන් රැක බලා ගනිති; මිය ගිය පසු ද තම දෙමාපියන්ගේ ගුණ සිහිපත් කරමින් පින් පෙත් ලබා දෙති. මෙබඳු දේ නොකිරීම වසල ක්‍රියාවක් ලෙසත් පිරිහීමේ ලක්ෂණයක් ලෙසත් ඔවුහු බුදු දහම අනුව දැනුම්වත් ව සිටිති.

තමනට ශිල්ප ලබා දෙමින් නැණ නුවණ වර්ධනය කොට සමාජයට ඇවැසි පුද්ගලයකු බවට පත් කිරීමට කැප කිරීම් කළ ගුරු භවතුනට ප්‍රතිඋපකාර කිරීමට සත් පුරුෂයෝ එදා සිට ම යොමු වූහ. තමාගේ මෙලොව පරලොව අභිවෘද්ධියට අදාළ ධර්මය කියා දෙමින් මංගල අවමංගල අවස්ථාවල දී අවශ්‍ය අනුශාසනා කළ අපේ මහසඟරුවන ආරක්ෂා කර ගැනීමටත් සිව්පසයෙන් සංග්‍රහ කිරීමටත් අපේ ජනතාව කැප වුණේ කළගුණ සැලකීම් වශයෙනි. එසේ ම තම ඥාතීන්ට හා අසල්වැසියන්ට අවශ්‍ය ඇප උපකාර කිරීමට බෞද්ධ ජනතාව කිසි විටෙකත් පසුබට නොවුණේ දෛනික ජීවිතයේ දී ඔවුන් තමන්ගේ අභිවෘද්ධිය සඳහා කුමන හෝ අයුරකින් උදවු උපකාර කර ඇති බැවිනි. කෘෂිකාර්මික ජන සමාජය තුළ තිරිසන්ගත සත්ත්වයින්ට ද ප්‍රතිඋපකාර නිරතුරු ව ලැබුණි. එපමණක් නොව ඔවුහු තමන් රැකියාව සඳහා ගනු ලබන උපකරණවලට පවා විශේෂ සැලකිලි දැක්වූහ. නගුලට, උදැල්ලට, පිහියට, යන්ත්‍ර සූත්‍රවලට පවා ඒවා භාවිතයට ගත් පසු වැඳුම් පිදුම් කරන්නේ කළගුණ සැලකීමක් වශයෙනි. පොත පත භාවිත කරන හොඳ දරුවන් පොතක් බිමට වැටුණු පසුත් පාඩම් කර අවසන් වූ පසුත් ඒවාට වඳින්නේ ද කළගුණ සැලකීම් වශයෙනි. අනාදිමත් කලක පටන් පැවතෙන මෙම උතුම් චාරිත්‍ර නොසලකා හැරීමට ඇතැම් පිරිස් යොමු ව ඇත. එබැවින් අපි මේ උතුම් ගුණධර්ම තව දුරටත් රැකගෙන ඉදිරියට පවත්වාගෙන යෑමට අදිටන් කර ගනිමු.

## ආගන්තුක සත්කාරය

"සිංහලයා ඉතා විනීත ය; ආගන්තුක සත්කාරයේ දක්ෂ ය; ළැදි ය; ස්වදේශිකයන්ට මෙන් ම විදේශිකයන්ට ද කාරුණික ව සත්කාර කරයි." යන ප්‍රකාශය කරනු ලැබුවේ කලක් මෙරට සිරකරුවකු බවට පත් ව සිටි ඉංග්‍රීසි ජාතික රොබට් නොක්ස් විසිනි. එයින් පැහැදිලි වන්නේ ආගන්තුක සත්කාරය නිසා දෙස් විදෙස් දෙපිරිසගෙන් ම අප සම්භාවනාවට ලක් වූ ජාතියක් වූ බවයි.

ආගන්තුකයින් යනු බැහැරින් තම නිවසට පැමිණෙන පිරිස් ය. ඒ අය කලකට පසු ව එන ඥාතීන් විය හැකි ය. එසේත් නොමැති නම් කිසි යම් අවශ්‍යතාවක් සඳහා එන තමන් නොදන්නා අය ද විය හැකි ය. එදා අප නිවෙස්වල ඉදිරිපස දොර වසා නොතිබුණි. වත්තට ඇතුළු වන ගේට්ටුව ද නිතර විවෘත ව තිබුණි. එන ඕනෑ ම අයකු නිවැසියන් විසින් පිළිගනු ලැබුවේ ඉදිරියට පැමිණ සිනහමුසු මුහුණෙනි; කරුණාභරිත වචනවලිනි. නාඳුනන අයකු වුව ද නිවසට කැඳවාගෙන අසුන් ගන්වා ආ ගිය තොරතුරු විමසනු ලබයි. ඒ වන විට නිවසේ ඇති බුලත් හෙප්පුව ඔහුට හෝ ඇයට පිළිගන්වා හමාර ය. ඉන් අනතුරුව පිළිසඳර නිම වන විට බුලතින් පමණක් නොව බතින් ද සංග්‍රහ කිරීමට තරම් අපේ පැරැන්නෝ පරිත්‍යාගශීලී වූහ.

මෙබඳු උතුම් ගුණාංග අපට උරුම වූයේ බුදු දහම මෙරටට දායාද වීමෙන් පසු ව විහාරස්ථානය ඇසුරෙනි. පිටතින් වැඩම කරන භික්ෂූන් වහන්සේලා විහාරවාසී භික්ෂූන් වහන්සේ විසින් පිළිගන්නා ආකාරය ගිහි ජනතාවට ආදර්ශයක් විය. පෙරමගට වැඩම කොට පා සිවුරු පිළිගන්නා ආකාරයත් අනතුරු ව ආසන පනවා පැන් පිළිගැන්වීම් සිදු කරන ආකාරයත් පැරැන්නෝ සියැසින් දුටහ. ආගන්තුක ස්වාමීන් වහන්සේ වයසින් වැඩිමහලු නම් පා වැඳ ආගිය තොරතුරු විමසන අයුරු ද දැන සිටියහ. මේ උතුම් චාරිත්‍ර ගිහි ජනතාව ද තම චර්යා රටාවට යොදා ගත්හ.

බුදුරදුන් විසින් තමා මුණ ගැසීමට පැමිණෙන අය කාරුණික වචනයෙන් හා සිනහමුසු මුහුණින් ප්‍රියශීලී ව පිළිගන්නා ලදහ. සෝණදණ්ඩ නම් උගත් බ්‍රාහ්මණයකු බුදුරදුන් පිළිබඳ ව කරන එක් ප්‍රකාශයක දැක්වෙන්නේ "ඒ ශ්‍රමණ භවත් ගෞතමයෝ තමන් හමුවට එන අය ප්‍රිය වචනයෙන්

පිළිගත්තෝ ය." කියායි. අන්‍ය ආගමිකයන් පවා බුදුරදුන් ඔවුන්ගේ අසපුවලට වැඩම කළ අවස්ථාවන්හි දී "ස්වාමීනි, භාග්‍යවතුන් වහන්ස වඩින සේක්වා. මෙහි වැඩමවීම ඉතා යහපත් ය. භාග්‍යවතුන් වහන්සේ කලකට පසු මෙහි වැඩිසේක. ඔබ වහන්සේට මෙහි ආසනයක් ද පනවා තිබේ," යනුවෙන් ඉතාමත් ලෙන්ගතු ව පිළිගත් බව සූත්‍ර දේශනාවල දැක්වේ.

උපයන ධනය සමාජ යහපතට හේතුවන අයුරින් වැය කළ යුතු ආකාරය පත්තකම්ම සූත්‍රයේ දැක්වෙන පඤ්ච බලි තුළින් පෙන්වා දෙයි. එහි බලි යනුවෙන් දක්වා ඇත්තේ යුතුකම් ය. අථිති බලි ඉන් එකකි. එනම් ආගන්තුකයින්ට යුතුකම් ඉටු කිරීම සඳහා ද තමන් උපයන ධනයෙන් කොටසක් වැය කළ යුතු බවයි. ඔවුන්ට ආහාර පාන, ඉඳුම් හිටුම් ආදි මූලික පහසුකම් සැපයීමට එමගින් ඉගැන්වෙයි.

මේ සියලු සංග්‍රහ අපේ පැරැන්නන් විසින් සිදුකරනු ලැබුවේ මතුවට මොන යම් ආකාරයකින්වත් ලාභ ප්‍රයෝජන අපේක්ෂාවෙන් නොවේ. හුදෙක් අන්‍යයන්ගේ යහපත සලසා දීමේ උදාර අරමුණිනි. ඔවුහු කිසි විටෙකත් තම නිවසට පැමිණෙන අය කරදරයක් ලෙස නොසිතූහ.

## අග්‍රශෂ්‍ය දානය

දූරාතීතයේ පටන් ම ශ්‍රී ලාංකිකයින් විශාල පිරිසකගේ ප්‍රධාන ජීවනෝපාය වූයේ කෘෂිකර්මාන්තයයි. එය බුදුරදුන් විසින් ද අනුමත දැහැමි රැකියාවන්ගෙන් එකකි. කෘෂි කර්මාන්තයේ දී වගා කරන භෝග අතර වී ප්‍රධාන තැන ගනී. අපේ ජන සමාජය එය බුද්ධ භෝග ලෙස සලකයි. ඒ නිසා ම වී වගාව හා සම්බන්ධ ආගමික චාරිත්‍ර ද රැසක් පවතී. අග්‍රශෂ්‍ය දානය පිරිනැමීම එයින් එක් චාරිත්‍රයකි. මෙය අලුත් බත් දානය ලෙස ව්‍යවහාරයේ පවතී. කුමන නමකින් හැඳින්වුව ද එයින් අර්ථවත් කෙරෙන්නේ කුඹුරුවලින් අස්වනු ලබා ගැනීමෙන් අනතුරුව එහි පළමු කොටස ත්‍රිවිධ රත්නයට පූජා කිරීමයි.

මෙම දානය පිළියෙල කිරීමේදීත් පිළිගැන්වීමේදීත් විශේෂ සැලකිල්ලකින් එය සිදු කරනු ලැබේ. කුඹුරේ දී අස්වැන්න නෙළන විටත් කමතේ දී බැත

රාසි කරන විටත් ඒ හා සම්බන්ධ වන කිසි ම අයෙක් වී ඇටයක් පවා සැපීමක් නොකරති. එයට හේතුව අග්ගසස්ස දීමට මත්තෙන් එවැන්නක් කිරීම අයෝග්‍ය දෙයක් ලෙස සැලකීම ය. කෘෂිකාර්මික කටයුතු ආරම්භ කරන විට මෙන් ම අස්වනු නෙළාගත් විට ද ආගමික කටයුතු සිදු කෙරේ. පිරිසිදු සිතින් වැඩ කටයුතු අරඹා පිරිසිදු සිතින් ම අස්වනු පරිහරණය කිරීම එමගින් සිදුවේ. අග්‍රශෂ්‍ය දානය තමන් වෙහෙස මහන්සි වී ලබා ගත් අස්වැන්නෙන් පිංකම් කිරීමට යොමු වීමකි. එය පැරණි ගොවියන් සිරිතක් වශයෙන් ම ඉතා ගෞරවයෙන් හා සතුටින් ඉටු කළ බව පෙනේ.



පැරණි ගොවියෝ වී අස්වැන්නේ මුල් කොටස පමණක් නොව සෙසු භව භෝගවල මුල් කොටස ද විහාරස්ථානයට පූජා කිරීම සිරිතක් කරගෙන සිටියහ. ගෙවත්තේ හැදුණු කෙසෙල් කැනේ මුල් ඇවරිය, දොඩම් ගසේ මුල් වරට එල ගත් ගෙඩිය පිරිසිදු සිතින් පූජා කිරීමට ඔවුහු නිර්ලෝභී වූහ. එපමණක් නොව කුළුඳුල් පැටියකු බිහිකළ දෙනගෙන් දොවා ගත් කිරි ටික පවා පූජා කරනු ලැබුවේ ඇගේ තිරිසන් භවය නිම කරලීමේ පින් සිතුවිල්ලෙනි.

## භික්ෂු නායකත්වය පිළිගැනීම

බුදුරජාණන් වහන්සේ ඉදිරිපත් කළ ධර්මයෙහි පිහිටා එම ධර්ම මාර්ගය ජනතාවට කියාදෙන පූජනීය උතුමන් වන්නේ භික්ෂූන් වහන්සේලා ය. බුද්ධ උපදේශයට අනුව තමන් වහන්සේලාට ආමිස දානයෙන් සංග්‍රහ කරන ගිහියාට ධර්ම දානයෙන් සංග්‍රහ කිරීම භික්ෂූන් වහන්සේලාගේ ප්‍රධාන කාර්යභාරය විය. නමුත් උන් වහන්සේලා පසු කාලයේ ජනතාවට ධර්මය කියාදීමෙන් පමණක් නොනැවතුණහ. ගිහි ප්‍රජාවගේ මෙලොව ජීවිතය සරු කර ගැනීමට අදාළ බොහෝ කටයුතුවලට ද උන් වහන්සේලා සම්බන්ධ වූහ. ඒ අනුව භික්ෂූන් වහන්සේලා ආගමික, සාමාජික, දේශපාලනික යන සෑම ක්ෂේත්‍රයක ම නියමුවන් බවට පත් වූ බව ඉතිහාසයෙන් පැහැදිලි ය. භික්ෂූන් වහන්සේගේ අවවාද අනුශාසනා හිස් මුදුනින් පිළිගැනීමට පැල්පතේ වෙසෙන දිළින්දාගේ පටන් රජ මැදුරේ සිටින රජතුමා දක්වා වූ සියලු දෙනා ම සැදී පැහැදී සිටිය බව පෙනේ.

බුදු දහම මෙරටට ලැබීමෙන් පසු පාලකයන් එතෙක් තම උපදේශකයන් වූ බමුණන් වෙනුවට උගත් සිල්වත් භික්ෂූන් වහන්සේලා පත්කර ගත් බව පෙනේ. අනුබුදු මිහිඳු මහරහතන් වහන්සේගෙන් උපදෙස් ගැනීමට දේවානම්පියතිස්ස රජු ක්‍රියා කළ තැන් පටන් බෞද්ධ පාලකයන් සෑම කෙනෙකු ම පාහේ උපදෙස් ලබා ගත්තේත් භික්ෂූන් වහන්සේගෙනි. ලොකු කුඩා සියල්ලෝ ම භික්ෂු නායකත්වයට ගරු කළහ. භික්ෂූන් වහන්සේ සමාජයේ ගුරුවරයා බවට ද ප්‍රජා නායකයා බවට ද පත්වූහ.

උපතේ සිට මරණය දක්වා පුද්ගල ජීවිතය හා බැඳුණු වැදගත් අවස්ථාවල දී පන්සලේ හාමුදුරුවන්ගේ අවවාද අනුශාසනා හා ආශීර්වාදය බෞද්ධයෝ අපේක්ෂා කළහ. ඉපදීමට සිටින දරුවාගේ හා මවගේ ආරක්ෂාව සඳහා අංගුලිමාල පිරිත කියවා ගත්තේත්, ඉපදුණ දරුවාගේ වේලපත්කඩය සකස් කරගනු ලැබුවේත්, සුදුසු නමක් සකස් කරගත්තේත්, ඉඳුල් කටගෑම සිදු කරවා ගත්තේත් විහාරස්ථානයේ ස්වාමීන් වහන්සේගෙනි. දරුවාට අකුරු කියවීමට ද ආවාහ විවාහ කටයුතුවල දී ආශීර්වාද ලබා ගැනීමට ද ගියේ පන්සලට ය. තමනට ඇතිවන ඕනෑ ම ගැටලුවක් විසඳාගනු ලැබුවේ ස්වාමීන් වහන්සේලා මුණගැසී උපදෙස් ලබා ගැනීමෙනි. පවුල තුළ හෝ සමාජය තුළ ඇතිවන ගැටුම්, ආරවුල් සංසිඳවන ලද්දේ පන්සලේ හාමුදුරුවන් විසිනි. උන් වහන්සේ ඒවා විසඳුවේ සාධාරණ ව ය. ඒ නායකත්වයට ගැමියෝ හිස

නමා ගරු කළහ. රජවරුන් අතර ඇතිවූ අර්බුද පවා විසඳාලීමට භික්ෂූන් වහන්සේලා නායකත්වය ගත් අවස්ථා ගණනාවක් පිළිබඳ ව ඉතිහාසයේ දක්වේ. දුටුගැමුණු හා සද්ධාතිස්ස කුමරුන් අතර ඇති වූ ගැටුම නිරාකරණය කිරීම එයට එක් නිදසුනකි. ඇතැම් රජවරුන් විසින් අගවිනිසුරු තනතුරට පවා භික්ෂූන් වහන්සේ පත්කරගෙන ඇත. ගෝදත්ත තෙරුන් පිළිබඳ කතා පුවත එයට නිදසුනක් වේ.

විදේශීය වශයෙන් ඇති වූ ආක්‍රමණවල දී ද ඒවාට විසඳුම් සෙවීමට නායකත්වය ගෙන ක්‍රියා කළේ භික්ෂූන් වහන්සේලා ය. වාරියපොල සුමංගල හිමි, කුඩාපොල හිමි, මිගෙට්ටුවත්තේ ගුණානන්ද හිමි, හික්කඩුවේ සුමංගල හිමි, රත්මලානේ ධර්මාලෝක හිමි වැනි උතුම් ස්වාමීන්ද්‍රයන් වහන්සේලා අමරණීය බවට පත් වූයේ විවිධාකාරයෙන් ජාතියට නායකත්වය ලබාදීම නිසා ය.



## සාරාංශය

මෙරට සංස්කෘතිය දෙස් විදෙස් බොහෝ දෙනාගේ ඇගයීමට පාත්‍ර වූයේ බුදු දහමින් පෝෂිත සමාජ ධර්මවලින් එම සංස්කෘතිය හැඩ ගැන්වුණු බැවිනි. ආගන්තුක සත්කාරය, වැඩිහිටියන්ට සැලකීම, කළගුණ සැලකීම, අග්‍රශෂ්‍ය දානය දීම එම සංස්කෘතියේ සුවිශේෂී ලක්ෂණවලින් කිහිපයකි. භික්ෂූන් වහන්සේගේ නායකත්වය හා මගපෙන්වීම ද නිබඳ ව ඉතිහාසය පුරා දක්නට ලැබේ.



## ක්‍රියාකාරකම

1. වැඩිහිටියන් වෙනුවෙන් කළ යුතු යැයි අපේක්ෂා කරන යුතුකම් පහක් ලියන්න.
2. ආගන්තුකයින්ට සංග්‍රහ කිරීමේ දී ඔබ අනුගමනය කරන ක්‍රියාකාරකම් පෙළගස්වන්න.
3. අග්‍රශෂ්‍ය දානය යනු කුමක් ද යි හඳුන්වන්න.
4. භික්ෂූන් වහන්සේගේ නායකත්වය ප්‍රකට කෙරෙන අවස්ථා තුන බැගින් පහත සඳහන් වගුවේ දක්වන්න.

| ආගමික | සාමාජික | දේශපාලනික |
|---|---|---|
| 1 | | |
| 2 | | |
| 3 | | |



## පැවරුම

"කළගුණ සැලකීම දුර්ලභ ගුණයකි" යන මාතෘකාව පදනම් කරගෙන පුවත් පතකට ලියන ලිපියක් සකස් කරන්න.

# 14

# බුදු දහමෙන් ඇගයෙන සහජීවනය

ඒ මගේ ජීවිතයේ වඩාත් ම ප්‍රීතිමත් දිනයයි. මා වාගේ ම, මගේ අම්මාත් තාත්තාත් වඩාත් ම සතුටු වූ දිනය එදායි. එය අප විදුහලේ වාර්ෂික ත්‍යාග ප්‍රදානෝත්සවයයි. පන්තියේ කවුරුවත් හිතුවේ නෑ මට වටිනා තෑග්ගක් ලැබෙයි කියලා. මම ක්‍රීඩාවට දක්ෂත් නෑ. මට අනෙක් ළමයින් එක්ක දුවලා දිනන්නත් බැහැ. අනිකුත් ක්‍රීඩා ඉසවුවලට ඉදිරිපත් වෙලා දිනන්නත් බැහැ. මා ඉගෙනීමේ කටයුතුත් මහන්සිවෙලා කළාට මොක ද අනෙක් ළමයින් මට වඩා දක්ෂයි. මම කොච්චර මහන්සි ගත්තත් පළමුවෙනියා දෙවෙනියා තියා විසිපස් වෙනියාගෙන් ඉස්සරහට නම් යන්න බැරිවුණා. කොහොම වුණත් මම හැමදාම පාසල් යන එකනම් කඩ කළේ නැහැ. සෑම අවස්ථාවක ම අනෙක් යහළුවනුත් එක්ක සමගියෙන් කටයුතු කළා.



අපේ පාසල මිශ්‍ර පාසලක් නිසා ගැහැනු පිරිමි දෙපිරිස ම ඉගෙන ගන්නවා. ඒ වගේ ම මුස්ලිම් ළමයින් කිහිප දෙනෙකුත්, දමිළ ළමයින් කිහිප දෙනෙකුත් පන්තියේ ඉන්නවා. ක්‍රිස්තියානි, කතෝලික, ඉස්ලාම්, හින්දු හැම ආගමේ ම අය අපේ පන්තියේ ඉගෙන ගන්නවා. ඒ ඔක්කොම මගේ යාළුවෝ. සමහර දාට අපි කෑම කන්නෙත් එකට. පන්තියේ සමහර ළමයින් නොයෙක් වැරැදි වැඩ කරලා

ගුරුවරුන්ගෙන් බැණුම් අහපු අවස්ථා තිබුණා; දඬුවම් විඳපු අවස්ථාත් තිබුණා. ඒත් මම කවදාවත් එහෙම බැණුම් අහන, ගුටිකන වැඩ නම් කරලා නැහැ. මම පන්තියේ ළමයි එක්ක සමගියෙන් කටයුතු කළා. ඒ විතරක් නොවෙයි. අපේ පාසලේ තියෙන බුදු මැදුරට පූජා කරන්න මම හැම දා ම මල් රැගෙන යන්නත් අමතක කළේ නැහැ. අම්මට බුදුන් වඳින්න තාත්තා ගෙනත් දීල තියෙන හඳුන්කූරු පෙට්ටිවලින් සමහරදාට හඳුන්කූරුත් අරගෙන යනවා. එහෙම කරගෙන ඉන්න අතරේ තමයි මට පාසලේ හැසිරීමෙන් හොඳ ම ශිෂ්‍යයාට හිමි සම්මානය හිමි වුණේ. මම නම් කවදාවත් හිතුවේ නෑ මට එහෙම වාසනාවක් තිබෙයි කියලා. එදා මට ඒ සම්මානය දෙන්න කලින් අපේ පාසලේ අනුශාසක ස්වාමීන් වහන්සේ හොඳ දේශනයකුත් කළා. මට ඒ කතාව තාමත් ඇහෙනවා ඇහෙනවා වගේ.

පින්මඳ පුතුන් සියයක් ලදුවත් නිසරු
ගුණ නැණ බෙලෙන් යුතු පුතු ම ය ඉතා ගරු
එක පුන් සඳින් දුරුවෙයි ලොව ගණ අඳුරු
නෙක තරු රැසින් එලෙසට නොම වේ ය දුරු

"මේ කවිය මෙහි සිටින වැඩිහිටියන් මෙන් ම ළමයිනුත් බොහෝ විට අසා ඇති. පින්මඳ පුතුන් කීවා ම දූවරු හිතන්න පුළුවන් අපි ගැන සඳහනක් නැද්ද කියලා. මෙහි පුතුන් කියලා කියන්නේ දූවරු පුතාලා සියලු දෙනාටමයි. පින් අඩු දරුවන් කියන්නේ කවුද කියන එක දෙවැනි පදයෙන් හොඳට පැහැදිලි වෙනවා. අප සමාජයේ පින් තියෙන ඇත්තන් විදියට සිතන්නේ සල්ලි මිල මුදල් තියෙන අය ගැනයි. මෙහි පින් ඇති දරුවන් ලෙස සැලකෙන්නේ ගුණ නැණ තියෙන අයයි. ගුණ නුවණ නැති දරුවන් සියයක් ඉන්නවට වඩා ගුණවත්කමින් හා නැණවත්කමින් යුතු එක් දරුවෙක් වටිනා බව මෙයින් කියවෙනවා. මෙහි ලස්සන උපමාවකුත් පෙන්නල තියෙනවා. කොච්චර අහසේ තරු තිබුණත් අන්ධකාරය දුරුවෙන්නේ නැහැ. එහෙත් එක ම එක හඳ පෑව්වොත් ඇති. රටේම අන්ධකාරය දුරු වෙනවා. ඒ වගේ තමයි ගුණ නුවණින් යුතු එක දරුවෙක් හිටියොත් ඒක මවුපියන්ට පමණක් නොවෙයි රටට ම ආලෝකයක් වෙනවා.

"අද අපේ පාසලේ ත්‍යාග ප්‍රදානෝත්සවය. පන්ති කාමරයේ දී එක් එක් විෂයයන්ගෙන් දක්ෂතා දැක්වූ දරුවන්ට මෙන් ම ගීත ගායනයෙන්, වාදනයෙන්, නර්තනයෙන්, ක්‍රීඩාවෙන් දක්ෂතා දැක්වූ දරුවන්ටත් තෑගි

බෝග සමග සහතිකපත් හිමි වෙනවා. මේ අතර විශේෂ තෑග්ගක් තියෙනවා. ඒක දෙන්නේ ඔය මං ඉහතින් සඳහන් කරපු එක ම එක දෙයක් ගැනවත් සලකා නොවෙයි. ඒ තෑග්ග අපි නම් කරලා තියෙන්නේ වසරේ හොඳ ම ශිෂ්‍යයාට හෝ ශිෂ්‍යාවට දෙන තෑග්ග ලෙසයි. මෙහි ඇති විශේෂත්වය වන්නේ දක්ෂතම කෙනා මේ සඳහා නොතේරීමයි. බොහෝ තරගවල දක්ෂතම කෙනාට දෙන තෑගි අපි දැකලා තියෙනවා. ඒත් අපි මේ තෑග්ග දෙන්නේ දක්ෂයාට නොවේ; හොඳ ම කෙනාටයි. සමහර විට දක්ෂයා හොඳ ම කෙනා වෙන්නත් පුළුවන්, නොවෙන්නත් පුළුවන්. කොපමණ දක්ෂතා තිබුණත්, උගත්කම් තිබුණත්, ගුණවත්කම් නැත්නම් ඒ උගත්කමෙන් පලක් වෙන්නේ නැහැ. මේ දරුවා තේරීමේදී අවධානය යොමු කළ එක් අංශයක් තමයි සහජීවනය.

"කිසි යම් සමාජයක අන්‍යෝන්‍ය උපකාරය සහයෝගය ඇති ව, සමගියෙන් එක් ව ක්‍රියා කිරීම සහජීවනය ලෙස හඳුන්වන්න පුළුවන්. සමාජයේ ආගමික කටයුතුවල දී, ගොවිතැන් කටයුතුවල දී, මංගල අවමංගල කටයුතුවල දී මෙන් ම සමාජ සුභසාධන කටයුතුවල දී සහයෝගයෙන් කටයුතු කරනවා. කෙනෙකුගේ සැපතේ දී මෙන් ම විපතේ දී ද එක් ව ක්‍රියා කිරීම අපේ සිරිතක්. මෙත්තා, කරුණා, මුදිතා, උපේක්ඛා ආදී උතුම් ගුණාංගවලින් යුතු ව අන්‍යයන් ට උදව් කිරීම අපේ සම්ප්‍රදායයි. එහෙත් අද අපට පෙනෙන දෙයක් තමයි ලෝකයේ ම මිනිසුන් නොමිනිසුන් වෙලා ජාතිවාදී ව, ආගම්වාදී ව, කුලවාදී ව, නොයෙක් අරගල ඇති කර ගන්නවා. යුද්ධ කරගෙන එකිනෙකා මරාගන්නවා. මම හිතන්නේ මේකට හොඳ ම විසඳුම අප ළඟ තිබෙනවා. ඒ බුදු දහමයි. බුදු දහමෙහි උගන්වන මානව දයාවයි. කරුණාවයි. ඒ අනුව ගොඩනගා ගන්නා සහජීවනයයි.

"එදා බුදුරජාණන් වහන්සේ ලොව පහළ වන අවධිය වන විටත් භාරතීය සමාජයේ කුලය නිසා, ආගම නිසා මිනිසුන් බෙදී වෙන් වී සිටියා. බුදුරජාණන් වහන්සේ එම විරුද්ධවාදිකම් පිටු දකිමින් සමානාත්මතාවාදී ව ධර්මය දේශනා කළා. උන් වහන්සේ බොහෝ අවස්ථාවල අන්‍ය ආගමික ස්ථානවලටත් වැඩම කළා. ඔවුන් සුහදව ඇසුරු කළා. බෞද්ධයින් හැමදාමත් සිය ආගම ධර්මය අනුව අවිහිංසාවාදී ව ක්‍රියා කළා. ආගම වෙනුවෙන් කෙනෙකුට හිරිහැරයක් කළේ නැහැ. ලෝකයේ ආගම වෙනුවෙන් කළ යුද්ධ පිළිබඳ සිදුවීම් කොතෙකුත් අපට අහන්නට දකින්නට ලැබෙනවා. එහෙත් බුදු දහම වෙනුවෙන් කිසි දාක අපි යුද්ධ කරලා නැහැ කියලා සතුටින් කියන්න පුළුවන්.

"අද ලෝකයේ මිනිසුන් ආගමික වශයෙන් බෙදී සිටිනවා. ජාති වශයෙන් බෙදී සිටිනවා. රටවල් වශයෙන් බෙදී සිටිනවා. හැබැයි අපි ඔක්කොම මිනිසුන් බව අමතක වෙලා. උපතින් කිසි ම කෙනෙක් උසස් වෙන්නේ හෝ පහත් වෙන්නේ හෝ නැති බව බුදු හාමුදුරුවෝ අපට පැහැදිලි කළා. **ගංගා, යමුනා, අචිරවතී, සරභූ, මහී** යන පංච මහා ගංගාවලින් එන ජලය මහ සමුද්‍රයට වැටී එක ම ලුණු රසයක් වෙනවා සේ ම බුද්ධ සාසනය තුළ දී සියලු දෙනා ද එක ම පිරිසක් බවට පත්වෙන බව උන් වහන්සේ දේශනා කළා.

"සමහර උදවිය ජාතිය වෙනුවෙන්, ආගම වෙනුවෙන් කුලය වෙනුවෙන් විරසක වෙනවා. අපට අසනීපයක් සෑදුණාම දෙන බෙහෙත් සිංහල අයට දෙන බෙහෙත්, දෙමළ අයට දෙන බෙහෙත්, මුස්ලිම් අයට දෙන බෙහෙත් කියා වෙනසක් තිබෙනවා ද? නැහැ. ඔක්කෝට ම එක ම විදිහට ලෙඩ රෝග හැදෙනවා. ඒවාට එකම බෙහෙත් දෙනවා. හැම දෙනාට ම එක ම ආකාරයට බඩගිනි හැදෙනවා. පිපාසය හැදෙනවා. කෑමට ගන්නා දේවල්, බොන දේවල් වෙනස් වෙන්න පුළුවන්. හැබැයි මොනවා කෑවත්, මොනවා බීවත් අපේ ශරීරයේ තියෙන්නේ එක ම අවයව නොවෙයි ද? එක සමාන ලේ වර්ග නොවේ ද? කාට හරි අසනීපයක් සෑදුණාම සිංහල කෙනාගේ ලේ මුස්ලිම් අයට දෙනවා. මුස්ලිම් අයගේ ලේ දෙමළ අයට දෙනවා. දෙමළ කෙනාගේ ලේ සිංහල අයට දෙනවා. අපි කවුරුවත් අපේ ජාතියේ ලේ ඕනයි කියා හොයන්නේ නැහැ. එහෙම දෙන්නෙත් නෑ. ඒකෙනුත් පේනවා අපි ඔක්කොම මිනිසුන් කියා. අපි සියලු දෙනා සමානයි කියා.

"ඒ වගේ ම අපි අන්‍යයන්ගේ මත ඉවසීමට පුරුදු විය යුතුයි. තමාගේ දේ තමයි නිවැරැදි, අනිකාගේ දේ වැරැදියි කියා අවමන් නොකළ යුතුයි. අන්‍යයන්ගේ හොඳ දේ ඇතොත් අප ඒ දේ අගය කිරීම කළ යුතු ය. තමාට පිළිගත නොහැකි, එකඟවිය නොහැකි දෙයක් ඇත්නම් එය උපහාසයට ලක් නොකළ යුතුයි. සමහර ජාතීන්ට, ආගම්වලට අයත් විශේෂතා තියෙනවා. ඒවා සමහරවිට අපේ බෞද්ධ සංස්කෘතිය හා නොගැළපෙනවා විය හැකියි. එවැනි දේ ඉවසීමත් හොඳ මිනිස් ගතියක් බවයි. ශ්‍රී ලාංකේය බෞද්ධයා සලකන්නේ. ඉවසීමේ වැදගත්කම පිළිබඳ කවියක් ඔය දරුවන් අසා ඇති.

| | |
|---|---|
| ඉවසන දනා රුපු යුදයට ජය | කොඩිය |
| මහමෙර උසුලනා මිහි කතටත් | වැඩිය |
| ලොව සැම දෙනා ගෙන් ඔහු උතුමෙකි | වැඩිය |
| යළි ඒ සුදන සැප සේ සුර පුර | වැඩිය |

"අපි අද දින ප්‍රදානය කරන ත්‍යාගය සඳහා හැසිරීමෙන් හොඳ ම ශිෂ්‍යයා තෝරා ගත්තේ බොහෝ කරුණු පිළිබඳ ව අධ්‍යයනය කිරීමෙන් පසුවයි. ඔය දරුවො දන්නේ නැති වුණාට අපේ ගුරුවරු ඔය දරුවන්ගේ ක්‍රියා කලාප පිළිබඳ හොඳින් අධ්‍යයනය කළා. හැම දෙනා සමග සහයෝගයෙන් කටයුතු කරන, සමානාත්මතාව අගය කරන, ජාති, කුල, ආගම් නොසලකා වැඩ කරන, අනතිමානී, අවිහිංසාවාදී, ගුණගරුක දරුවා කවුද කියන එක පිළිබඳ අප විමසා බැලුවා. ඒ අනුව අප පාසලේ හොඳ ම ශිෂ්‍යයා හැටියට අපි තෝරාගෙන තිබෙන්නේ හත ශ්‍රේණියේ අධ්‍යාපනය ලබන සහන් ප්‍රසාද් පුතා. මම මතක් කරනවා ඒ පුතාගේ අම්මයි තාත්තයි දෙන්නත් එක්ක මේ සභාවේ ඉදිරියට එන්න කියලා."

නම කියනවා ඇහෙනකොට මට ඇතිවුණ සතුට කියාගන්න බැරි තරම්. ඊට පස්සේ අපේ අනුශාසක ස්වාමීන් වහන්සේ මොනවා දේශනා කළා ද කියලා මට මතකත් නැහැ. "අපේ අනෙක් දෙමාපියන්ටත් මේ දරුවා හොඳ ආදර්ශයක්. මේ දරුවා වගේ දරුවන් හදාගන්න අනෙක් අයත් වෙහෙස ගන්න ඕනෑ" යි කියා කියනවා ඇහුණා විතරයි මතක.



## සාරාංශය

මේ ලෝකයේ ජීවී අජීවී සැම දෙනාට ම අප ආදරය කළ යුතු ය. මුළු මහත් ප්‍රජාව ම එක ම මවකගේ දරුවන් ලෙස සිතා කටයුතු කිරීම කොතරම් අගනේ ද? ජාති, ආගම්, කුල වශයෙන් බෙදී කටයුතු නොකොට සියලු දෙනා එකාවන් ව සිතීමට බුදුරජාණන් වහන්සේ අපට උගන්වා ඇත. එසේ කටයුතු කිරීම අප සැම දෙනාගේ ම වගකීමකි.



## ක්‍රියාකාරකම

1. ලෝකයේ මිනිසුන් අතර භාෂාව, ශරීර වර්ණය, ආගම ආදී වෙනස්කම් ඇතත් සියලු දෙනා ම සමාන ය. මේ පිළිබඳ ඔබ කරන කතාවේ පිටපත ලියන්න.

2. "අපි සැම ලක් මැණියන්ගේ එක ම දරුවන් පිරිසක් වෙමු" මාතෘකාව යටතේ පද්‍යයක් නිර්මාණය කරන්න.



## පැවරුම

ආගමික හා ජාතික සමගිය ගැන රචනා වී ඇති පුවත්පත් වාර්තා හෝ පොත් පත්, සඟරාවල ඇති ලිපි හෝ සොයා එකතු කර පොතක් සාදන්න.




# සියල්ල කර්මයෙන් සිදු නොවේ

මිනිස්සු නිරතුරු ව ම ජීවිතය, ලෝකය හා සමාජය පිළිබඳ ව එක් පැත්තකින් පමණක් බලති; විමසති; අදහස් දක්වති; නොයෙක් පැතිවලින් නොබලති; නොවිමසති; කථා නොකරති. මෙය යම් ගැටලුවක් පිළිබඳ ව අසම්පූර්ණ අවබෝධයක් ඇති වීමට හේතු වේ. සත්‍ය දැකීමට බාධාවක් වේ. එම පිළිවෙත බුදු දහමෙහි හැඳින්වෙනුයේ **ඒකංගදස්සී** වීම යනුවෙනි. එය බුදු දහම ප්‍රිය නොකරයි; එය ගැටුම් ද උපදවයි. බුදුරජාණන් වහන්සේ ඒක හේතුවාදී නොවූහ, බහු හේතුවාදී වූහ. ඒකංගදස්සී නොවූහ. **අනේකංගදස්සී** වූහ. එනම් එක් පැත්තකින් පමණක් නොබලා ගැටලුව දෙස නොයෙක් පැතිවලින් බැලීමයි. නියාම ධර්ම පිළිබඳ බුද්ධ දේශනාව මීට එක් නිදසුනකි.

මෙලොව ජීවත් වන කාලය තුළ අපට සැප, සතුට මෙන් ම දුක් කරදර ද විඳීමට සිදු වෙයි; අප විවිධ රෝගාබාධවලට ද ගොදුරු වෙයි. බලාපොරොත්තු කඩවීම්වලට මුහුණ දීමට අපට සිදු වෙයි. පොදුවේ ගත් කල ලාභ-අලාභ, යස-අයස, නින්දා-ප්‍රශංසා, සැප-දුක යන අටලෝ දහමට ම මුහුණ දීමට අපට සිදුවෙයි. ඒ සියල්ල එක් හේතුවක් නිසා ම සිදු නොවන බව බුදු දහම උගන්වයි.

බුද්ධ කාලීන භාරතයේ විසූ ඇතැම් ආගමික ශාස්තෘවරුන් දේශනා කළේ සියල්ල සිදුවන්නේ ඊශ්වර නිර්මාණවාදය අනුව බවයි. එනම් සර්ව බලධාරී දෙවියකුගේ මැවීම අනුව බවයි. තවත් සමහර ශාස්තෘවරුන්ට අනුව සියල්ල සිදුවන්නේ පූර්ව කර්මයට අනුවයි. සමහර ශාස්තෘවරුන් විසින් උගන්වන ලද්දේ සියල්ල ඉබේ සිදුවන බවයි. ඔවුන් සියලු දෙනා ම හැඳින්විය හැක්කේ එක් පැත්තකින් පමණක් අදහස් දක්වන්නවුන් ලෙස ය. ඒකංගදස්සී චින්තකයන් ලෙස ය. එසේ නැත්නම් එක් හේතුවක් පමණක් දකින ඒක හේතුවාදීන් ලෙස ය.

බුදු දහමේ නියාම ධර්ම පිළිබඳ ඉගැන්වීමෙන් සියල්ල කර්මය නිසා ම සිදු නොවන බව පෙන්වා දී ඇත. බුදු දහමට අනුව ලාභ-අලාභ, යස-අයස, නින්දා-ප්‍රශංසා, සැප-දුක ලබා දෙන නියමයන් පහක් ඇත. ඒවා නියාම ධර්ම ලෙස හඳුන්වයි.

01. උතු නියාමය - කාලගුණික හේතු
02. බීජ නියාමය - උද්භිද විද්‍යාත්මක හේතු
03. කම්ම නියාමය - කර්මානුරූප හේතු
04. ධම්ම නියාමය - ලෝක ධර්මතා ආශ්‍රිත හේතු
05. චිත්ත නියාමය - සිතුවිලි මුල් කොටගත් හේතු

## උතු නියාමය

හේමන්ත, ගිම්හාන හා වස්සාන යනුවෙන් ඍතු තුනකි. මෙම ඍතු අනුව ලෝකයේ හා පුද්ගල ජීවිතයේ ඇතිවන වෙනස්කම් උතු නියාම නම් වේ. ගස් වැල්වල කොළ හැලීම, දලු දැමීම, මල් පිපීම, ගෙඩි හට ගැනීම ආදිය ද, මහ මුහුදෙහි වඩදිය බාදිය ඇතිවීම, ගං වතුර, නාය යාම්, සුළි සුළං, ගිනි කඳු පිපිරීම්, ලැව් ගිනි ද උතු නියාමයට අනුව සිදු වේ. මෙවැනි සිදුවීම් දෙවියන්ගේ බලපෑමෙන් හෝ පූර්ව කර්මයෙන් හෝ අහේතුක ව හෝ සිදු නොවන බවත් වෙනස් වන කාලගුණයට අනුව සිදුවන බවත් මෙහි දී සැලකේ. එසේ ම සත්ත්ව ජීවිතය හා බැඳුණු වෙනස්වීම් ද උතු නියාමය අනුව සිදු විය හැකි ය. නිදසුනක් වශයෙන් අධික සීතල ප්‍රදේශයකට ගිය විට යමකු ඒ හේතුවෙන් රෝගී වීම, උෂ්ණාධික ප්‍රදේශයකට ගිය විට අධික උෂ්ණය නිසා රෝගී වීම කර්මානුරූප ව හෝ වෙනත් හේතුවක් නිසා ම වන්නේ යැයි කිව නොහැකි ය. එසේ ම ගිම්හාන සමයෙහි මෙන් ම වස්සාන සමයෙහි හෝ හේමන්ත සමයෙහි විඳීමට සිදුවන සුව දුක් ද උතු නියාමය අනුව සිදු වේ. මල් කොළ ආදියේ වර්ණය වෙනස් වීම තුරු ලතාවල අස්වනු අඩු වැඩි වීම ආදිය ද කාලගුණය හෙවත් උතු නියාමය අනුව සිදු විය හැකි ය.

## බීජ නියාමය

බීජ නියාමය යනු උද්භිද ලෝකයෙහි වෙනස්කම්වලට තුඩු දෙන නියමයන් ය. බීජ ජාතීහු පස් ආකාර වෙති. මූල බීජ, ඛන්ද බීජ, අග්ග බීජ, ඵළු බීජ, බීජ බීජ යනුවෙනි. මුල්වලින් පැළ වන්නේ මූල බීජයි. කඳින් පැළ වන්නේ ඛන්ද බීජයි. දල්ලෙන් පැළ වන්නේ අග්ග බීජයි. පුරුක්වලින් පැළ වන්නේ ඵළු බීජයි. ඇටයෙන් පැළ වන්නේ බීජ බීජයි. මෙම ආකාර පහෙන් එකකින් තුරුලතාවෝ හට ගැනෙති. එය බීජ නියාමයයි. එසේ ම එකී තුරුලතාවන්ගේ ඇතිවෙන වෙනස්කම් ද මල් ගෙඩි ආදියෙහි දුගඳ හෝ සුගඳ, වර්ණය, රසය බීජ නියාමය අනුව ම සිදු වේ. ඒවායේ හැඩයට බලපාන්නේ ද එම නියාමයයි. උද්භිද විද්‍යාත්මක ව ඇතිවන ඉහත කී වෙනස්කම් දේව බලය අනුව හෝ කර්මය අනුව හෝ අහේතුක ව හෝ සිදු නොවන බවත් බීජ නියාමය අනුව ම සිදුවන බවත් බුදු දහම පෙන්වා දෙයි.

## ධම්ම නියාමය

ලෝකයේ ස්වභාව ධර්මය අනුව මෙන් ම ආශ්චර්ය, අද්භූත හේතු අනුව ද ඇති වන වෙනස්කම් ධම්ම නියාම නම් වේ. ස්වභාවයෙන් ම සිදුවන ඇති වීම, පැවැත්ම හා නැති වීම ද ධම්ම නියාමයයි. දරුවකු තරුණයකු වීම, තරුණයකු මැදිවියට එළඹීම, මැදිවියෙහි සිටින්නකු මහලු වීම ධම්ම නියාමයයි. එසේ මහලු වූ තැනැත්තාගේ කෙස් සුදු වීම, දත් වැටීම, හම රැලි වැටීම, ඉන්ද්‍රිය දුබල වීම, අවසානයේ මිය යාම ජීවිතයට අයත් ධර්මතාවෝ ය. ඒවා ද ධම්ම නියාමයට අයත් ය. හිරු සඳු අහසෙහි නැග ඒම හා බැස යාම, ජලය ඉහළින් පහළට ගලා යාම ආදිය ද ඊට ම අයත් ය.

ලොවට මහත් වැඩ සිදු කරන මහා පුරුෂයන් පහළ වීමේ දී, අභාවයට යාමේ දී සිදුවන අසිරිමත් සිදුවීම් ද ධම්ම නියාමයට අයත් ය. බෝසතුන්ගේ ඉපදීම, බුද්ධත්වය, දම්සක් දෙසුම, පරිනිර්වාණය වැනි අවස්ථාවල ධම්ම නියාමය අනුව බොහෝ අසිරිමත් සිදුවීම් සිදුවුණ බව සැලකේ. දිය ගොඩ දෙකේ ම අකාල පුෂ්ප හට ගැනීම, ලවණ සාගරය රසවත් වීම, නරකයෙහි ගිනි නිවී යාම, ජාත්‍යන්ධයන්ගේ ඇස් පෙනීම, සංගීත භාණ්ඩ ඉබේ වාදනය වීම ආදි අසිරිමත් සිදුවීම් ධම්ම නියාමයට අයත් බව පුරාණාචාර්යවරු පවසති.

## චිත්ත නියාමය

චිත්ත චෛතසිකයන්ගේ ක්‍රියාකාරීත්වය අනුව සිදුවන වෙනස්කම්, ලැබෙන සුව දුක් ආදිය චිත්ත නියාමයට අයත් ය. අකුසල පක්ෂයේ චිත්ත චෛතසික අනුව මෙන් ම කුසල පක්ෂයෙහි චිත්ත චෛතසික අනුව ද වෙනස්කම් ඇති විය හැකි ය. අතිශයින් ම දුක් සහිත වූ, කටුක වූ සිතුවිලි නිසා මිනිසුන්ගේ කයෙහි ද, හැසිරීමෙහි ද වෙනස්කම් ඇති විය හැකි ය. එසේ ම අතිශයින් සොම්නස් සහගත වූ සුවදායක සිතුවිලි නිසා ද එබඳු වෙනස්කම් ඇතිවිය හැකි ය. මෙකී චිත්ත නියාමය අනුව සිදුවන ක්‍රියාකාරකම් ඉතා සියුම් ය; විසිතුරු ය. චිත්ත නියාමය වටහා නොගත් සත්ත්වයෝ එයට පුද්ගලත්වයක් ආරෝපණය කරමින් මම ය, මාගේ ය යන දෘෂ්ටියට යොමු වෙති. මිනිසුන්ගේ සිත විසින් ලෝකය හසුරුවනු ලැබේ. සියල්ලෝ සිත නැමැති එක ම ධර්මතාවට, චිත්ත නියාමයට යටත් ව සිටිති. ඇස, කන ආදි ඉන්ද්‍රියයන් හා රූප, ශබ්ද ආදි අරමුණු ඉපදීමෙන් සිත ක්‍රියාත්මක වේ. චිත්ත පරම්පරා පහළ වේ. මේ සියල්ල ම චිත්ත නියාමයට අයත් ය.

## කම්ම නියාමය

කුසලාකුසල කර්ම අනුව ජීවිතයක සිදුවන වෙනස්කම්, ලැබෙන දුක් සැප ආදි ඵල විපාක කම්ම නියාමයට ඇතුළත් ය. කර්ම විපාක වශයෙන් ඇති වන වෙනස්කම් මින් අදහස් වේ. කර්ම රැස් කරන්නේ තිදොරින් ය. කර්මයක් සම්පූර්ණ වීමට චේතනාවක් ද සම්පූර්ණ විය යුතු ය. එසේ ම ඒ සඳහා කායික ක්‍රියා ද උපකාරී වේ. එබඳු කර්මවල ඵල විපාක ඇත. සිතාමතා කරනු ලබන ඵල විපාක සහිත ක්‍රියාව කර්ම ගණයට වැටේ. එකී කර්මානුරූප ව ඇති වන ප්‍රතිඵල හෙවත් වෙනස්කම් කම්ම නියාමය නම් වේ. කර්මය සත්ත්වයා උස් පහත් වශයෙන් බෙදයි. පර පණ නසන්නා අඩු වයසින් මිය යයි. එම පාප කර්මය නොකරන්නා දිගාසිරි ලබයි. මසුරු තැනැත්තා දිළින්දෙක් වේ. නොමසුරු තැනැත්තා පොහොසතෙක් වේ. සත්ත්වයන්ට හිංසා කරන්නා රෝගියෙක් වේ. එසේ නොකරන්නා නීරෝගී වේ. මේ ආකාරයෙන් කර්මානුරූප ව දුක් සැප ඇති කරමින් වෙනස්කම් සිදු වන්නේ කම්ම නියාමය අනුව ය. ප්‍රමාණයෙන් ජලය වැඩි බඳුනකට ලුණු කැටයක් දැමූ විට ලුණු රසය අඩු වේ. ජලය අඩු බඳුනකට ලුණු කැටයක් දැමූ විට රසය වැඩි වේ. එලෙසින් කුසල කර්ම බලවත් වන කල්හි දුර්වල වූ අකුසල කර්මවල

විපාක අවම වේ. අකුසල කර්ම බලවත් වූ විට කුඩා කුසල කර්ම යටපත් වේ. එසේ වන්නේ කම්ම නියාමය අනුව ය.

බුදුරජාණන් වහන්සේ රෝග හටගන්නා ක්‍රම අටක් පිළිබඳ ව ගිරිමානන්ද සූත්‍රයේ දී දේශනා කළහ.

01. පිත්ත සමුට්ඨානා ආබාධා - පිත කිපීමෙන් හට ගන්නා ආබාධ
02. සෙම්හ සමුට්ඨානා ආබාධා - සෙම කිපීමෙන් හට ගන්නා ආබාධ
03. වාත සමුට්ඨානා ආබාධා - වාතය කිපීමෙන් හට ගන්නා ආබාධ
04. සන්නිපාතිකා ආබාධා - අනුන්ගෙන් බෝවීමෙන් හට ගන්නා ආබාධ
05. උතුපරිනාමජා ආබාධා - ඍතු විපර්යාස නිසා හට ගන්නා ආබාධ
06. විසම පරිහාරජා ආබාධා - වැරැදි පුරුදු නිසා හට ගන්නා ආබාධ
07. ඕපක්කමිකා ආබාධා - විවිධ උපක්‍රම නිසා හට ගන්නා ආබාධ
08. කම්ම විපාකජා ආබාධා - කර්ම විපාක නිසා හට ගන්නා ආබාධ

සියලු රෝගාබාධ වැලඳෙන්නේ ද කර්මය නිසා ම නොවේ. ඉහත කී පරිදි ඊට බලපාන වෙනත් හේතු ගණනින් වැඩි ය. කර්මයේ බලපෑම අටෙන් එකක් පමණි.

මෙසේ සියල්ල කර්මයෙන් ම සිදු නොවේ. කර්මානුරූප රෝගාබාධ යැයි කිව හැක්කේ ඇතැම් රෝගාබාධයන්ට පමණි. කර්මානුරූප යැයි හැඳින්විය හැක්කේ ජීවිතය හා ලෝකය පිළිබඳ සමහර වෙනස් වීම් හා සැප දුක් පමණි. සියල්ල කර්මයෙන් සිදු වේ යැයි සැලකීම කර්ම නියතියට යටත් වීමකි. බුදු දහම කවර ආකාරයක හෝ නියත ධර්මතාවක් නොපිළිගනී. යහපත් අනාගතයක් ඇති නුවණැති බෞද්ධ දරුවන් වන අප ද කර්මය හා විපාකය පිළිගත යුතු ය. එහෙත් එය ම නියතියක් කොට ගෙන එයට ම යටත් වීම අපේ දියුණුවට බාධාවකි. එය බුදු දහමට ද පටහැනි ය. කර්මය වෙනස් කළ හැකි ය. එසේ ම එය ඉක්මවා යා හැකි ය. ඒ සඳහා අවශ්‍ය වන්නේ අධිෂ්ඨානය, වීර්යය හා කැපවීමයි; බුදුරදුන් වදාළ මග ඔස්සේ ගමන් කිරීමයි. එසේ කර්මය ඉක්මවා යාම කම්මක්ඛය නම් වේ. එයම සසරින් මිදීමයි; නිවනයි.



## සාරාංශය

- සියල්ල සිදු වන්නේ පෙර කරන ලද කර්ම විපාක අනුව ය යන ඉගැන්වීම බුදු දහම නොපිළිගනී.
- කර්මයට අමතර ව උතු නියාම, බීජ නියාම, කම්ම නියාම, ධම්ම නියාම, චිත්ත නියාම යන නියාම ධර්ම ලෝකයේ ක්‍රියාත්මක වේ.
- වීර්යවන්ත, මනා සිහි ඇති, නිවැරැදි ජීවන මගක යන පුද්ගලයාට කර්මයට ගැති නොවී ජීවිතය ජය ගත හැකි ය.



## ක්‍රියාකාරකම

1. නියාම ධර්ම ලියා ඒවායේ කෙටි අර්ථය සඳහන් කරන්න.
2. ඔබට කර්මය වෙනස් කළ හැකි ය. එසේ වෙනස් කිරීමට ඔබ විසින් වර්ධනය කර ගත යුතු ගුණධර්ම තුනක් නම් කරන්න.



## පැවරුම

විභාගයෙන් අසමත් වූ ඔබේ මිතුරා දුක් වූයේ "මෙය මාගේ කර්මය" යැයි කියා ය. එය නොපිළිගන්නා ඔබ ඔහු ධෛර්යවත් කිරීමට දිය හැකි උපදෙස් ලියන්න.




# චතුරාර්ය සත්‍යය

එක්තරා රෝගියෙක් වෛද්‍යවරයකු හමු වීමට ගියේ ය. වෛද්‍යවරයා මුලින් ම කළේ එම තැනැත්තාට ඇති රෝගය පිළිබඳ ව දැන ගැනීම ය. ඔහුට ඇති වේදනා, කැක්කුම්, අපහසුකම් දැන ගත් හෙතෙම රෝගය කුමක් දැ යි වටහා ගත්තේ ය. තව දුරටත් එම පුද්ගලයාගෙන් කරුණු විමසූ හෙතෙම රෝගය වැළඳීමට හේතු සොයා ගත්තේ ය. කවර කරුණු නිසා රෝගය වැළඳුණේ දැ යි වටහා ගත් හෙතෙම රෝග හේතු නැති කිරීමෙන් නීරෝගී බව උදා කරගත හැකි බව තේරුම් ගත්තේ ය. එම නීරෝගී භාවය ඇති කර ගැනීම සඳහා උපකාරී වන ප්‍රතිකාර මාර්ගය වෛද්‍යවරයා විසින් රෝගියාට පෙන්වා දෙන ලදි. බුදුරජාණන් වහන්සේ ද වෛද්‍යවරයකුට සමාන වන බව සඳහන් වේ. උන් වහන්සේ විසින් පළමු ව සියලු ලෝක සත්ත්වයාට වැළඳී ඇති සසර දුක නැමැති මූලික රෝගය පෙන්වා දෙන ලදි. එය අප විසින් වටහා ගත යුත්තකි. දෙවනු ව, උන් වහන්සේ එම රෝගය ඇති වීමට හේතු වූ කරුණු හෙවත් සසර දුක ඇති වීමට තුඩු දෙන හේතු පෙන්වා දුන්හ. එම හේතු අප විසින් නැති කළ යුතු ය. තුන්වනුව බුදුරදුන් වදාළේ රෝගියාට ඇති විසඳුමයි. එසේ නැති නම් සසර දුකට පත් ව සිටින සත්ත්වයාට ඇති විමුක්තියයි. එය අත්දැකිය යුතු ය. සිව්වනුව, උන් වහන්සේ එම විසඳුම සඳහා මග හෙළි කළහ. එනම් නිවන් මග පෙන්වා වදාළහ. ඒ මාර්ගය අප පුරුදු පුහුණු කළ යුතු ය.

මෙම ආර්ය සත්‍ය හතර හෙවත් චතුරාර්ය සත්‍යය දම්සක් පැවතුම් සූත්‍රයෙහි දැක්වේ.

1. දුක්ඛ ආර්ය සත්‍යය
2. දුක්ඛ සමුදය ආර්ය සත්‍යය
3. දුක්ඛ නිරෝධ ආර්ය සත්‍යය
4. දුක්ඛ නිරෝධ ගාමිණී පටිපදා ආර්ය සත්‍යය

දම්සක් පැවතුම් සූත්‍රය බුදුරජාණන් වහන්සේගේ පළමු ධර්ම දේශනාවයි. එහි ඇතුළත් චතුරාර්ය සත්‍යය යනු බුදු දහමෙහි ප්‍රධානතම ඉගැන්වීමයි. බුදුවරයකු ලොව පහළ වන්නේ චතුරාර්ය සත්‍යය දේශනා කිරීමට ය. එමගින් මිනිසා ඉදිරියේ ඇති ප්‍රධානතම ගැටලුව එනම් සසර දුක පෙන්වා දෙනු ලැබේ. එය හෙළිකොට අවබෝධ කර දීම උන් වහන්සේගේ අරමුණයි. එසේ ම, එම ගැටලුව නැවත ඇති නොවන පරිදි විසඳා ගැනීමට උපකාරී වන මාර්ගය හෙවත් දුකින් මිදීමේ මාර්ගය උන් වහන්සේ විසින් පෙන්වා දෙන ලදි.

## 1. දුක්ඛ ආර්ය සත්‍යය

කවර රටක, කුමන දේශයක, කවර කාලයක, කුමන අවධියක, කවර ජාතියකට අයත් ව කුමන ආගමක් අදහමින් ජීවත් වුව ද, සියලු සත්ත්වයින්ට උරුම ව ඇති මූලික ගැටලුව නම් සසර දුකයි. දම්සක් පැවතුම් සූත්‍රයෙහි විස්තර වන පරිදි ඉපදීම දුක ය. ඒ ඒ සත්ත්වයන්ගේ හට ගැනීම, බිහිවීම දුක් සහිත ය. එසේ සසර උපදින සත්ත්වයෝ ජරාවට පත් වෙති; දිරා යති; මහලු වෙති. එය ද දුක ය. එසේ ම විවිධාකාර වූ රෝග පීඩාවලට ලක් වෙති. එයින් දුක් විඳිති. එසේ ම සියලු සත්ත්වයෝ මරණයට පත් වෙති. ජීවත් වන කාලය තුළ අප්‍රිය අය සමග එක් ව විසීමට ද, ප්‍රියමනාප වූවන්ගෙන් වෙන් වීමට ද අපට සිදුවේ. අප කැමැති, සිතන පතන දේ සෑම විට ම අපට නොලැබේ. කෙටියෙන් කියතොත් උපන් සත්ත්වයාගේ ජීවිතය ම දුක් සහිත ය. කවර තැනැත්තකු වුව ද කැමැති සැප විඳීමටයි. එහෙත් උරුම වන්නේ දුක් - දොම්නස් පමණි. මෙය මිනිස් ජීවිතයේ යථාර්ථයයි. සියලු මිනිස් වර්ගයාගේ අත්දැකීමයි. බුදුරජාණන් වහන්සේ වදාළ පළමු ආර්ය සත්‍යය එයයි. මෙකී සසර දුක, ජාතිය, ආගම, දේශය හෝ කාලය අනුව වෙනස් වන්නේ නැත.



## 2. දුක්ඛ සමුදය ආර්ය සත්‍යය

දුක හට ගැනීම හෙවත් ඉහත කී සසර දුකට හේතුව මෙයින් පැහැදිලි කෙරෙයි. බුදු දහම අනුව ඕනෑ ම ඵලයක් ඇති වන්නේ කිසි යම් හේතුවක් නිසා ය. හේතුවක් නොමැති ව කිසිවක් හට නොගනී. දුක්ඛ සමුදය ආර්ය සත්‍යය පැහැදිලි කරනුයේ සසර දුකට හේතුව හෙවත් දුක හට ගන්නා ආකාරයයි. තෘෂ්ණාව ලෙස එය දක්වෙයි. සියලු සත්ත්වයෝ තම සිත් සතන්හි තෘෂ්ණාව ඇත්තෝ වෙති. ආශාව, කාමය, ලෝභය, රතිය, ප්‍රේමය නැති අයකු ලොව නැත. එම තෘෂ්ණාව නිසා ම දුක ඇති වේ. නිදසුනක් වශයෙන් අප ආශා කරන යමක් විනාශ වූ විට අපි දුක් වෙමු. ඒ අපගේ දෑස, දෙකන හෝ දෑත, දෙපය විය හැකි ය. එසේ නැතිනම් අප පරිහරණය කරන දෙයක් විය හැකි ය. බුදු දහම අනුව මතු උපත ඇති කරන්නේ ද මේ තෘෂ්ණාවයි. සතුට, ඇල්ම උපදවන්නේ ද තෘෂ්ණාවයි. ඒ ඒ තැන්වල ඒ ඒ දේවල්වලට අප සිත් තුළ ඇල්ම උපදවන්නේ තෘෂ්ණාවයි. දම්සක් පැවතුම් සූත්‍රයෙහි සඳහන් පරිදි තෘෂ්ණාව තුන් ආකාර වේ.

### කාම තණ්හා

ඇස, කන, දිව, නාසය, ශරීරය යන පංචේන්ද්‍රියන් පිනවීමට ඇති කැමැත්ත කාම තණ්හාවයි. ඇසින් ප්‍රිය ජනක රූප බැලීමට, කනින් එබඳු

ශබ්ද ඇසීමට, දිවෙන් එබඳු රස බැලීමට හා නාසයෙන් එබඳු සුවඳ විඳීමට හා, සිරුරෙන් එබඳු සුවපහස ලැබීමට සියල්ලෝ කැමැති වෙති. එය කාම තණ්හාවයි.

### භව තණ්හා

'භව' යනු 'වීම' යන තේරුම දෙන වචනයකි. මින් කියැවෙන්නේ සසර පැවැත්මට එක්වීමයි. එසේ නැවත නැවතත් සසර උපදිමින් භවයෙන් භවය ඉහත කී පස්කම් සැප විඳීමට සියල්ලෝ කැමැති වෙති. එය භව තණ්හාවයි.

### විභව තණ්හා

මරණින් මතු උපතක් නැතැ' යි ද සියල්ල මරණයෙන් කෙළවර වන්නේ යැයි ද සිතා මෙලොව හැකි තාක් පස්කම් සැප විඳීමට ආශා කිරීම විභව තණ්හාවයි.

## 3. දුක්ඛ නිරෝධ ආර්ය සත්‍යය

දුක්ඛ නිරෝධය යනු ඉහත සඳහන් කළ ජාති, ජරා, ව්‍යාධි මරණ ආදි සියලු දුක් නැති කිරීමයි. 'නිවන'යි. එය අපට උදා කර ගත හැකි අවසාන විමුක්තිය බව බුදු දහමේ දක්වේ. එය දුක්ඛ නිස්සරණයයි; දුකින් නිදහස් වීමයි, සසර කෙළවරයි; සසරින් නිදහස් වීමයි. ඒ සඳහා තණ්හාව නැති කළ යුතු ය. දම්සක් පැවතුම් සූත්‍රය අනුව දුකට මුල් වන තණ්හාව, මුළුමනින් ම නැති කිරීම, ඉතිරි නොකොට අවසන් කිරීම, දුක්ඛ නිරෝධ ආර්ය සත්‍යය නම් වේ. එය ම 'විරාගය' ලෙස දක්වා ඇත. රාගය යනු ඇලීමයි. විරාගය යනු නොඇලීමයි. එය ම චාග හෙවත් අත් හැරීම ලෙස ද දක්වෙයි. එය සැබෑ නිදහස ය. සියලු දුක්වලින් නිදහස් වීම ය, සියල්ලෙහි ඇල්මක්, ආලයක් නැති වීම ය. ගසක මුල දැඩි ව ශක්තිමත් ව තිබේ නම් මැදින් කපා දැමුව ද එය නැවත ලියලයි. අතු පතර විහිදෙයි. නැවත හට නොගැනීමට නම් එම ගසෙහි මුල උදුරා දැමිය යුතු ය. එසේ ම අපගේ සිත් සතන් තුළ තෘෂ්ණාව මුල් බැස තිබෙන තාක් කල් අපි සසර උපදිමු. ජරාවට හෙවත් දිරායාමට ගොදුරු වෙමු. ව්‍යාධියට හෙවත් ලෙඩරෝගවලට ලක් වෙමු. මරණයට හෙවත් දිවි කෙළවරට පත් වෙමු. එකී සියලු දුක් දොම්නස්වලට හේතුවන තණ්හාව නැති කිරීමෙන් සියලු දුකින් මිදීම දුක්ඛ නිරෝධ ආර්ය සත්‍යයෙන් ඉගැන්වේ. එනම් නිර්වාණයයි.

## 4. දුක්ඛ නිරෝධ ගාමිණී පටිපදා ආර්ය සත්‍යය

සසර දුකින් අත්මිදී නිවන් පසක් කර ගැනීම සඳහා අප ගමන් කළ යුතු මාර්ගය දුක්ඛ නිරෝධ ගාමිණී පටිපදාව නම් වේ. එය ම ආර්ය අෂ්ටාංගික මාර්ගය ලෙස ද මැදුම් පිළිවෙත ලෙස ද දක්වා තිබේ. අංග අටකින් යුක්ත වන නිවන් මග මෙහි දී උගන්වනු ලැබේ. එය අන්තගාමී පිළිවෙත් දෙකින් එකකට හෝ නොවැටෙයි. දම්සක් පැවතුම් සූත්‍රය අනුව, බුද්ධ කාලීන ව පිළිගත් පළමු වෙනි අන්තගාමී පිළිවෙත වූයේ **කාමසුඛල්ලිකානුයෝගයයි.** අසීමිත ලෙස, අධික ලෙස සැප විඳීම ඉන් අදහස් වේ. එම යෝගයෙහි නිරත වූවෝ උතුම් ලෝකෝත්තර සුවය ලබා ගැනීමට නම් මෙලොව වශයෙන් ලෞකික සුවය උපරිමයෙන් විඳගත යුතු යැයි කල්පනා කළහ. ඒ අනුව ඉඳුරන් පිනවීම, පස්කම් සැප විඳීම සිදුවිය. බුදුරජාණන් වහන්සේ වදාළ පරිදි එය පහත් ය; නොදියුණු ය; සාමාන්‍ය මිනිසුන් එයට කැමැති ය. එය උසස් පිළිවෙතක් ද නොවේ. එසේ ම අවැඩදායක ය. බෞද්ධ අප විසින් එම අන්තගාමී පිළිවෙත අනුගමනය නොකළ යුතු ය. දෙවෙනි අන්තගාමී මාර්ගය **අත්තකිලමථානුයෝගයයි.** එනම්, තමා විසින් තමාට ම අසීමිත ලෙස දුක් දීමයි. සිය කැමැත්තෙන් ම නොයෙකුත් දුෂ්කර ව්‍රත අනුගමනය කිරීමයි. තමා විසින් තමාව ම වෙහෙසට පීඩාවට පත් කර ගැනීමයි. එය දුක් සහිත ය, උසස් පිළිවෙතක් නොවේ, අවැඩදායක යැයි බුදු දහම පෙන්වා දෙයි. එම පිළිවෙත ද අනුගමනය නොකළ යුතු ය. මෙම අන්තවාදී ප්‍රතිපදා දෙකට ම නොවැටී බුදු දහමෙහි උගන්වන මධ්‍යම ප්‍රතිපදාව ආර්ය අෂ්ටාංගික මාර්ගයයි. නිවන් මගයි. එහි ඇතුළත් මාර්ගාංග මෙසේ කෙටියෙන් හඳුන්වාදිය හැකි ය.

### i. සම්මා දිට්ඨි

නිවැරැදි දැකීම හෙවත් යහපත් අවබෝධයයි. චතුරාර්ය සත්‍යය පිළිබඳ ඥානයයි.

### ii. සම්මා සංකප්ප

නෙක්ඛම්ම නම් වූ කම් සැපතින් නික්මීමේ කල්පනාව, අව්‍යාපාද එනම්, අනුන් නැසීමෙන් වැළකීමේ කල්පනාව, අවිහිංසා එනම්, අනුන්ට හිංසා නොකිරීමේ කල්පනාවයි.

## iii. සම්මා වාචා

නිවැරැදි යහපත් වචන භාවිතය හෙවත් වාචසික සීලයයි. එනම් බොරු කීම, කේලාම් කීම, රළු වචන කීම, හිස් වචන කීම යන වාචසික අකුසල්වලින් වැළකී සත්‍ය වූ, සමගිය ඇති කරන්නා වූ, ප්‍රියශීලී වූ, අර්ථවත් වූ වචන කතා කිරිමයි.

## iv. සම්මා කම්මන්ත

නිවැරැදි යහපත් ක්‍රියාවල නිරත වීම හෙවත් කායික සීලයයි. එනම්, ප්‍රාණඝාතය, අදත්තාදානය, කාමමිථ්‍යාචාරය යන කායික අකුසල්වලින් වැළකීමයි. සියලු සතුන්ට කරුණා මෛත්‍රී පෙරදැරි ව, දුන් දේ පමණක් ගනිමින් ශිෂ්ට සම්මත ලෙස කම්සුව විඳිමින් ජීවත් වීම සම්මා කම්මන්තයයි.

## v. සම්මා ආජීව

නිවැරැදි යහපත් දිවිපැවැත්මයි. එනම්, ධාර්මික ජීවනෝපායක නිරත වීමයි. අදැහැමි, අකුසල පක්ෂයෙහි වැටෙන පාපකාරී, ජීවනෝපාය අත්හැර දැහැමි ව උපයාගෙන ජීවත් වීමයි.

## vi. සම්මා වායාම

නිවැරැදි යහපත් උත්සාහයයි. එනම් උපන් අකුසල් ගෙවා දැමීමටත්, නූපන් අකුසල් නූපදවීමටත්, උපන් කුසල් වැඩිදියුණු කිරීමටත්, නූපන් කුසල් රැස් කිරීමටත් වෑයම් කිරීමයි; වීර්යය වැඩීමයි. නිවැරැදි ව්‍යායාමයයි.

## vii. සම්මා සති

නිවැරැදි යහපත් සිහියයි. එනම් කායානුපස්සනා නම් වූ කයෙහි ස්වභාවය ක්‍රියාකාරීත්වය පිළිබඳ මනා සිහිය, චිත්තානුපස්සනා නම් වූ සිතෙහි ස්වභාවය ක්‍රියාකාරීත්වය පිළිබඳ මනා සිහිය, වේදනානුපස්සනා නම් වූ සැප - දුක් විඳීම් ආදියෙහි මනා සිහිය, ධම්මානුපස්සනා නම් වූ ධර්ම හා ධර්ම ස්වභාවය පිළිබඳ මනා සිහිය පවත්වා ගැනීමයි.

## viii. සම්මා සමාධි

නිවැරැදි යහපත් සමාධිය හෙවත් මානසික එකඟකමයි. එනම් ප්‍රථම ධ්‍යානය, ද්විතීය ධ්‍යානය, තෘතීය ධ්‍යානය, චතුර්ථ ධ්‍යානය යන ලෞකික ධ්‍යාන උපදවා ගැනීම සම්මා සමාධියයි.

ඉහත කී ආර්ය අෂ්ටාංගික මාර්ගය ශික්ෂා වශයෙන් ත්‍රිවිධ ය. සරල හා පහසු ශික්ෂාවේ පටන් ගැඹුරු උතුම් ශික්ෂාව දක්වා අප යොමු කරමින් නිවන් සාදා දීම මෙහි අරමුණ වෙයි.

| | |
|---|---|
| සම්මා දිට්ඨි<br>සම්මා සංකප්ප | පඤ්ඤා |
| සම්මා වාචා<br>සම්මා කම්මන්ත<br>සම්මා ආජීව | සීල |
| සම්මා වායාම<br>සම්මා සති<br>සම්මා සමාධි | සමාධි |

බුදුරජාණන් වහන්සේ විසින් ප්‍රතිපදාමය වශයෙන් අනුගමනය කළ යුතු යැයි උගන්වා වදාළ සමස්ත ධර්මය ම ඉහත කී ත්‍රිවිධ ශික්ෂාවට ඇතුළත් ය. ශිෂ්‍යයන් වශයෙන් අප ද සිල්වත් විය යුතු ය. එනම් ශීල ශික්ෂාවට අයත් මාර්ගාංග පිළිපදිමින් කායික, වාචසික වශයෙන් චරිතවත් විය යුතු ය. එකී සීලයෙහි පිහිටා සිත හික්මවිය යුතු ය. එනම්, සමාධි ශික්ෂාවට අයත් මාර්ගාංග පිළිපැදිය යුතු ය. එසේ ම නිවැරැදි අවබෝධය හා සංකල්පනා ඇති කරන ප්‍රඥාව ලබා ගත යුතු ය. මෙම ආර්ය අෂ්ටාංගික මාර්ගය හෙවත් මධ්‍යම ප්‍රතිපදාව සැබැවින් ම ජීවන ප්‍රතිපදාවකි. එයින් ඉගැන්වෙන්නේ අප බෞද්ධයන් ලෙස ජීවත් විය යුතු පිළිවෙළ ය.

ජීවිතය හා ලෝකය පිළිබඳ නිවැරදි දැක්මක්, නිවැරදි ආකල්පයක් ලබා ගැනීම පුද්ගලයකුට මූලිකව ම අවශ්‍ය බව අවධාරණය කරමින් ආර්ය අෂ්ටාංගික මාර්ගයෙහි මුලින් ම ප්‍රඥාවට අයත් අංග දක්වා තිබේ.

චතුරාර්ය සත්‍යය, මේ ආකාරයෙන් නිවැරදි ව තේරුම් ගැනීම තුළින් ජීවිතයේ එදිනෙදා ඇතිවන කායික මානසික ගැටලු සඳහා විසඳුම් ලබා ගත හැකි ය. චතුරාර්ය සත්‍යය නොදැනීම නිසා සත්ත්වයා සසර සැරිසරයි. බුදුරජාණන් වහන්සේ මෙම තත්ත්වය පිළිබඳ ව දේශනා කරනුයේ, තමන් වහන්සේ බුද්ධත්වයට පත් වූයේ, එක් සත්‍යයක් පියවර තුනකින් හා ආකාර දොළසකින් යුතු ව සම්පූර්ණ වශයෙන් අවබෝධ කිරීමෙන් පසු ව බවයි. ඒ පිළිබඳ ව ඉහළ ශ්‍රේණිවල දී ඔබට ඉගෙන ගත හැකිවනු ඇත.

චතුරාර්ය සත්‍යය දේශනාවේ 'දුක' ද හේතුඵල ක්‍රමයට විග්‍රහ කර ඇත. ලොව කවර ගැටලුවක් වුව ද මෙම ක්‍රමයට විග්‍රහ කළ හැකි ය, විසඳිය හැකි ය.

1. ගැටලුව
2. ගැටලුවට හේතුව
3. විසඳුම
4. විසඳුම් මග

ප්‍රායෝගික ව ගැටලුවකට මුහුණ දීමේ දී,

- ගැටලුවේ ස්වභාවය තේරුම් ගැනීම
- ගැටලුව පැන නැගීමට හේතු වූ කරුණු වටහා ගැනීම
- එම හේතු ඉවත් වූ විට ගැටලුව විසඳෙන බව
- විධිමත් හා බුද්ධිමත් ක්‍රියා මාර්ගයක් තුළින් එම හේතු ඉවත් කර ගැනීමෙන් ගැටලුවෙන් නිදහස් වීම යන පියවර ක්‍රියාත්මක වීමෙන් අපේක්ෂිත ප්‍රතිඵල කරා ළඟා විය හැකි ය.

ඕනෑ ම ගැටලුවක් නිරාකරණය කර ගැනීමට අවශ්‍ය සිතිවිලි ක්‍රමය ගොඩනගා ගැනීමට හැකියාව අප විසින් ලබා ගත යුතු අතර චතුරාර්ය සත්‍යය පිළිබඳ ව ඉගෙනීමට ද මහත් සැලකිල්ලක් දැක්විය යුතු ය.



## සාරාංශය

චතුරාර්ය සත්‍යය, බුදු දහමෙහි මූලික ඉගැන්වීම වන බව, බුදුරජාණන් වහන්සේ තම ප්‍රථම ධර්ම දේශනාවේ දී එම ආර්ය සත්‍ය දේශනාව කළ බව, අප ප්‍රායෝගික ව මුහුණු දෙන ගැටලු හමුවේ එම ක්‍රමවේදය ඇසුරින් ගැටලු විසඳා ගත යුතු බව මෙම පාඩම තුළින් පැහැදිලි කර දෙනු ලැබේ.



## ක්‍රියාකාරකම

1. සිංහල තේරුම දෙවනුව දක්වමින් චතුරාර්ය සත්‍යය අනුපිළිවෙළින් ලියන්න.

2. චතුරාර්ය සත්‍යය ඉගෙන ගැනීමෙන් අපට ප්‍රයෝගික ජීවිතයේ දී ලැබෙන ප්‍රයෝජන මොනවාද?



## පැවරුම

ධම්මචක්කප්පවත්තන සූත්‍රය පිරිත් පොතින් උපුටා ගෙන පොත් පිංචක් ලෙස සකසන්න.




# වළකිමු වරදින් උපමා කොට තමන්

බුදුරජාණන් වහන්සේ එක් අවස්ථාවක භික්ෂූන් වහන්සේලා පිරිසක් ද සමග කෙසොල් ජනපදයේ චාරිකා කරන අතර එහි වේළුද්වාර නම් බමුණු ගමට ද වැඩම කළහ. වේළුද්වාර ග්‍රාමවාසී බ්‍රාහ්මණ ගෘහපතිවරු "ශාක්‍ය කුලයෙන් නික්ම පැවිදි වූ ගෞතම බුදුරජාණන් වහන්සේ ප්‍රමුඛ භික්ෂූන් වහන්සේලා අපේ ගමට වැඩම කර ඇතැ"යි යන පුවත ඇසූහ. එසේ ම බුදුරජාණන් වහන්සේ අරහත්, සම්මා සම්බුද්ධ යනාදී ගුණ නවයකින් සමන්විතයහ, යන කීර්තිරාවය ද ඔවුනතර පැතිර තිබිණි. තව ද උන් වහන්සේ මේ ලෝකයෙහි දත යුතු සියල්ල දැන සිටින බවත් ඒ සියල්ල මුල, මැද, අග මනාකොට දේශනා කරන බවත්, එබඳු ආර්ය උතුමන් වහන්සේලා දැකීම පවා යහපතක් වන බවත් වටහාගත් ඔවුහු බුදුරජාණන් වහන්සේ කරා පැමිණ එකත්පස් ව සිටියහ; පසු ව උන් වහන්සේට මෙසේ සැල කළහ.

> "ස්වාමීනි, අපි අඹු දරුවන් පෝෂණය කරමින් විවිධ බැඳීම් සහිත ව වාසය කරමු. සුවඳ සඳුන් ගල්වාගෙන සිටිමු. මල් ගඳ විලවුන් දරමු. රන් රිදී පැළඳගෙන වාසය කරමු. මෙසේ කාමභෝගී ජීවිත ගත කරන අපි මරණින් පසු සුගතියට පැමිණීමේ ප්‍රාර්ථනා ඇත්තෝ වෙමු. එබඳු අපට ඔබ වහන්සේ ධර්මය දේශනා කරන සේක්වා"

මෙයට පිළිතුරු දුන් බුදුරජාණන් වහන්සේ "ගෘහපතියෙනි, තමා කෙරෙහි විමසා බලා වටහා ගත යුතු අත්තූපනායික ධර්මය මම නුඹලාට දේශනා කරමි. එය මනා ලෙස අසා මෙනෙහි කරන්නැ"යි වදාළහ. මෙහි දී බුදුරජාණන් වහන්සේ දේශනා කළ කරුණු ඇතුළත් සූත්‍රය හැඳින්වෙන්නේ වේළුද්වාර සූත්‍රය නමිනි.

තමන් ආදර්ශයට ගෙන අනුන්ට හානියක් නොකිරීම හා යහපතක්ම සිදු කිරීම අර්ථවත් කරමින් මෙම වේළුද්වාර සූත්‍රයෙහි ත්‍රිකෝටි පාරිශුද්ධ කාය වාග් සමාචාරයක් උගන්වා තිබේ. එනම් පළමු කොට තමන් ගැන සිතා නොහොත් තමා උපමාවට ගෙන ඒ අනුව අනුන් කෙරෙහි පිළිපැදිය යුතු ධර්ම ක්‍රමයකි. මෙය **අත්තූපනායික ධර්මය** ලෙස හැඳින්වේ. පළමු ව ප්‍රාණඝාතයෙන් වැළකීමට අදාළ ව ත්‍රිකෝටික පාරිශුද්ධිය ඇති කරගත යුතු අයුරු විමසා බලමු.



1. තමන් මරනු ලබනවාට තමා අකැමැතිවාක් මෙන් අන් අය ද මැරෙන්නට අකැමැති බව සිතා එයින් වැළකීම.

2. අන්‍යයන් ද එයින් වැළැක්වීම.

3. ප්‍රාණඝාතයෙන් වැළකීමේ ගුණ වර්ණනා කිරීම.

මෙම පිළිවෙත් තුනෙන් යුක්ත වීම ප්‍රාණඝාතයෙන් වැළකීම සම්පූර්ණ වීම සඳහා අවශ්‍ය ය. වරදින් මිදීම සඳහා මෙම ක්‍රමය ඉතා වැදගත් බව වටහාගැන්ම අපට අපහසු නොවේ.

ප්‍රාණඝාතයෙන් වැළකීම සම්බන්ධයෙන් වූ මෙම අත්තූපනායික ධර්මය බුදුරදුන් වෙනත් අවස්ථාවල ද දේශනා කර ඇත. ධම්ම පදයේ එය සඳහන් වනුයේ මෙසේ ය.

**සබ්බේ තසන්ති දණ්ඩස්ස**
**සබ්බේසං ජීවිතං පියං**
**අත්තානං උපමං කත්වා**
**න හනෙය්‍ය න ඝාතයෙ**

සියල්ලෝ දඬුවමට බිය වෙති. සියල්ලන්ට ම ජීවිතය ප්‍රිය ය. මෙසේ අනුන් තමා මෙන් සලකා අනුන්ට හිංසා පීඩා නො කළ යුතු ය. අනුන් ඝාතනය නො කළ යුතු ය. ඝාතනය නොකරවිය යුතු ය.

## අදත්තාදානයෙන් හෙවත් නුදුන් දේ ගැනීමෙන් වැළකීම

අපට අයත් සුළු දෙයක් හෝ අන්‍යයකු සොරකම් කරනවාට හෝ බලෙන් ගන්නවාට අප කැමැති නැත. යමකු එසේ කළ හොත් අපට දුකක් වේදනාවක් ඇති වේ. සෙසු අයත් එසේ තම තමන් සතු දෑ පැහැර ගන්නවාට කැමැති නැත. අපට අප්‍රිය අමනාප දෙය අනුන්ටත් අප්‍රිය අමනාප වේ. එබැවින් අප,

1. සොරකමින් වැළකිය යුතු ය.

2. අන්‍යයන් ද එයින් වැළැක්විය යුතු ය.

3. සොරකමින් වැළකීමේ ගුණ වර්ණනා කළ යුතු ය.

## කාම මිථ්‍යාචාරයෙන් වැළකීම

ස්වකීය ස්වාමියා, බිරිඳ, පරස්ත්‍රීන්, පරපුරුෂයන් ඇසුරු කිරීම කෙරෙහි කිසිවෙක් කැමැති නොවේ. සෙස්සන් ද එසේ ම ය. එසේ කිරීම ලෝක සභ්‍යත්වයට හා බෞද්ධ ඉගැන්වීම්වලට සපුරා ම පටහැනි ය. එලෙස කල්පනා කොට,

1. වැරැදි කාම සේවනයෙන් වැළැකීම
2. අන්‍යයන් ද එයින් වළකාලීම
3. එමගින් සිදුවන භයානක ප්‍රතිඵල හා එයින් වැළකීමේ ආනිශංස අන්‍යයන්ට වටහා දීම

අත්තූපනායික ධර්මයට අයත් ය.

## බොරු කීමෙන් වැළකීම

බොරුවෙන් රවටනු ලැබීමට තමන් මෙන් ම අන්‍යයෝ ද කිසි සේත් රුචි නො කරති. එබැවින්,

1. බොරු කීමෙන් වැළකීම
2. අන්‍යයන් ද එයින් වළක්වාලීම
3. එහි අනුසස් පැවසීම

තුළින් වාග් සංවරය පිරිසිදු කරගත යුතු ය.

තමා උපමා කොට අනුන් ගැන ද සිතා,

- කේලාම් කීම
- නපුරු වචන කතා කිරීම
- නිශ්ඵල වචන (ඕපාදූප) කතා කිරීම යන තුන් ආකාර වූ වාග් විෂමාචාරය ගැන ද පෙර සේ ම ත්‍රිකෝටි පාරිශුද්ධිය ඇති කරගත යුතු ය.

කවුරුන් හෝ කේලාම් කියා හිතවතුන්, ගුරුවරුන් හෝ වැඩිහිටියන් අප කෙරෙහි බිඳවනු ලැබීමට අපි කිසිසේත් ම රුචි නො කරමු. අප හදවත් රිදවන රළු පරුෂ වචන කවුරුන් කීවත් අපි ඒවා ඇසීමට අප්‍රිය කරමු. දෙමවුපිය සහෝදර සහෝදරියන් සමග නිවසේ සතුටින් කල් ගෙවන අවස්ථාවක අසල්වැසියකු රළු පරුෂ වචන කතා කළහොත් එම ශබ්දය අපට

කෙතරම් අමිහිරි ද? අප ද එලෙස ක්‍රියා කළහොත් අන් අය ද අප සේ ම කෙතරම් අපහසුතාවට පත් වේ ද? එබැවින් අප කිසිදාක එසේ හැසිරීම නුසුදුසු බව අමුතුවෙන් කිව යුතු නොවේ. මනා හැදියාවෙන් යුත් අය,

1. නපුරු රළු පරුෂ වචන කතා නොකරති.
2. එසේ කතා කරන අය ද එයින් වළක්වා ගැනීමට උත්සාහ දරති.
3. සුභාෂිත වචන භාවිත කිරීමේ අනුසස් පවසති.

ඇතැම්හු කෙළවරක් නැති ව මෙලොවටත්, පරලොවටත්, තමාටත්, අනුන්ටත් පලක් නොමැති නිශ්ඵල වචන (ඕපාදූප) කතා කරති. එහෙත් ශිෂ්ට සම්පන්න වූවෝ කිසි දාක එසේ නො කරති; එලෙස ක්‍රියා කරන්නන් එයින් වළක්වාලීමට උත්සාහ දරති; එහි ආදීනවත් එයින් වැළකීමේ ආනිශංසත් වටහා දීමට තරම් කාරුණික වෙති.

මෙම අත්තූපනායික ධර්ම පර්යාය **අත්තාධිපති, ලෝකාධිපති** හා **ධම්මාධිපති** යන අධිපති ධර්ම අනුව ද උගන්වා තිබේ. මෙහි අධිපති යන්නෙන් දක්වනුයේ පාපයෙන්, පහත් ක්‍රියාවලින් වැළකීම සඳහා උපකාර කර ගන්නා ක්‍රම තුනකි. අත්තාධිපති ක්‍රමයේ දී තමා මුල්කරගෙන සිත සදාචාරයෙහි පිහිටුවීම සිදුවෙයි. භික්ෂූන් වහන්සේ නමක් "මා පැවිදි වූයේ චීවර, පිණ්ඩපාත, සේනාසන, ගිලාන ප්‍රත්‍යය ආදිය නිසා හෝ මතු භවයක සැප පතා හෝ නොව ජාති, ජරා, ව්‍යාධි, මරණ, සෝක, පරිදේව ආදියෙන් මිදීම පතා ම යැ"යි පාපයෙන් වැළකී කුසල් දහම් හි සිත එකග කරගෙන බ්‍රහ්ම චරියාවෙහි නිරත වීම සිදු කළ යුතු ය. එය **අත්තාධිපති** නම් වෙයි.

භික්ෂූන් වහන්සේ නමක් චීවර පිණ්ඩපාත යනාදී ප්‍රත්‍යයන් හෝ වෙනත් සැපතක් නොපතා විමුක්තිය ම අරමුණු කරගෙන පැවිදි ව වනගත ව බඹසර පුරන අතර "මා කාම සිතිවිලි, ද්වේෂ සිතිවිලි හෝ හිංසාකාරී සිතිවිලිවලින් යුක්ත වුවහොත් දිවැස්, දිවකන් ආදිය ඇති ශ්‍රමණ-බ්‍රාහ්මණ උතුමන්ට එය දැනෙන්නට ඉඩ ඇත. එසේ ම දෙවි දේවතාවන්ට වුව ද මාගේ සිතිවිලි දැනගත හැකි ය. එසේ වුවහොත් ඔවුන් මා හෙළා දකිනු ඇතැ" යි යනුවෙන් සිතා ආත්ම දමනය ඇතිකරගෙන ක්‍රියා කරයි නම් එය **ලෝකාධිපති** නම් වෙයි.

තව ද භික්ෂූන් වහන්සේ නමකට මෙසේ සිතීමට ඉඩ ඇත. "බුදුරදුන් වදාළ ධර්මය ස්වාක්ඛාත ගුණයෙන් යුත් ඉගැන්වීමකි. මා හා සමාන ව සිල් රකින සබ්‍රහ්මචාරීහු බොහෝ දෙනෙක් එහි හැසිරෙති. එබැවින් මා ද වීර්යය වඩා ගත සිත හික්මවාගෙන අකුසලින් දුරු ව කුසලයෙහි යෙදී විමුක්තිය ලද යුතු යැ" යි, සිතා ශාසනික බ්‍රහ්ම චරියාවෙහි හැසිරෙන්නේ නම් එය **ධම්මාධිපති** නම් වෙයි.

සරල ව ගත් විට මෙම ක්‍රියාව මා වැනියකුට සුදුසුද නුසුදුසු ද යි සිතා බැලීම අත්තාධිපති ක්‍රමයයි. මෙය ලෝක සම්මතයට, සමාජයේ යහපත් අදහස්වලට ගැළපේද නැද්දැයි සිතා බැලීම ලෝකාධිපති ක්‍රමයයි. ගිහි පැවිදි භේදයකින් තොරව අනුගමනය කළ හැකි මෙහි අත්තාධිපති ක්‍රමය අත්තූපනායික ධර්මය හා සැසඳෙන්නකි.

මෙම අත්තූපනායික ධර්ම පර්යාය කුඩා ළමයකුට වුව ද යම් කිසි වැරැදි ක්‍රියාවක බැරෑරුම්කම අවබෝධ කරදීමට ඉතා පහසු ධර්ම මාර්ගයකි. සමාජයේ ජීවත් වන ඕනෑ ම පුද්ගලයකුට තර්ක බුද්ධියෙන් තොර ව මනසට වැඩි වෙහෙසක් නොදී ඕනෑ ම ක්‍රියාවක හොඳ-නරක තෝරා බේරා ගැනීමට මහෝපකාරී වෙයි. එසේ ම සමාජයේ ඇතැමුන් අතර පවත්නා ආත්මාර්ථකාමී අදහස් තුරන්කොට පරානුකම්පාව වර්ධනය කිරීමටත් මෙමගින් කෙරෙන මග පෙන්වීම ඉතා ඉහළ ය.



## සාරාංශය

පළමු ව තමන් ගැන සිතා ඒ අනුව ම අනුන් ගැනත් සිතා අනුගමනය කළ යුතු ධර්ම ක්‍රමයක් වේළුද්වාර සූත්‍රයේ අත්තූපනායික ධර්ම පර්යාය තුළින් ඉගැන්වේ. එය ත්‍රිකෝටික පාරිශුද්ධ ක්‍රමයකට මෙහි ඉතා සරල ව විස්තර කෙරේ. යම් ක්‍රියාවක වැරැදි සහගත බව තමාට ම අවබෝධ කරගැන්මට මෙම ධර්ම ක්‍රමය අපට ඉතා පහසු මගක් සපයයි. එසේ ම ආත්මාර්ථකාමී හැඟීම් දුරුකොට පරාර්ථ චර්යාවෙහිලා කැපවීමට ද මෙමගින් මනා මග පෙන්වීමක් කරයි.

## ක්‍රියාකාරකම

1. අත්තූපනායික ධර්ම පර්යාය හඳුන්වා දෙමින් පුවත් පතක ළමා පිටුවට ලියන ලිපියක සාරාංශය වාක්‍ය කිහිපයකින් ඉදිරිපත් කරන්න.

2. අත්තූපනායික ධර්මය එදිනෙදා ජීවිතයේ දී භාවිත කළ හැකි අයුරු ලියා දක්වන්න.

3. අත්තාධිපති, ලෝකාධිපති, ධම්මාධිපති යන වචන තුනට කෙටි සටහන් ලියන්න.

## පැවරුම

ආජීව අෂ්ටමක සීලය හා වේළුද්වාර සූත්‍රයේ දැක්වෙන සීල ප්‍රතිපදාවේ වෙනස පෙන්වා දෙන්න.

18

# තැනට ගැළපෙන ලෙසින් හැසිරෙමු

බුදුරජාණන් වහන්සේ ධරමාන වූ අවදියෙහි දඹදිව සොළොස්මහ ජනපදවලින් එකක් වූ අඟු රට චම්පා නුවර සෝණ දණ්ඩ නම් ඉතා ධනවත් උගත් එසේ ම රූමත් වූ වයෝවෘද්ධ බ්‍රාහ්මණයෙක් විසුවේ ය. කොසොල් මහ රජතුමන් විසින් චම්පා නුවරින් ම පුදන ලද ඔහු ඉතා කීර්තිමත් අයෙක් විය. දිනෙක චම්පා නුවර ගග්ගරා නම් පොකුණු තෙරට බුදුරජාණන් වහන්සේ වැඩම කොට සිටින බව දැනගත් සෝණ දණ්ඩ බමුණු තෙමේ, උන් වහන්සේ තමා හමුවට ඒම නුසුදුසු බව ද තමා උන් වහන්සේ හමුවට යා යුතු බව ද පෙන්වා දෙමින් සිය පිරිස අමතා බුදුරදුන්ගේ චරිතයෙහි ප්‍රකට වන විශිෂ්ට ගුණාංග මාලාවක් ප්‍රකාශ කළේ ය. මේ සෝණ දණ්ඩ විසින් පවසන ලද එම ගුණාංග අතුරෙන් දෙකකි.

“ශ්‍රමණ භවත් ගෞතමයන් වහන්සේ වූ කලී යහපත් වදන් ඇත්තෝ ය. යහපත් වූ කථා බස් ඇත්තෝ ය. යහපත් මිහිරි වචන කියන්නෝ ය. උන් වහන්සේගේ කථාබහ දොස් රහිත ය. කෙළ තොලු බවින් තොර ය. අරුත් හෙළි කිරීමෙහි සමත් ය. මට සිලිටි ය.”

“ශ්‍රමණ භවත් ගෞතමයන් වහන්සේ තමන් වෙත පැමිණෙන්නවුන් ‘එන්න මෙහි පැමිණීම මැනවැ ’යි කියා පිළිගනිති. කනට සුවදෙන මිහිරි වචන පවසති. උන් වහන්සේ පිළිසඳර කථාවෙහි ද දක්ෂ ය. (නොසතුටින්) බැම නොහකුළුවති. සවිස්තර ව කථා කර යමකු තමා වෙත එනවිට පළමු ව කථා කරති.”

බුදු දහම අනුව අප අනුන් හා පවත්වන කථා බස් දුර්භාෂණ හා සුභාෂණ යනුවෙන් දෙයාකාර ය.

බොරු කීමෙන් වැළකීම, ඇත්ත කීම, ඇත්තෙන් ඇත්ත ගළපා කීම, තහවුරු කළ හැකි කථා බහ, පිළිගත හැකි වචන භාවිතය, අනුන් නොරැවටීම සුභාෂණයයි. කේලාම් කීම හැරදමා, ඉන් වැළකී, මෙතැනින් අසා එතැනද එතැනින් අසා මෙතැනද ඔවුනොවුන් බිඳුවීම පිණිස නොකියා එසේ භේද වූවන් සමගි කරන, සමගි වූවන්ට අනුබල දෙන සමගිය දැක සතුටු වෙමින් අනුන් සමගි කරන වචන කීම සුභාෂණයයි. රළු කතා හැරදමා ඉන් වැළකී, නිදොස්, කනට මිහිරි, ආදරය මතු කෙරෙන, සිත් ඇද ගන්නා සුළු බොහෝ දෙනාට ප්‍රිය මනාප වචන කීම සුභාෂණයයි. අරුත් සුන් හිස් වචන දෙඩවිලි හැරදමා තැනට සුදුසු සත්‍යවාදී අර්ථවත් වූ, යහපත ම සලසන, සිත් තබා ගැන්මට සුදුසු වූ කරුණු සහිත ඉමක් කොනක් ඇති කතාබහ සුභාෂණයයි. ප්‍රිය වචනයෙන් අන් අයට සංග්‍රහ කිරීමයි.

බුදුරජාණන් වහන්සේගේ ප්‍රියශීලී වූත්, අතිශය කාරුණික වූත්, ළගන්නා සුළු කතා බහ අපට ඇති උසස් ම ආදර්ශයයි. එසේ ම වචන භාවිතය පිළිබඳ ව උන් වහන්සේ දී ඇති උපදෙස් අපට ඇති උතුම්ම මග පෙන්වීමයි.

මානව සබඳතා මැනැවින් පවත්වාගෙන යාමට නම් අප මනා අවබෝධයෙන්, ප්‍රවේශමෙන් හා ස්ථානෝචිත ව වචන භාවිත කළ යුතු ය. අප කතා කරන වචනවල ඇතුළත් විය යුතු ප්‍රධාන අංග තුනක් ඇති බව මජ්ඣිම නිකායේ අභයරාජ සූත්‍රයේ එන කරුණු සාරාංශ කිරීමේ දී පෙනී යයි.

1. කතා කරන කරුණු සත්‍ය විය යුතු ය.
2. හේතු සාධක සහිත විය යුතු ය.
3. අසන්නාගේත්, කියන්නාගේත් යහපත පිණිස හේතු විය යුතු ය.

මෙම කරුණු තුනෙන් එකක් හෝ නොමැති නම් එම වචන කතා නොකළ යුතු ය. එබැවින් අප පාසල, පන්සල වැනි ස්ථානවල දී සේ ම නිවසේ දී ද හැසිරිය යුතු හා කතාබහ කළ යුතු ආකාරය පිළිබඳ මනා අවධානයක් යොමු කළ යුතු වේ.

විහාරස්ථානයක දී නම් ඔබ ඉතා සංවර ව හැසිරිය යුතු අතර වචන භාවිතය විහාරස්ථ පරිසරයට ද අපේ සංස්කෘතියට ද උචිත වන අයුරින් විය යුතු ය. ඇතැම් භාරතීය පැවිද්දන් හැඳින්වීම සඳහා භාවිත කළ "සාධු" යන වචනය භික්ෂූන් වහන්සේ නමක් ආමන්ත්‍රණය කිරීම සඳහා කිසි සේත් ම උචිත නොවේ.

ස්වාමීන් වහන්ස,
හාමුදුරුවනේ, අපේ හාමුදුරුවනේ,
හාමුදුරුවන් වහන්ස

යනා දී භාවිතයන් භික්ෂූන් වහන්සේ නමක් හැඳින්වීම සඳහා බෙහෙවින් ම යෝග්‍ය වේ. ස්වාමි යනු ලෝක ස්වාමී වූ බුදුරජාණන් වහන්සේ ය. උන් වහන්සේගේ දරුවෝ එනම් බුද්ධ පුත්‍රයෝ ස්වාමි දරුවෝ ය. එය අපේ වහර තුළ හාමුදුරුවෝ යනුවෙන් භාවිත වෙයි.

ඇතැම් අය පොඩි හාමුදුරුවන් වහන්සේලා හැඳින්වීමට "පොඩි සාදු" යන වචනය ද භාවිත කරති. එය ද සුදුසු භාවිතයක් නොවේ. එසේ ම වැඩිහිටි භික්ෂූන් වහන්සේ නමක්, සාමණේරයන් වහන්සේ නමකට ආමන්ත්‍රණය කරන "පොඩි උන්නාන්සේ" යන වචනය ද ගිහි අපගේ භාවිතයට සුදුසු නොවේ. "පොඩි හාමුදුරුවනේ, පොඩි ස්වාමීන් වහන්ස" යනාදී වචන ඒ සඳහා සුදුසු වේ. භික්ෂූන් වහන්සේ නමක් ආමන්ත්‍රණය කිරීමේ දී මෙන් ම උන් වහන්සේලා ගැන කතා බහ කිරීමේ දී ද සිංහල බෞද්ධ සංස්කෘතිය තුළ භාවිත වන විශේෂ ශාසනික ව්‍යවහාර ඇත.

| | | |
|---|---|---|
| සිටිනවා | - | වැඩ සිටිනවා |
| නිදා ගන්නවා | - | සැතපෙනවා |
| අතු ගානවා | - | අමදිනවා |
| අනුභව කරනවා | - | වළඳනවා |
| තේ බොනවා | - | ගිලන්පස වළඳනවා |
| ඇවිදිනවා | - | සක්මන් කරනවා |
| ඇඳුම් අඳිනවා | - | සිවුරු පොරවනවා |
| කියනවා | - | දේශනා කරනවා / වදාරනවා |

එසේ ම විහාරස්ථානයේ ඒ ඒ අංග නම් කිරීමේ දී චෛත්‍ය රාජයාණන් වහන්සේ, බෝධීන් වහන්සේ, විහාර මන්දිරය, මළුව යනාදී ශාසනික වචන භාවිත කළ යුතු ය.

බෞද්ධ දරුවන් වන අපට පාසල ද පන්සල මෙන් ම වැදගත් ස්ථානයකි. අපේ නුවණැස පාදන අධ්‍යාපන කේන්ද්‍රස්ථානය පාසලයි.

එබැවින් පන්ති කාමරයේ දී, පුස්තකාලයේ දී හා ක්‍රීඩා පිටියේ දී මිතුරන් මවුපියවරුන් සමග අප කතා බහ කිරීම හා හැසිරීම කළ යුත්තේ ද පාසලට යෝග්‍ය වන අයුරින් ය. ක්‍රීඩාවේ යෙදී සිටිය ද අප ක්‍රීඩා කරන්නේ පාසල් භූමියේ බව තරයේ සිතෙහි තබාගත යුතු ය. සිත් රිදවන, ප්‍රකෝප කරවන, වෛරය ඇති කරවන නොමනා විහිළු තහළු භාවිත නොකළ යුතු ය.

සෑම විටෙක ම සිය සහෝදර ශිෂ්‍ය ශිෂ්‍යාවන්ට ආශීර්වාද කිරීමේ දී "ආයුබෝවන්! තෙරුවන් සරණයි!" යනාදී වදන් භාවිතයට හුරුවීම ඉතා වැදගත් ය. කණට ප්‍රිය ය.



අප ජීවත් වන නිවස ද මානසික පීඩාවලින් තොර ඉතා ප්‍රියශීලී ස්ථානයක් විය යුතු ය. ඉගෙනීමේ කටයුතු පහසු මගකට යොමු කරවීමට නිවස ආශ්‍රිත පරිසරය ද බෙහෙවින් ම බලපායි. එබැවින් උදේ සවස තෙරුවන් නැමදීම, දෙමවුපියන්ට හා වැඩිහිටියන්ට වැඳීම, ඔවුන්ගේ බසට අවනත වීම, නිවස ඉතා පිළිවෙළකට හා පිරිසිදු ව තබා ගැනීම මැනැවින් සිදු කළ යුතු වෙයි. එවිට ආගන්තුක ව පැමිණෙන අයට පවා අපේ නිවස ප්‍රියමනාප ස්ථානයක් බවට පත්වනු ඇත. ඔවුන් සමග කාරුණික ව, ප්‍රියශීලී ව කතා බහ කිරීම ද අනිවාර්යයෙන් ම සිදුවිය යුත්තකි.

තම නිවසට පැමිණි
සැම දෙනහට ම කුලුණෙනි
කතා බස් කරමිනි
අසන් තොරතුරු සුදුසු විදියෙනි

යනුවෙන් සිරිත් මල්දමෙහි එන කවිය ද ඊට මගපෙන්වීමක් කරයි.

අන් අයගේ සිත් දිනාගත හැකි වන පරිදි ස්ථානෝචිත ව ප්‍රියමනාප ව හැසිරෙන හා කතාබස් කරන තැනැත්තා කිසි ලෙසකින් හෝ තවෙකකුගේ දෝෂ දර්ශනයට ලක් නොවේ. ඒ නිසා ම ජීවත් වන සමාජයෙහි මනා පුද්ගල සබඳතාවක් ගොඩනැගෙයි. කවර සමාජයක හෝ වැරැදි කරන පුද්ගලයෝ සිටිති. පුද්ගලයන්ගේ දුර්වලකම්වලට පොදුවේ දෝෂාරෝපණ එල්ල කිරීම ශාසනික වශයෙන් බලන කල බරපතල වැරැද්දකි. අවිචාරී ව කරන එබඳු විවේචන හා දෝෂාරෝපණ නිසා සිත් තැවුලට ගොදුරු වීමෙන් ගිහි-පැවිදි දෙපක්ෂය ම බලවත් අපහසුතාවලට පත්වන අවස්ථා අපමණ ය. මානව සබඳතා මනා ව තහවුරු වීමට නම් අනෙකකු විවේචනය කළ යුත්තේ එයින් ඔහුට යහපතක් කිරීමේ අරමුණින් පමණකි. ද්වේෂය හා මෝහය පදනම් කරගෙන සිදු කරන විවේචන දෝෂාරෝපණ ආදියෙන් යහපතක් නොව අයහපතක් ම සිදු වනු ඇත. යහපත් මානව සබඳතාවක් පවත්වාගෙන යාමට නම් පුද්ගල වරදත්, වරදට හේතුවත් කියාපාමින් ඒවා නිවැරැදි කරලීමට සුදුසු මාර්ගයක් පෙන්වා දිය යුතු වේ.

මිනිසාගේ ශ්‍රේෂ්ඨත්වය ක්‍රියාවට නැංවෙනුයේ යහපත් මානව සබඳතා පවත්වා ගනිමින් ලෝකයා සමග ක්‍රියා කිරීමෙන් පමණකි. බුදු දහම මානවයාට, සෙසු සත්ත්ව වර්ගයාට පමණක් නොව ගහකොළ, ගංගා, ඇළදොළවලට පවා දයාව, කරුණාව දක්වන ජීව අජීව හිතවාදී දහමකි. එබැවින් සියලු ජීවීන්ට ද පරිසරයට ද හිතකාමී ව ස්ථානෝචිත ව හැසිරෙමින් දෛනික ජීවිතය ඉතා ප්‍රියශීලී ව ගත කිරීමට අප උනන්දු විය යුතු ය.



## සාරාංශය

අප ජීවත් වන සමාජ පරිසරය තුළ සෑම දෙනකු සමග ම යහපත් මානව සබඳතා ගොඩනගා ගත යුතු ය. තමාත්, පොදුවේ ජන සමාජයත් නිවැරැදි මගට යොමු වීමට එය බෙහෙවින් ම බලපායි. ඒ අනුව කතා බස් කිරීම, හැසිරීම යනාදී සෑම ක්‍රියාවක දී ම ස්ථානෝචිත ව ප්‍රියශීලී පිළිවෙතක් අනුගමනය කළ යුතු ය. වෙසෙසින් පාසල, පන්සල, නිවස යන ස්ථානවල ප්‍රායෝගික ව ඊට ම ආවේණික හැසිරීම් හා කතා බස් රටාවක් අනුගමනය කළ යුතු වේ. සමාජයේ මනා පුද්ගල සබඳතාවකට මෙම පිළිවෙත බෙහෙවින් ම උපකාරී වෙයි.



## ක්‍රියාකාරකම

1. ඔබ එදිනෙදා භාවිත කරන මෙම වචන වෙනුවට ආගමික කටයුතුවල දී භාවිත කරන වචන සොයා ලියන්න.

    අත් සෝදනවා
    වතුර බොනවා
    වතුර නානවා
    කොණ්ඩෙ කපනවා

2. සහජීවනයේ අගය මතු කරමින් චිත්‍රයක් අඳින්න.



## පැවරුම

“යහපත් වචනය සමාජ සම්බන්ධතා තහවුරු කරයි” යන තේමාව යටතේ රචනයකට කරුණු රැස් කරන්න.




# මහින්දාගමනයෙන් අප ලත් දායාද

පොසොන් පුර පසළොස්වක පොහෝ දිනය ශ්‍රී ලාංකික බෞද්ධ ජනතාවට ඉතා වැදගත් වෙයි. සුදෝ සුදු වතින් සැරසුණු උවසු උවැසියන්ගෙන් හා බෞද්ධ වන්දනාකරුවන්ගෙන් අනුරාධපුර පූජා භූමිය පිරී ඉතිරී යයි. එක වර නැගෙන ‘සාධු’ නාදයෙන් සැදැහැති සිත් නිවී සැනසෙයි. බැලූ බැලූ තැන්හි දුර කතර ගෙවා විත් දහස් ගණන් ජනතාව වෙත ප්‍රණීත ආහාරපාන සපයන දන්සල් ය. මෙම බෞද්ධ ප්‍රබෝධයට ප්‍රධාන හේතු කාරකය වූයේ පොසොන් පුන් පොහෝ දින සිදු වූ අනුබුදු මිහිඳු මහ රහතන් වහන්සේගේ ලංකාගමනයයි.

බුදුරජාණන් වහන්සේ තෙවරක් ශ්‍රී ලංකාද්වීපයට වැඩම කර ඇති බව සඳහන් වුවත්, මහින්දාගමනයට පෙර කිසිදු ආගමක්, දිවයින තුළ ප්‍රචලිත ව නොපැවතිණ. එක් එක් සුළු කණ්ඩායම් අතර විවිධ ආගමික විශ්වාස පැවතිණි. මිහිඳු මහරහතන් වහන්සේ ඉට්ඨිය, උත්තිය, සම්බල, භද්දසාල මහ රහතන් වහන්සේලා ද, සුමන සාමණේරයන් වහන්සේ ද, භණ්ඩුක උපාසකතුමන් ද ප්‍රධාන කොට මිහින්තලා පව්වෙන් ලක්දිවට වැඩමවීමෙන් අපට ලැබුණු උතුම් ම දයාදය ත්‍රිවිධ රත්නයයි. ශ්‍රී ලාංකේය භික්ෂු-භික්ෂුණී පරපුරක් මෙන් ම අට්ඨකථා සහිත ත්‍රිපිටකයක් ද, සර්වඥ ධාතු ද අපට ලැබුණේ මහින්දාගමනය නිසා ය. බුදු දහම ස්ථාපිත වීමත් සමග ම ශ්‍රී ලාංකේය අනන්‍ය බෞද්ධ සංස්කෘතියක් ලක්දිව තුළ ආරම්භ විය. උපතේ සිට මරණය දක්වා යහපත් ආචාර ධර්ම පිළිපදිමින් දැහැමි දිවි පෙවෙතක් ගත කිරීමටත්, නිරතුරු ව ම ත්‍රිවිධ රත්නයේ ආශීර්වාදය තුළින් තම ජීවිත සාර්ථක කර ගැනීමටත් ශ්‍රී ලාංකික බෞද්ධ ජනතාව හුරු වූහ. විහාරස්ථානය කේන්ද්‍ර කරගත් බෞද්ධ සමාජය, ගමයි - පන්සලයි - වැවයි - දාගැබයි යන ආකෘතියට අනු ව නිර්මිත විය. ජනතාව දැහැමි ආර්ථික රටාව

ඇසුරු කරගෙන ජීවත් වන අතර ආධ්‍යාත්මික පෝෂණය විහාරස්ථානීය භික්ෂූන් වහන්සේලා ඇසුරෙන් ලබන්නට පුරුදු වූහ.

මෙම නව හැඩගැස්ම වඩාත් තහවුරු වීමට මහින්දාගමනයෙන් පසු උඳුවප් පුර පසළොස්වක පොහෝ දින සංඝමිත්තා තෙරණිය ජය ශ්‍රී මහා බෝධි දක්ෂිණ ශාඛාව රැගෙන, අටළොස් කුලයක ශිල්පීන් සමග වැඩම කිරීම ද හේතු විය. ලක්දිවට ම සුවිශේෂී වූ කලා ශිල්ප විකාශනයට එය ප්‍රබල ලෙස බලපෑවේ ය. බුදු දහමින් ලැබුණු අර්ථවත් බුද්ධි ගෝචර ජීවන ප්‍රතිපදාව ශ්‍රී ලාංකේය ජන සමාජයේ ජාතික, ආගමික, සංස්කෘතික ආදි ක්ෂේත්‍ර ගණනාවක පිබිදීමට හේතු විය.

විවිධ ඇදහිලි, විශ්වාස අනුගමනය කරමින් සිටි ජනතාවට බුදු දහමින් නව ආලෝකයක් ලැබිණි. මළවුන් ඇදහීමට පුරුදු වී සිටි ජනතාව ඒ වෙනුවට මළවුන් සිහි කර පින් දීමට පුරුදු වූයේත්, දෙවියන්ට පුද පූජා පැවැත්වීම වෙනුවට පින් අනුමෝදන් කිරීමට පුරුදු වූයේත් මහින්දාගමනයට පසු ව ය. ජනතාව පොදුවේ පිළිගත් දහමක් නොතිබුණු අවදියක බුදු දහම රජයේ ආගම බවට පත් විය.

සාමාන්‍ය ජන ජීවිතයේ පැවැත්ම බුදු දහම පදනම් කොට ගෙන ගොඩනැගීම නිසා නිවැරැදි අර්ථවත් දිවි පෙවෙතක් ජනතාවට හිමි විය. ඒ සඳහා බුදු දහමින් පෝෂිත චාරිත්‍ර වාරිත්‍ර හා සිතුම් පැතුම් ගොඩනැගිණි. සාමාන්‍ය ජන ජීවිතවලට සතර බ්‍රහ්ම විහරණ ද, රාජ්‍ය පාලකයින්ට දස රාජ ධර්ම, සතර සංග්‍රහ වස්තු වැනි බෞද්ධ ඉගැන්වීම් ද බොහෝ සේ උපකාරී විය. ඒ නිසා ම රටේ පාලකයා බෞද්ධයකු විය යුතු ය යන සම්මතය රට තුළ ගොඩ නැගිණි.

ගෘහ නිර්මාණ ශිල්පය, ත්‍රිවිධ චෛත්‍ය නිර්මාණ ඇසුරින් පෝෂණය විය.

- ශාරීරික චෛත්‍යය - වෙහෙර වහන්සේ මූලික කරගෙන ස්තූප අංග සහ චේතියඝර නිර්මාණ



*පොළොන්නරුව වටදාගෙය*

- පාරිභෝගික චෛත්‍යය - බෝධීන් වහන්සේ වටා ඉදි වූ බෝධිඝර නිර්මාණ



*සිතුල් පව්ව*

● උද්දේසික චෛත්‍යය - පිළිම වහන්සේ, පටිමාඝර ආදි ගෘහ නිර්මාණ



*ලංකාතිලකය*

ත්‍රිවිධ චෛත්‍ය මූලික කරගෙන විවිධ පුද පූජා ක්‍රම බිහිවිය.

උදා:- දළදා පූජාව
බෝධි පූජාව
බුදු පිළිම වන්දනාව

බෝධි පූජාව ක්‍රමයෙන් බෞද්ධයා අතර ඉතා ජනප්‍රියත්වයට පත් ව ඇත.

ප්‍රාකෘත පාලි බ්‍රාහ්මී අක්ෂර මිශ්‍ර අපට ම අවේණික වූ ලේඛන කලාවක් ගොඩ නැගීම සාහිත්‍යයේ වර්ධනයට හේතු විය. මාතලේ අලු විහාරයේ දී සිදුකළ සිව් වන සංගායනාවේ ප්‍රතිඵල ලෙස ත්‍රිපිටකය ග්‍රන්ථාරූඪ කිරීම ඉතා වැදගත් අවස්ථාවකි. හෙළ අටුවා සම්පාදනය ද සිදු විය. බුදු දහම ඇසුරින් පෝෂිත ගද්‍ය පද්‍ය සාහිත්‍යයක් බිහිවිය. බුත්සරණ, අමාවතුර, සද්ධර්ම රත්නාවලිය හා පන්සිය පනස් ජාතක පොත වැනි ගද්‍ය සාහිත්‍ය කෘතීන්

මෙන් ම සසදාවත, මුවදෙව්දාවත, කව්සිළුමිණ වැනි පද්‍ය සාහිත්‍ය කෘතීන් ද උදාහරණ ලෙස දැක්විය හැකි ය. එපමණක් ද නොව ජන කවි, ජන කතා පවා පෝෂණය වූයේ බුදු දහමේ ආභාසය ඇසුරෙනි.

ශ්‍රී මහා බෝධීන් වහන්සේ වැඩම වීමේ දී පැමිණි අටළොස් කුලයක ශිල්පීන් නිසා මෙරට කැටයම්, මූර්ති, චිත්‍ර, ගෘහ නිර්මාණ ශිල්පය, වාරි කර්මාන්තය ආදි විවිධ ක්ෂේත්‍රවල ශිල්පීය ඥානය වර්ධනය විය.

රළු - දැඩි කළු ගලින් දයා කරුණා භරිත බුද්ධ ප්‍රතිමා මෙන් ම සියුම් කැටයම් සහිත සඳකඩපහණ නිර්මාණ ද බිහි විය. එවැනි ශිල්පීය දක්ෂතා එළි දැක්වීමේ දී නිරන්තරයෙන් පුද්ගල මානසික ශික්ෂණය ද ප්‍රකට විය. බෞද්ධ ඉගැන්වීම්වලට එකඟ ව සෞන්දර්ය රස විඳීමට ශ්‍රී ලාංකික ජනතාව හුරු විය.

වෙසක්, පොසොන්, ඇසළ උත්සව හා කඨින, වප් මගුල් උත්සව ආදි විවිධ අවස්ථා පාදක කරගෙන උත්සව සංස්කෘතියක් ඇති විය. ප්‍රධාන ජීවනෝපාය වූ කෘෂිකාර්මික කටයුතුවල දී බෞද්ධ චාරිත්‍ර වාරිත්‍ර අනුගමනය කරන ලදි. බෞද්ධ ආභාසය ඇසුරින් පුද්ගල නාම පවා භාවිත කර ඇති බව බුද්ධදාස, බෝධිරත්න, සංඝදාස වැනි නම් භාවිත කිරීමෙන් පැහැදිලි වේ.

දාන, සීල, භාවනා, පිරිත් පිංකම් ආදියෙන් මෙන් ම පෙරහැර, වන්දනා ගමන් ආදිය මගින් ද ධාර්මික සුවය ලබන්නට බෞද්ධ ජනතාව පෙළඹුණි. ගමේ විහාරස්ථානය ආගමික, අධ්‍යාපනික හා සංස්කෘතික මධ්‍යස්ථානයක් ලෙස විවිධ සේවා ඉටු කරයි. මහින්දාගමනයෙන් ලද දයාද වන ත්‍රිවිධ රත්නය සැදැහැබර වූ ගෞරවයෙන් ආරක්ෂා කර ගැනීම අප සතු වගකීමකි. බුදුරජාණන් වහන්සේ වෙනුවට වන්දනා කිරීම සඳහා පිහිටුවාගෙන ඇති ත්‍රිවිධ චෛත්‍යය අප රැක ගත යුතු ය. එම චෛත්‍යය සැදැහැ සිතින් වන්දනා කළ යුතු ය. ධර්ම රත්නය ආරක්ෂා කිරීම යනු දහම් පොත පත ලිවීම, කියවීම, බණ ඇසීම, බණ දේශනා කරවීම හා බුදු දහමට අනුව ම ජීවත් වීමයි. ත්‍රිවිධ චෛත්‍යත්, දහම් පොත පතත් ආරක්ෂා කර ගනිමින් ජනතාවට බුදු බණ දේශනා කරන අපට යහමග පෙන්වන මහ සඟරුවනට ගරු කිරීම, අපහාස නොකිරීම, සිව්පසය පිරිනැමීම, උන් වහන්සේලාගෙන් ලැබෙන අනුශාසනා පිළිගැනීම, මහ සඟරුවන රැක ගැනීමයි. පැවිදි වී සංඝ සමාජයේ සාමාජිකයකු විය හැකි නම් එය බෙහෙවින් වැදගත් වෙයි.

බෞද්ධ සිරිත් විරිත් බැහැර නොකර අපේ අනන්‍යතාව රැක ගැනීම කළ යුත්තේ ද අප විසින් ම ය. අවමංගල අවස්ථාවන්හි පමණක් නොව මංගලෝත්සවාදියේ දී ද බෞද්ධ සංස්කෘතියට පටහැනි දේ නොකිරීමට අප වග බලා ගත යුතු ය. අපට නියමිත බුද්ධ ධර්ම පාඨ ග්‍රන්ථ නිසි පරිදි හැදෑරීම ද දහම රැක ගැනීමට ගත හැකි පියවරකි.

බෞද්ධ චිත්‍ර ඇඳීමෙන්, බෞද්ධ ගීත නිර්මාණය කිරීමෙන් හා ගායනයෙන්, බෞද්ධ ලිපි ලිවීමෙන්, බෞද්ධ පෙරහර හා උත්සව පැවැත්වීමෙන් ද මහින්දාගමනයේ දායාද රැක ගැනීමට අපට දායක විය හැකි ය.



## සාරාංශය

මහින්දාගමනයෙන් පසු ලක්දිව නව බෞද්ධ පුනර්ජීවයක ආරම්භය සිදු විය. අනුබුදු මිහිඳු මහ රහතන් වහන්සේ සහ සංඝමිත්තා තෙරණියගේ ආගමනයත් සමග ලක්දිව භික්ෂු - භික්ෂුණී පැවිද්ද ආරම්භ විය. ශ්‍රී ලාංකිකයන්ට ම උරුම වූ හෙළ කලා කෘති මෙන් ම චාරිත්‍ර - වාරිත්‍ර, පුද පූජා, පෙරහැර, උත්සව ද, ලක්දිව පුරා බිහි වී ඇති මූර්ති, කැටයම් හා සිතුවම් තුළින් ද ලාංකික කලා කුසලතාවන් ප්‍රකට කරයි.

**ජාතික මෙන් ම ආගමික වශයෙන් වැදගත් මෙම බෞද්ධ සංස්කෘතිකාංග රැක ගැනීම අපගේ පරම යුතුකමයි.**



## ක්‍රියාකාරකම

1. මහින්දාගමනයෙන් අප ලත් දායාද පහක් නම් කරන්න.

2. අතීත උරුම ආරක්ෂා කිරීමට අප කළ යුතු වන්නේ මොනවා දැ යි ලියන්න.



## පැවරුම

'හෙළ කලා කෘති' නමින් අනුරාධපුර, පොළොන්නරුව, මහනුවර යුගවල ගෘහ නිර්මාණ සහ සිතුවම් කලා නිර්මාණ එකතුවක් පිළියෙල කරන්න.

20

# ධන පරිහරණයට අදාළ බොදු මග

මේ ගසේ බොහෝ පැණි දොඩම් තිබේ
පැහිල ඉදිල බිමට නැමිල බරවෙලා අතු
නංගිටයි මටයි ගෙඩි දෙකක් ඇති
වැඩිය කඩන නරක ළමයි හෙම නොවේ අපි

මේ කුඩා කවිය අප කොතෙකුත් අසා ඇත. මෙම කවියෙන් ලබා දෙන අරුත ඉතා ම පරිපූර්ණ ය. දොඩම් ගසේ අතු බරවෙන තරමට ම පැසුණු දොඩම් බොහෝ ඇත. නමුත් මෙම දරුවා ගසෙන් ඉල්ලන්නේ නංගීටත් තමාටත් ගෙඩි දෙකක් පමණි. සම්පත් පරිහරණය, අරපිරිමැස්ම, සම්පත් සුරක්ෂිතතාව හා කළමනාකාරිත්වය ගැන කදිම උපදේශයක් මෙයින් ලබා ගත හැකි ය. සම්පත් පරිහරණය හා නඩත්තුව ගැන විශේෂ සැලකිල්ලක් දැක්වූ මෙරට ගැමි බෞද්ධයෝ සිදුරු වූ කළය, කුල්ල පවා පිළියම් කොට භාවිතයට ගත්තෝ ය. භව භෝග සම්පත් අරපිරිමැස්මෙන් භාවිතයට ගත්හ; සෑම ආහාර වේලක දී ම සහල් මිටක් වෙන්කර එය අසරණ අයෙකුට පිනට දුන්හ. ගස් යට වැටුණු කොස් ඇටය පවා එකතු කර විවිධ ක්‍රම භාවිත කොට කල් තබා ගත්තේ පසු ව පරිහරණයට ගැනීමේ අපේක්ෂාවෙනි. මේ ආකාරයට සම්පත්වලින් උපරිම ප්‍රයෝජන ගැනීමට බෞද්ධ ඉගැන්වීම් හා භික්ෂු සමාජයේ ආදර්ශය ඔවුන් ව පොළඹවා තිබේ. ආනන්ද හිමියන් සහ උදේනි රජතුමා අතර චීවර පරිහරණය හා සම්බන්ධ ව ඉදිරිපත් වූ කතා පුවත එයට එක් නිදසුනක් වෙයි.

වරක් ආනන්ද තෙරණුවෝ භික්ෂූන් වහන්සේ පන්සීයක් සමග ඡන්න තෙරුන් මුණ ගැසීමට වැඩම කොට උදේනි රජතුමාගේ උද්‍යානයේ වැඩ සිටියහ.

මේ ගැන දැන ගත් උදේනි රජුගේ බිසෝවරු රජුගෙන් අවසර ලබාගෙන එහි ගොස් බණ අසා පැහැදී එකිනෙකා සළුව බැගින් උන් වහන්සේට පූජා කළහ. දහම් අසා ආපසු එන බිසෝවරුන්ගෙන් තොරතුරු විමසූ රජතුමා ධර්මය දේශනා කළ ආනන්ද හිමියනට දහම් පඬුරු වශයෙන් කුමක් පූජා කළේ දැ යි ඇසී ය.

එවිට ඔවුන් කියා සිටියේ එක් සළුව බැගින් සළු පන්සියයක් පූජා කළ බවයි. ආනන්ද හිමියන්ට සළු පන්සීයක් කුමකට දැ යි ප්‍රශ්න කළ රජු එම සළුවලින් කුමන ප්‍රයෝජන ගන්නේ දැ යි උන් වහන්සේ වෙත ගොස් විමසා සිටියේ ය. එහි දී රජු ඇමතූ අනඳ තෙරණුවෝ මෙසේ පැවසූහ. "දිරා ගිය සිවුරු ඇති භික්ෂූන් වහන්සේලාට සිවුරු සකසා ගැනීමට මේ සළු බෙදා දෙනු ලැබේ. එම භික්ෂූහු තමන් පරිහරණය කළ සිවුරු එයට වඩා දිරා ගිය සිවුරු ඇති භික්ෂූන් වහන්සේලාට පිරිනමති. තව දුරටත් සිවුරු වශයෙන් පරිහරණය කිරීමට අපහසු ඒවායින් ඇතිරිලි තනා ගනිති. ඇතිරිලිවලට ගත නොහැකි සිවුරු කොට්ට උර තනා ගැන්මට යොදා ගනිති. එසේත් ප්‍රයෝජනයට ගත නොහැකි සිවුරු බිම පාපිස්නා සඳහා යොදා ගනිති. පාපිසි සඳහා යොදා ගත නොහැකි සිවුරු කැබලි තෙමා බිම පිරිසිදු කිරීමට යොදා ගන්නා අතර එබඳු ප්‍රයෝජනයකටවත් ගත නොහැකි සිවුරු කැබලි මැටි සමග කළවම් කොට බිත්ති සකස් කර ගැනීමට යොදා ගනිති."



ආනන්ද හිමියන් ලබා දුන් මෙම පිළිතුරෙන් භික්ෂූන් වහන්සේලා සම්පත් පරිහරණය කිරීමේ දී දක්වන අරපිරිමැස්ම ගැන පැහැදුණු උදේනි රජතුමා තවත් සළු පන්සීයක් පූජා කළ බව සඳහන් වේ.

මෙම කතා පුවත අද දවසේ ජීවත් වන අපට බොහෝ ආදර්ශ ලබා දේ. අද බොහෝ දෙනා තමා අඳින ඇඳුමෙහි සුළු හෝ පළුදු වීමක් සිදුවුවහොත් එය මසා නැවත ඇඳීමට යොමු නොවෙති; තව කලක් ඇඳීමට හැකි එම ඇඳුම භාවිතයෙන් ඉවත් කරති. එය සම්පත් අපතේ හැරීමකි. සම්පත්වලින් උපරිම ප්‍රයෝජන නොගෙන අපතේ හැරීම අනාගත පරපුරට හිමි සම්පත් අහිමි කිරීමකි. ඇතැම් අය තම පෞද්ගලික දේපළ මෙන් ම පොදු දේපළ පරිහරණය පිළිබඳ දක්වන සැලකිල්ල ද කනගාටුදායක වේ. අපට නොමිලේ ලැබෙන පොත තවත් සහෝදර ශිෂ්‍යයන්ට වසර කිහිපයක් භාවිත කළ හැකි පරිදි නඩත්තු කරනවා ද යන්න සිතා බැලිය යුත්තකි. පිට කවරය ගැලවුණු විගස එය භාවිතයෙන් ඉවත් කිරීම, කොළ කැඩීම, කුරුටු ගෑම වැනි ක්‍රියා නිසා විශාල සම්පතක් විනාශ වේ. මේ ආකාරයට ම ඇතැම් විට පාසලේ ලී බඩු උපකරණ තරමක් අබලන් වූ විට නැවත පිළිසකර කොට භාවිතයට නොගෙන විනාශ වී යාමට ඉඩ හැර ඇත. පන්තියේ කළුලෑල්ලේ ලිවීමට භාවිත කරන හුණු කැල්ල අවසන් වනතුරු භාවිතයට ගන්නා අවස්ථා දක ගැනීම ඉතාමත් විරල ය. ඒවා කාණුවල, මිදුල්වල විනාශ වී යෑමට ඉඩ හැර ඇත. මේ ආකාරයට සම්පත්වලින් උපරිම ප්‍රතිඵල ලබා නොගෙන විනාශ වීමට ඉඩ හැරීම අපරාධයකි. මේවායෙහි අනිටු විපාකවලට ඉතා ම කෙටි කාලසීමාවක් තුළ දී අපට මුහුණ දීමට සිදුවේ. එයට හේතුව මේ මිහිතලය මත ඇත්තේ සීමාසහිත සම්පත් ප්‍රමාණයක් වීමයි. වැඩි වන ජනගහනයට හා ඔවුනගේ අවශ්‍යතාවලට අනුරූපී ව ඇතැම් සම්පත්වල වැඩි වීමක් සිදු නොවේ. ඒ නිසා සම්පත් අරපරිස්සමින් භාවිතයට ගැනීමට අප හුරු පුරුදු විය යුතු ය.

ඇතැම් අය සියල්ල තමන් සතු කර ගැනීමට උත්සාහ ගන්නා බවක් ද දක්නට ලැබේ. එය ආත්මාර්ථකාමී සිතුවිල්ලකි. මහිච්ඡතාවේ ලක්ෂණයකි. බුදුරදුන් ජීවමාන කාලයේ ද අසීමිත ලෙස සම්පත්වලට ඇලුම් කොට ඒවා ගොඩ ගසා ගැනීමේ කැමැත්තෙන් ක්‍රියා කළ බහු භාණ්ඩික භික්ෂූන් වහන්සේ නමක් පිළිබඳ කතා පුවතක් බණ පොතේ දැක්වේ. උපනන්ද හිමියන් තමනට අවශ්‍ය තරමට වඩා විශාල ලෙස සම්පත් රැස්කර තබාගෙන සිටින බව බුදුරජාණන් වහන්සේට දන ගැනීමට ලැබීමෙන් අනතුරුව එම සම්පත් පොදු පරිහරණයට යොමු කිරීමට උන් වහන්සේ උපදෙස් දුන්හ. භික්ෂු සමාජය තුළ පෞද්ගලික දේපළ අයිතියක් නැත. ඇත්තේ පොදු දේපළ අයිතියකි.

සාංඝික ක්‍රමය ලෙස ශාසන ව්‍යවහාරයේ පවතින්නේ එම ක්‍රමයයි. සම්පත් බෙදා හදාගෙන පරිහරණය කිරීමෙන් සමාජය තුළ සහජීවනය ද දියුණු වෙයි. සාමූහික ව සමගියෙන් ජීවත් වීමට මේ තුළින් අවකාශය ලැබී ඇත.

ධන පරිහරණයේ දී සමජීවිකතාව බෙහෙවින් වැදගත් කරුණකි. එයින් අදහස් කරන්නේ පුද්ගලයකුගේ ආදායමට සරිලන ආකාරයට වියදම් කළ යුතු බවයි. අය - වැය ගැන නොසලකා කටයුතු කළහොත් සම්පත්වලින් නිසි ඵල ලබා ගැනීමට නොහැකි වේ. ඇතැමෙක් උපයන සියල්ල පරිභෝජනය කරති. අනාගතයට ඉතිරි කිරීමක් නොමැත. හදිසි කරදරයක්, විපතක් සිදුවුවහොත් ඉතුරු කර ගත් දෙයක් නොමැති නිසා ඔවුහු දුකට පත්වෙති. උපයන සියල්ල වැය කරන්නන් බුදු දහමේ හඳුන්වා දී ඇත්තේ **උදුම්බරඛාදිකයින්** ලෙසයි. ඇතැමෙක් ගහේ අතු සොලවා උදුම්බර ලබා ගැනීමට උත්සාහ ගනිති. එවිට අවශ්‍ය ප්‍රමාණයටත් වඩා ගෙඩි වැටේ. බොහොමයක් ගෙඩි අපතේ යයි. එය අපරාධයකි; අරපිරිමැස්මට ප්‍රතිවිරුද්ධ ය.

ඇතැම් අය නොකා නොබී ධනය උපයති. ඔවුනගේ මූලික අපේක්ෂාව ධනය ඉපැයීම පමණි. අත්‍යවශ්‍ය දෙයකටවත් ධනය වැය නොකරති. එවැනි පුද්ගලයන්ගෙන් සමාජයට ද කිසිදු සේවාවක් සිදු නොවේ. ඔවුහු අදින්න පුබ්බක වැනි මසුරු සිටුවරුන් ලෙස ක්‍රියා කරති; නොකා නොබී ධනය උපයා තබා මිය යති. එබඳු පුද්ගලයින් **අජද්ධුමාරිකයින්** ලෙස බුදු දහමේ හඳුන්වා ඇත. අජද්ධුමාරිකයා යනු අකාලයේ මිය යන්නා ය.

ඇතැම් අය තමාගේ අය සහ වැය හරියාකාර ව දැන කටයුතු කරති. තරාදියකින් බඩු කිරන්නකු තුලාව සමබර ව පවත්වාගෙන යන්නාක් මෙන් තමාගේ අය වැය සමබර ව පවත්වාගෙන යති. තම ආර්ථිකය නිවැරදි ව කළමනාකරණය කර ගැනීමට ඒ මගින් හැකියාව ලැබේ. ඔවුහු **තුලාධාරික** පුද්ගලයින් ලෙස හැඳින්වෙති. සමජීවිකතාවෙන් යුතු ව ක්‍රියා කරන්නේ මෙම තුලාධාරික පුද්ගලයන් ය.

ධන පරිහරණයට අදාළ තවත් ඉගැන්වීමක් සිගාලෝවාද සූත්‍රයේ දැක්වේ. එමගින් ධනය කොටස් හතරකට බෙදා පරිහරණය කිරීමට උපදෙස් ලබා දෙයි. ඒ අනුව,

$\frac{1}{4}$ පරිභෝජනයට

$\frac{2}{4}$ ආයෝජනයට (තමන් කරන කර්මාන්තවල දියුණුවට යෙදවීම)

$\frac{1}{4}$ ඉතිරි කිරීමට (තමන්ට විපතක් කරදරයක් ඇතිවූ විට ලබා ගැනීමට)

මේ ආකාරයට ලොකු කුඩා සැම අයකු ම පවත්නා වූ සීමිත සම්පත් අරපරිස්සමෙන් සැලසුම් සහගත ව පරිහරණය කිරීමට යොමු විය යුතු ය. එවිට පුද්ගලයාගේ ආර්ථික සංවර්ධනයත් සමාජයේ සංවර්ධනයත් සිදුවන්නේ ය.



**සාරාංශය**

භෞතික ලෝකයේ පවත්නා සීමිත සම්පත් නිසි කළමනාකරණයකින් යුතු ව පරිහරණයට යොමුවීම මගින් අනාගතයේ සම්පත් හිඟවීම නිසා ඇති වන අනේක විධ ගැටලුවලට විසඳුම් බෞද්ධ ඉගැන්වීම් තුළින් සපයා ගත හැකි ය. පෞද්ගලික ව පරිහරණය කරන දේ මෙන් ම පාසලේ දී සමාජයේ දී අප පරිහරණය කරන දේත් අරපරිස්සමින් යුතු ව පරිහරණයට යොමු විය යුතු ය.



## ක්‍රියාකාරකම

1. සම්පත් අරපිරිමැස්මෙන් තොර ව භාවිතයට ගැනීමෙන් ලැබෙන අනිටු විපාක දෙකක් ලියන්න.

2. සමජීවිකතාව යනු කුමක් ද යි ඔබේ වචනයෙන් පැහැදිලි කරන්න.

3. සමජීවිකතාවට පටහැනි වූ පරිභෝජන ක්‍රම දෙක හඳුන්වන්න.



## පැවරුම

පන්ති කාමරයේ දී පරිහරණය කරන දේ උපරිම ලෙස ප්‍රයෝජනයට ගැනීමට ඔබ කරන යෝජනා ලැයිස්තුවක් සකස් කොට විෂය භාර ගුරුතුමාට/තුමියට පෙන්වන්න.



## පුහුණුවට

ඒකේන භෝගේ භුඤ්ජෙය්‍ය
ද්වීහි කම්මං පයෝජයේ
චතුත්ථංච නිධාපෙය්‍ය
ආපදාසු භවිස්සති.




# දෙලෝ වැඩ සාදන පින් කිරියවත්

සිංහලේ දෙවන මහ කව ලෙස සැලකෙන්නේ කාව්‍යශේඛරයයි. එය මහ කිවි තොටගමුවේ සිරි රහල් හිමියන් විසින් කෝට්ටේ යුගයේ දී රචනා කළ අගනා කෘතියකි. බණක් හෙළ කවියෙන් ඇසීම උලකුඩය දේවියගේ කැමැත්ත විය. උලකුඩය දේවිය නම් සවන පැරකුම්බාවන්ගේ දියණියෝ ය. ඇය රහල් හිමියන්ගේ සොයුරියකි. ඇගේ ඇරයුමෙන් කාව්‍යශේඛරය කරවන ලදි. එය වනාහි බණ මගත් කිවි මගත් දෙක ම රකිමින් ලියවුණ පළමු වන සිංහල කවයි. මෙයට වස්තු බීජය වූයේ ජාතක පොතේ එන සත්තුභත්ත ජාතකයයි.

තොටගමුවේ ශ්‍රී රාහුල හිමිපාණන් විසින් රචනා කරන ලද කාව්‍යශේඛරය කිවි පොතක් මෙන් ම බණ පොතක් ද වේ. එහි දොළොස් පින් කිරියවතක් උගන්වා තිබේ. මෙම පාඩමෙහි මූලික අදහස එම දොළොස් පින් කිරියවත් පිළිබඳ ව අවබෝධයක් ලබා ගැනීමයි.

ත්‍රිවිධ පුණ්‍ය ක්‍රියා ද, දස පුණ්‍ය ක්‍රියා ද, දොළොස් පුණ්‍ය ක්‍රියා ද යනුවෙන් පුණ්‍ය ක්‍රියා ත්‍රිවිධ වේ. මෙහි පුණ්‍ය ක්‍රියා නමින් හඳුන්වන්නේ කුමක් ද යි අපි පළමුකොට තේරුම් ගනිමු. පින් හෙවත් පුණ්‍ය යනු දාන සීලාදී යහපත් ක්‍රියාවන් ය. ඒවා සසර යහපත පිණිස ය. ලෞකික වූ ආයුෂ වර්ධනය, සැපය, බලය හා ප්‍රඥාව ද පුණ්‍ය ක්‍රියා හේතුවෙන් සසර උපනූපන් ජාතිවල මිනිසුනට ලැබෙන බව බුදු දහම උගන්වයි. එබැවින් සසර සැප කැමැත්තන් විසින් නැවත නැවතත් පින්කළ යුතු යැයි ද බුදු දහමේ උගන්වා තිබේ. එබඳු පුණ්‍ය ක්‍රියා වස්තු දහයකි.

1. දන් දීම
2. සිල් රැකීම

3. භාවනා කිරීම
4. පින් දීම
5. පින් අනුමෝදන් වීම
6. වතාවත් කිරීම
7. වැඩිහිටියන්ට ගරු බුහුමන් කිරීම
8. ධර්ම දේශනා කිරීම
9. ධර්ම ශ්‍රවණය කිරීම
10. ශ්‍රද්ධාව හා අවබෝධය වැඩෙන ක්‍රියාවන්හි නිරත වීම



අපි දැන් කාව්‍යශේඛරයේ 9 වන සර්ගයේ එන දොළොස් පින් කිරියවත් මෙසේ හඳුනා ගනිමු.

දන් සිල් බාව නා
පින්දෙනු අනුමෝද නා
බණසනු දේස නා
පිදිය යුත්තන් පුදනු සම නා

කරනු ද වතාවත්
පින්කරු ගුණ වැනීමත්
සරණ, සිහි වීමත්
දොළොස් පින් දැන කරව යාපත් **(40-41 කවි)**

මේ කවි දෙකෙන් කියවෙන්නේ,

1. දන් දීම
2. සිල් රැකීම
3. භාවනා කිරීම
4. පින් දීම
5. පින් අනුමෝදන් කිරීම
6. බණ කීම
7. බණ ඇසීම
8. පිදිය යුත්තන් පිදීම
9. වතාවත් කිරීම
10. පින් කරන අයගේ ගුණ වර්ණනා කිරීම
11. සරණ ගත වීම.
12. කළ කුසල් සිහි කිරීම යන පින්කම් දොළොස ගැනයි.

දන් දීම යනු දස වැදෑරුම් වස්තු පූජා කිරීම ය.

බත් පැන් වත් යහන
මල් සුවඳ සහ විලවුන
පහනට තෙල් විමන
මෙලෙස දන්වත් සමග වාහන **(42 කවිය)**

බත්, පැන්, වස්ත්‍ර ඇඳ පුටු මේසාදිය, මල්, සුවඳ, විලේපන ද්‍රව්‍ය, තෙල්, ආවාස පහසුකම් හා වාහන පූජා කිරීම ආදී මේ දහය දාන වස්තු වේ. දානය යනු තමන් සන්තකයේ ඇති දේ පූජා බුද්ධියෙන් හෝ අනුග්‍රහ බුද්ධියෙන් පුජා කිරීමයි, පරිත්‍යාග කිරීමයි.

දන් දුන් දෙය ඉදිරි
පල දෙයි නැණින් පෙර දැරි
දුන් දන් එලොබ ඇරි
ජවන් සිත මේ මෙකී රඟ සරි **(43 කවිය)**

දන් දුන් දෙයෙහි පල විපාක ඉදිරියේ දී ලැබෙන බවට සිත පෙරදැරි කර ගනිමින් මේ ආකාර වූ ප්‍රබල සිතින් යුතු ව දෙන ලද්ද ඒ දානමය කුසලය වේ.

කයින් තෙපුලෙන් වන
පවිනුත් යළි නපුරු වන
පසක් වෙළෙඳාමෙ න
සකා වළකිනු සිලැයි දනගෙන **(44 කවිය)**

කයින් සිදුවන වැරැදි ක්‍රියා තුනෙන් වැළකීම (සම්මා කම්මන්ත) වචනයෙන් සිදුවන වැරැදි ක්‍රියා සතරින් වැළකීම (සම්මා වාචා) නොකළ යුතු වෙළෙඳාම් පසෙන් වැළකීම (සම්මා ආජීව) සීලය නම් වේ.

සිත කිලුටු කර නා
රාගාදි පව් මඬ නා
සිතිවිලි බාව නා
දෙකෙකි විදසුන් සමත විසිනා **(45 කවිය)**

සිත කිලුටු කරවන රාගාදී පව් මඬින නොහොත් මර්දනය කරන සිතිවිලි භාවනා නම් වේ. ඒවා විදර්ශනා හා සමථ වශයෙන් දෙකකි.

මෙයින් පරලොව පත්
උදෙසා එබඳු පේසත්
දෙනු නිසි අහර වත්
දනෙහි අනුසස් වේ ය පින් පෙත් **(46 කවිය)**

මෙලොවින් පරලොව ගිය ප්‍රේත ආදි සත්ත්වයන් උදෙසා දෙනු ලබන නිසි ආහාර වස්ත්‍ර දානයන්හි ආනිශංස පිංපෙත් නම් වේ.

නො කැමැති මසුරු දොස්
දුරලා වෙමින් සිත තොස්
අනුන් දුන් පින් රැස්
ගැනුම් අනුමෝදනය සොඳ ලෙස් **(47 කවිය)**

නොකැමැතිකම් මසුරුකම් ඉවත් කර සිත සතුටින් යුතු ව අනුන් විසින් දෙනු ලබන පින් රැස හොඳින් ගැනීම අනුමෝදනයයි.

නො හැඟ පුද ලබ යසස
හිත අදහසින් මුනි බස
අන් හට මොක් පිණිස
කියනු දේසනි මහත් අනුසස **(48 කවිය)**

පූජාවක් හෝ කීර්තියක් ලැබීමේ අදහසින් තොර ව මෝක්ෂය සඳහා ම මුනිඳු දෙසුම් අනුන් හට දේශනා කිරීම මහත් ආනිශංස දායක දේශනා කුසලයයි.

මෙ බණ ම ඇසූ කල
ඇතැයි සිතමින් පින් පල
එකඟ ව මුනි තෙපල
අසනු බණසන කුසල මනකල **(49 කවිය)**

මේ බණ පමණක් ඇසීමෙන් වුව ද ලබන පින් මහත් ඵලයයි සිතා බුදුරජාණන් වහන්සේගේ ධර්මය ශ්‍රවණය කිරීම බණ ඇසීමේ කුසලයයි.

ගුණයෙන් පසු නොබට
මුනිවර කුල දෙටුන් හට
වැඳුම් ඈ නිසි කොට
කරනු පුද වේ මනා දෙලොවට **(50 කවිය)**

ගුණවත්කමින් යුතු යතිවරුන්ට සහ කුල පරම්පරාවේ වැඩිහිටි අයට වැඳුම් ආදිය නිසියාකාර ව කිරීම දෙලොවට ම හොඳ වූ අපචායනය කුසලය වේ.

පින් කිරියෙහි නොහොත්
ගිලන් ගුණවත් හට වත්
කරනු මෙහෙ යහපත්
වතාවත් නම් වෙතී තෙපලත් **(51 කවිය)**

පුණ්‍ය ක්‍රියාවන්හිදීත්, ගිලන් ගුණවත් අය හටත් යහපත් මෙහෙවර කිරීම වතාවත් බව පැවසේ.

සතහට පින් කරන
සතුටු වීරිය වඩවන
ඔවුන් ගුණ පවසන
කලට පැසසුම් කුසලි දස වන **(52 කවිය)**

පින් කරන සත්ජනයාගේ සතුට හා වීර්‍යය වැඩි කරවන, ඔවුන්ගේ ගුණ පවසා ප්‍රශංසා කිරීම දස වන කුසලයයි.

පහවූ කෙලෙස් රණ
ලොවැ, දුරු නැණ කුලුණු ගුණ
සලකා කැර සරණ
ගැනුම් මෙ සරණ කුසලි රජ මෙන **(53 කවිය)**

ලෝකයට ගුරු වූ බුදුරජාණන් වහන්සේගේ ප්‍රහීණ කළ කෙලෙස් ඇති බව ද, කරුණා ගුණය හා ඥානය ද සලකා බුදුසරණ යාම, රාජ්‍යයක් හෝ රජු හෝ සමාන සරණ කුසල නම් වේ.

දන් සිල් ඈ කුසල්
අනුසස් විසින් හැම කල්
සඳහන් වනු විමල්
සිතින් සිහිහම් කුසලි මනකල් **(54 කවිය)**

දාන සීලාදි ක්‍රියාවන්හි ආනිශංස හැමවිට ම පිරිසිදු සිතින් සිහි කිරීම අනුස්සති කුසලය වන්නේ ය.

කළ මේ පින් දොළොස
අත් පත් සිත් රුවන් ලෙස
පැතූ යම් අදහස
ලෙසට සගමොක් යනු සැබෑ බස **(55 කවිය)**

මෙම පින්කම් නොහොත් පුණ්‍ය කර්ම දොළොස කිරීමෙන් චින්තා මාණික්‍යක් ලැබුණ ලෙස පැතූ අදහස් අනුව දෙලොවට ම හා නිවනට යන්නේ යයි කීම සත්‍ය වචනයකි.



## සාරාංශය

පුණ්‍ය ක්‍රියා පිළිබඳ සඳහන් කිරීමේ දී ත්‍රිවිධ පුණ්‍ය ක්‍රියා, දස පුණ්‍ය ක්‍රියා සහ දොළොස් පුණ්‍ය ක්‍රියා යනුවෙන් ආකාර කිහිපයකට දක්වා ඇත. ෂඩ්භාෂා පරමේශ්වර තොටගමුවේ ශ්‍රී රාහුල මාහිමිපාණන් වහන්සේ විසින් උලකුඩය දේවියගේ ඉල්ලීම පරිදි රචනා කරන ලද කාව්‍යශේඛරයේ නව වන සර්ගයේ මේ දොළොස් පින් කිරියවත් ගැන සඳහන් වේ. මේ පින් කිරියවත් අනුගමනය කිරීමෙන් ස්වර්ග මෝක්ෂ ප්‍රතිලාභය ලබා ගත හැකි බව අවබෝධ කර ගත හැකි ය.



## ක්‍රියාකාරකම

1. කාව්‍යශේඛරයේ සඳහන් දොළොස් පින්කිරියවත් පිළිවෙළින් නම් කරන්න.
2. මෙහි සඳහන් දාන වස්තු දහය පිළිවෙළින් ලියන්න.
3. පාසලේ වෙසක් උත්සවය මුල් කරගෙන මේ දොළොස් පින් කිරියවත් අතරින් සිදු කළ හැකි පුණ්‍ය ක්‍රියා පිළිබඳ පත්‍රිකාවක් සකසන්න.



## පුහුණුවට

වැනුවා නම් බුදු ගුණ වැනුවා ම ය
තැනුවා නම් තම සිත තැනුවා ම ය
දෙනුවා නම් දන් පින් දෙනුවා ම ය
දිනුවා නම් පරලොව දිනුවා ම ය

දැනුම සඳහා

1. සමනා - භික්ෂූන් වහන්සේලා
2. වතාවත් - අවශ්‍ය සේවා සැපයීම
3. දන්වත් - දන් පිණිස දෙන දෑ
4. යහන - ඇඳ පුටු මේස ආදිය
5. ලොබ ඇරි - ලෝභය හැර
6. පසක් වෙළෙඳාමෙන - නොකළ යුතු වෙළෙඳාම් පහ
7. පේසත් - ප්‍රේත ලෝකයෙහි ඉපදුණු අය
8. මුනි තෙපල - බුද්ධ ධර්මය
9. කුල දෙටුවන් - පරම්පරාවේ වැඩිහිටි අය
10. කුසලී - කුසලයකි
11. විමල් - පිරිසිදු
12. සගමොක් - දිව්‍ය මානුෂික සම්පත් හා නිවන
13. සිත් රුවන - සිතූ පැතූ සම්පත් දෙන මැණික
14. සැබෑ බස - සත්‍ය ම වචන